# පහන් කණුව ධර්ම දේශනා



## 1 - වෙළුම

කටුකුරුන්දේ ඤාණනන්ද භික්ෂු

# පහන් කණුව
# ධර්ම දේශනා

*පළමුවන වෙළුම (සිවුවන මුද්‍රණය)*

**කටුකුරුන්දේ ඤාණනන්ද භික්ෂු**

පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහන් කණුව'
කන්දේගෙදර, දේවාලේගම

ප්‍රකාශනය
ධර්මග්‍රන්ථ මුද්‍රණාගාරය
මහාභාරකාර දෙපාර්තමේන්තුව
2001

ධම්මදානයකි

මුදලට විකිණීම සපුරා තහනම් වෙයි.


ප්‍රථම මුද්‍රණය - 1999 පෙබරවාරි
දෙවන මුද්‍රණය - 2000 ජනවාරි
තෙවන මුද්‍රණය - 2001 අප්‍රේල්
සිවුවන මුද්‍රණය - 2002 ඔක්තෝබර්


## පොත ලබාගත හැකි ස්ථාන

1. පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහන් කණුව' කන්දේගෙදර, දේවාලේගම.

2. ජී. ටී. බණ්ඩාර මහතා
රෝයල් ඉන්ස්ටිටියුට්,
191, හැව්ලොක් පාර,
කොළඹ 5.

3. ඩී.ටී. වේරගල මහතා
422, වැලිපාර, තලවතුගොඩ
(දු.ක. 01-867221)

4. 'පියමෙත් සිල් සෙවන'
විලේකුඹුර, මීසිරිගල

5. මහා භාරකාර දෙපාර්තමේන්තුව
2, බුලර්ස් පටුමග,
කොළඹ 07.


මුද්‍රණය

කොලිටි ප්‍රින්ටර්ස්
17/2, පැගිරිවත්ත පාර, ගංගොඩවිල,
නුගේගොඩ.
දුරකතනය: 074-302312

'සබ්බපාපස්ස අකරණං
කුසලස්ස උපසම්පදා
සචිත්ත පරියෝදපනං
එතං බුද්ධානසාසනං'

බුද්ධවග්ග, ධම්මපද



හැම පවින් වැළැකුම
කුසල් වෙතටම එළැඹුම
සිත පිරිසිදු කැරුම
සත්‍ය මෙයමැයි හැම බුදුන්ගෙම

# පටුන

# හැඳින්වීම

දහම් දන හැමදන්ම පරදයි
දහම්රස හැම රසම පරදයි
දම් ඇලුම හැම ඇලුම් පරදයි
තිවන් සුව හැමදුක්ම පරදයි

අනුත්තර ධර්මරාජයාණන් වහන්සේගේ ධර්මවිජයට අරමුණුවූයේ දෙවි මිනිසුන්ගේ චිත්ත සන්තානයයි. අනාදිමත් කාලයක් තුළ මෝහයෙන් මුළාවී සසර දුක් ගින්නෙන් දැවෙමින් සිටින ලෝ සතුන්ගේ සිත් සතන් දහම් අමා දහරින් සිසිල් කර අමා මහ නිවනින් නිවා සුවපත් කිරීම ඒ මහා කාරුණිකයාණන් වහන්සේගේ ධර්මවිජය පරමාර්ථය විය. දුක් ගිනි වඩන දිග්විජය වෙනුවට දුක් ගිනි නිවන ධර්මවිජයක් බුදුපියාණන් වහන්සේ ලෝකයාට හඳුන්වා දුන්හ.

ධර්මදානය අන් හැම දානයකටම වඩා උතුම් වන්නේ සිතකට වැටෙන දහම් පදයකින් පූර්ණ ජීවිත පරිවර්තනයක් පවා සිදුවිය හැකි බැවිනි. බාහිර වස්තු දානයෙන් සැලසෙන තාවකාලික සහනය මෙන් නොව, එය සනාතන සැනසුමකට මග හෙළිකරයි. මොහාතකට දිවගට දැනී-නොදැනී යන ආමිස රසය මෙන් නොව, නිරාමිස දහම් රසය අසහනය දුරුකොට සිත් සනහන ගැඹුරු අර්ථ රසයකි. සසර වඩන ගේහසිත ඇලුම් මෙන් නොව, ලොවුතුරු දහමට ඇති ඇල්ම සසර ගමන කෙටිකරයි. තණ්හා පිපාසය සන්හිඳුවන අමා මහ නිවන සියලු සසර දුක් නිවාරණය කරයි.

'නිවනේ නිවීම' පොත් පෙළෙන්* අප දියත් කළ ධර්මදාන වැඩ පිළිවෙළෙහි දෙවැනි අදියර වශයෙන් මේ 'පහන් කණුව ධර්ම දේශනා' පොත් පෙළ එළි දකී. මීතිරිගල නිස්සරණ වන සෙනසුනෙහි යෝගාවචර සඟපිරිස හමුවේ අප විසින් දේශනා කරන්නට යෙදුන දෙසුම් 33 ක් රැගත් යටකී පොත් පෙළට වඩා සරල අන්දමින්. ජන ජීවිතයේ එදිනෙදා ගැටළුවලට එල්ල කොට දෙසන ලද බැවින් මෙම ධර්මදේශනා මාලාව බොහෝ දෙනෙකුට වැඩදායක වනු ඇතැයි සිතමු. සසරදුක් ලියලවන විවිධ විෂම දෘෂ්ටි මතවාදයන්ගෙන් ගැවසීගත් පොත් පත් සහරා 'සහරාවක' අතරමංව සිටින

---

* වෙළුම් 11කින් යුත් මේ පොත් පෙළෙහි වෙළුම් 9 ක් මේ වන විට නිකුත් වී ඇත.

වස්මන් පාඨක සමාජයට මේ තුළින් ලොවුතුරු මහට යම් 'තරු සළකුණක්' හෝ ලැබෙතොත් අප දැරූ උත්සාහය සඵල වූ ලෙස සළකමු.

'ආනුපුබ්බී කථා' නම් වූ අනුපිළිවෙළ කථාමාර්ගයක් අනුගමනය කරමින් දහම් දෙසූ බුදු පියාණෝ එවැනිම 'අනුපිළිවෙළ කථාවක්' ධර්මදේශකයින්ට අනුදැන වදාළහ. දාන කථාව, සීල කථාව, සග්ග කථාව, කාමයන්ගේ ආදීනව හා නෙක්ඛම්මයෙහි ආනිසංස ඒ අනුපිළිවෙළ කථාවට අයත්වේ. ඒ සියල්ල තුළින් සකස් වූ, මෘදුවූ, පුබුදුවූ, පහන්වූ සිතට චතුරාර්යසත්‍ය දේශනාව මැනවින් විෂය වේ. දේශනා විලාස වශයෙන් සළකන කල, බුද්ධ දේශනාවෙහි ඉස්මතුව පෙනෙන ආදර්ශවත් අංග සතරක්ද ඇත. එනම්, උපමා, නිදර්ශන, ආදියෙන් ධර්ම කරුණු සන්දර්ශනය කිරීම ('සන්දස්සෙති') සිත් කාවදින අන්දමින් එත්තු ගන්වාලීම (සමාදපෙති) ඒවා ප්‍රතිපත්තියට නැංවීමෙහිලා උත්සාහවත් කිරීම (සමුත්තෙජෙති) සහ අසන්නන්ගේ සිත්සතන් ප්‍රසාදයට පත්කිරීමයි (සම්පහංසෙති).

ධර්මපදයෙන් තෝරාගත් ගාථා මාතෘකා කොටගෙන පැවැත්වෙන මෙම දෙසුම් පෙළෙහිදීද හැකිතාක් දුරට ඉහත සඳහන් මූලධර්ම අනුගමනය කිරීමට තැත් දැරුවෙමු. බුද්ධෝත්පාද කාලයක ලැබිය හැකි අග්‍රඵලය වන අර්හත් ඵලයෙන්ම දේශනාවක් කුළුගැන්වීමට උනන්දු වීමු. වෙනත් සුලභ ලෞකික පරමාර්ථ තුළ අසන්නන් සිරකොට නොතබා, බුදුපියාණන් වහන්සේ වදාළ අප්‍රමාද පදය සිහිගන්වමින් සංසාර විමුක්තිය දෙසටම ඔවුන් යොමු කරවීම අපගේ පරම අධ්‍යාශය විය. 'පහන් කණුවෙන්' විහිදෙන මෙම ධර්මාලෝකයෙන් ලෝකයාට නිවන් මග හෙළි පෙහෙළි වේවා!

මෙම 'පහන් කණුව ධර්මදේශනා' පොත් පෙළද, 'නිවනේ නිවීම' දෙසුම් පෙළ එළිදැක්වීම උදෙසා කොළඹ හැව්ලොක් පාරේ 'රෝයල් ඉන්ස්ටිටියුට්හි' පින්වත් ජී.ටී. බණ්ඩාර මහතා විසින් මහාභාරකාර දෙපාර්තමේන්තුවේ පිහිටුවන ලද 'ධර්ම ග්‍රන්ථ මුද්‍රණභාරය' මගින් මුද්‍රණය කරවීමට මහාභාරකාර තැන්පත් යූ. මාපා මහතා තීරණය කිරීම අපට මහත් ධෛර්යයක් විය. අමිලවූ ධර්මය මිල කිරීමකින් නොපිරිහෙළා පාඨකයින් අතට පත්කිරීමේ අප ප්‍රතිපත්තියට දිරිදෙන ඒ පින්වත් මහතුන් දෙපොළටත්, මේ සත්කාර්යයට සහාය දීමට මෙතෙක් ඉදිරිපත්වූ පරිත්‍යාගශීලී හැම පින්වතුන්ටත්. පටිගත කළ 'පහන් කණුව' දෙසුම් පිටපත් කරදීමේ කාර්යයට සහාය වන පින්වත් ජී.එස්.වයි. අබේවර්ධන මහතාට සහ අනුලා හිඳගොඩ, එම්. නාගහවත්ත, ජයන්ති රණවීර යන මහත්මීන්ටත්, දෙන දේ පිරිසිදුව දීමට ශෝභන ලෙස මුද්‍රණ කටයුතු නිම කරන, සීමාසහිත කරුණාරත්න සහ පුත්‍ර සමාගමේ

අධ්‍යක්ෂක මහතුන්ට හා කාර්‍ය මණ්ඩලයටත් අපගේ පුණ්‍යානුමෝදනාව හිමිවේ. ඒ හැම දෙනාටම මෙම ධර්මදානමය කුශලය පරම ශාන්ත නිර්වාණාවබෝධය පිණිසම හේතුවාසනා වේවායි පතමු.

'චිරං තිට්ඨතු ලොකස්මිං - සම්මාසම්බුද්ධ සාසනං'

මෙයට

සසුන් ලැදි,

**කටුකුරුන්දේ ඤාණනන්ද භික්ෂු**

පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහන් කණුව'
කන්දේගෙදර
දේවාලේගම
(2542) 1999 පෙබරවාරි 12

# ප්‍රකාශක නිවේදනය

අති පූජ්‍ය ඤාණනන්ද ස්වාමීන්ද්‍රයන් වහන්සේගේ "නිවනේ නිවීම" දේශන මුද්‍රණය කොට, ඒ පිළිබඳව උනන්දුවක් දක්වන බැතිමත් බෞද්ධ සැදැහැවතුන් අතට පත්කිරීමේ මූලික අදහස අපතුළ ඇතිවීමුත්, එම මුද්‍රණය සඳහා වැයවන මුදල උපයා ගැනීම ප්‍රශ්ණයක් විය. මෙය විසඳීම පිණිස, අප කිහිපදෙනෙක් යෝජනා කොට සිටියේ ඒ සඳහා වැයවන මුද්‍රණ වියදම පමණක් අයකර ගැනීම පිණිස පොතක් සඳහා කිසියම් අනුපාතික විකුණුම් මිළක් නියම කිරීමයි. අපගේ මෙම යෝජනාව ගරු ඤාණනන්ද ස්වාමීන්වහන්සේ එකහෙළා ප්‍රතික්ෂේප කළහ. "ධර්මය මිළ කරන්න බැහැ. එය අවශ්‍ය අයහට නොමිළයේ ලබාගැනීමට හැකි විය යුතුයි...." යනුවෙන් උන්වහන්සේ මෙම වටිනා දහම් පොත "විකිණීම" කෙරෙහි අප අධෛර්යවත් කළහ.

එබැවින්, උන්වහන්සේ අදහස් කළ පරිදි "නිවනේ නිවීම" දේශනා මාලාව මුද්‍රණය කොට නොමිළයේ බෙදාදීමේ ක්‍රියා පිළිවෙළෙහි ආරම්භයක් වශයෙන් ජී.ටී. බණ්ඩාර මහතා විසින් මහාභාරකාර දෙපාර්තමේන්තුවේ 'ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය' නමින් අරමුදලක් ආරම්භ කරනු ලැබීය. "නිවනේ නිවීම" පළමුවන වෙළුම සඳහා මුද්‍රණ වියදම තනිවම ඒ මහතා විසින් දරණ ලදී. එතැන් පටන්, මේ වන විට මුද්‍රණයෙන් එළිදක්වා ඇති 2, 3, 4, 5, 6, 7 කාණ්ඩ මුද්‍රණය කිරීම සඳහා බලාපොරොත්තුවූවාටත් වඩා ලත් අනුග්‍රහය ධර්ම ප්‍රාතිහාර්යයක් ලෙස සැළකිය හැකිය.

එසේ ආරම්භ කරන ලද "ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාර අරමුදල" මගින්ම "පහන් කණුව ධර්ම දේශනා" මාලාව ද මුද්‍රණය කොට නොමිළයේ බෙදා දෙමින් සිදු කෙරෙන ශාසනික මෙහෙවරට අපහට නිල වශයෙන් හෝ දායකවීමට හැකිවීම ඉමහත් කුසලයකි.

මෙම උතුම් ධර්මදාන ක්‍රියාවලියට දායකවීමට කැමති භවතුන්හට තම පුණ්‍යාධාර "ශ්‍රී ලංකාවේ මහා භාරකාර තැන" නමින් චෙක්පත් හෝ මුදල් ඇණවුම් (මුදල් ඇණවුම් නම් ටොරින්ටන් චතුරශ්‍රය උප තැපැල් කාර්යාලයෙන් මාරුකරගත හැකි පරිදි) මගින් ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාර අරමුදලට බැර කිරීම පිණිස පහත සඳහන් ලිපිනයට* එවිය හැකි බැව් කරුණාවෙන් දන්වා සිටිනු කැමැත්තෙමි.

පූ.මා.පා
ශ්‍රී ලංකාවේ මහා භාරකාර තැන

මහා භාරකාර දෙපාර්තමේන්තුව
තැ.පෙ. 548,
2, බුලර්ස් පටුමග. කොළඹ 07.
1999 පෙබරවාරි 12

* ජී.ටී. බණ්ඩාර මහතා
ස්ථාපක
ධර්මග්‍රන්ථ මුද්‍රණ භාරය,
රෝයල් ඉන්ස්ටිටියුට්,
191, හැව්ලොක් පාර, කොළඹ 5.

# ධම් ග්‍රන්ථ මුද්‍රණ භාරය

ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය මගින් පළ කරනු ලබන "නිවනේ නිවීම" පොත් පෙළෙහි සයවැනි වෙළුම දක්වා මුද්‍රණය කිරීමේ සම්බන්ධීකරණය මැතක් වනතුරු කරන ලද්දේ ශ්‍රී ලංකාවේ මහාභාරකාර තනතුර දැරූ යූ. මාපා මහතා විසිනි. ඉතා ගැඹුරු ධර්ම කරුණු සහිත එම වටිනා දහම් පොත් පෙල එළි දැක්වීමට හැකිවූයේ ඒ මහතාගේ අප්‍රතිහත ධෛර්යය නිසාමය.

මෙම පොත් පෙලෙහි හත්වැනි වෙළුම මුද්‍රණයට සකස් වෙමින් තිබෙන අවස්ථාවේදී මාපා මහතාට ශ්‍රී ලංකා ජනරජයේ තානාපති ලෙස මියන්මාර් (බුරුමය) දේශයට යෑමට සිදුවිය. ථෙරවාදී බුදු දහම නිර්මලව පවතින එවැනි දේශයකට පත් වී යෑම හුදෙක් ඒ මහතාගේ ශාසනික සේවයේ තවත් පියවරක් ලෙස දකිමු.

මාපා මහතා විසින් එසේ නික්ම යාමට පෙර, "නිවනේ නිවීම" සෙසු කාණ්ඩ මුද්‍රණය කිරීමේ කටයුතු කිසිදු බාධාවකින් තොරව කරගෙන යාම පිණිස, අති පූජ්‍ය කටුකුරුන්දේ ඤාණනන්ද ස්වාමීන් වහන්සේගේ මෙම දේශනවල අගය දන්නා අප කීපදෙනෙක් මහාභාරකාර කාර්යාලය වෙත කැඳවා, ඒ පිළිබඳව වැඩ පිළිවෙලක් සකස් කරන ලදී. එම ක්‍රියා පිළිවෙල අනුව "නිවනේ නිවීම" දේශනා මාලාව සහ ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය මගින් පළකරනු ලබන "පහන් කණුව ධම් දේශනා" ග්‍රන්ථ එපරිද්දෙන්ම ඉදිරියේදී පළකෙරෙනු ඇත.

මෙම උතුම් ශාසනික සේවය ඉටු කිරීමට මාහට එම භාරයේ ස්ථාපක වශයෙන් මෙතැන් සිට වගකීම පැවරී තිබේ. එම මහඟු කාර්යය ඉෂ්ට කරගැනීම පිණිස ඒ පිළිබඳව උනන්දුවක් දක්වන සියලුම බැතිමත් දායක දායිකාවන්ගේ අනුග්‍රහය අපි බලාපොරොත්තු වෙමු.

මෙම ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරයට එවනු ලබන ආධාර ශ්‍රී ලංකාවේ මහා භාරකාරතැන නමින් පහත සඳහන් ලිපිනයට එවිය හැක.

ජී.ටී. බණ්ඩාර,
ස්ථාපක,
ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය

1999 ඔක්තෝබර් 25 වැනි දින.
රෝයල් ඉන්ස්ටිටියුට්,
191, හැව්ලොක් පාර,
කොළඹ 5.

# අමා ගඟ

මහවැලි ගඟ උතුරට හැරවීමෙන් පසු එතෙක් නිසරු මුඩු බිම් ලෙස පැවති පෙදෙස්වල සිදුවූයේ ඉමහත් වෙනසෙකි. පිපාසයට පැන්බිඳක් නොලබා සිටි ගොවීහු පෙදෙස පුරා නිහඬව ගලා යන සිසිල් දිය දහරින් පිනා ගියහ. මැලවුනු ගොයම සරුව නිල්වන්ව කරලින් බර විය. මල් පලින් ගැවසීගත් තුරු-ලිය බලා සැනසෙන පෙදෙස් වැසියෝ තුටු කඳුළු වගුළහ.

දහම් අමා ගඟ "උතුරට" හැරවීමේ වැඩ පිළිවෙළක් මෙයට කෙවසරකට පෙර ඇරඹුණි. දහම් පත-පොත සබා "එදා-වේල" සඳහා වත් විය පැහැදම් කිරීමට වත්-කමක් නැත්තෝ, නිහඬව නොමිලයේ ගලායන අමිල දහම් අමා දිය දහරින් සදහම් පිපාසය සන්සිඳුවා ගත්හ. අරිටු මිසදිටු හැර, සැදැහැයෙන් සරුව, ගුණ නුවණින් බරව පිළිවෙත් මහට නැමී ගත්හ. ලොවී - ලොවුතුරු මල් පල නෙලා ගනිමින් හද පුරා පිරි බැතියෙන් නන් අයුරින් සොම්නස පළකළහ.

"ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය" නමින් දියත් කළ මෙම ධර්මදාන වැඩපිළිවෙල සඳහා අපගෙන් වැයවුනේ පිරිසිදු ධර්මදාන සංකල්පය පමණි. අමාගඟ "උතුරට" හැරවූවෝ සසුන් ගුණ හඳුනන පරිත්‍යාගශීලී සැදැහැවත්හුමය. "නිවනේ නිවීම" පොත් පෙළ එළි දැක්වීමෙන් නොනැවති "පහන් කණුව ධර්මදේශනා" පොත් පෙළෙහි "බර පැන" ඇරීමටත්, දෙස් - විදෙස්වල දහම් පිපාසිතයින් උදෙසා අප අතින් ලියැවෙන අනිකුත් පොත - පත ඒ අයුරින්ම එළි දැක්වීමටත් ඔවුහු උත්සුක වූහ. "දෙන දේ පිරිසිදුවම දීමේ" අදහසින් අමිල වූ දහම ඊට නිසි ශෝභන මුද්‍රණයකින්ම ධර්මකාමීන් අතට පත් කිරීමට පියවර ගත්හ. මුද්‍රිත පිටපත් සංඛ්‍යාව අවසන්වනු හා සමගම "නැවත මුද්‍රණ" පළකිරීමෙන් දහම් අමා ගඟ වියළී යා නොදීමට දැඩි අදිටනකින් ඇප කැපවූහ.

"පොත් අලෙවිය" පිළිබඳව මෙකල බහුලව දක්නට ලැබෙන වාණිජ සංකල්පයට පිටුපා, කහංචිවලින් තොරව, තමන් අතට නොමිලයේම පත් කැරෙන "දහම් පඬුර" තුළින් ධර්මදාන සංකල්පයෙහි අගය වටහා ගත් බොහෝ පාඨක පින්වත්හු තමන් ලද රස අහරක්, නෑ-හිතවතුන් සමග බෙදා-හදා ගන්නාක් මෙන් නොමසුරුව අන් දහම් ලැදියනටද දී ධර්ම දානයට සහභාගී වූහ. ඉනුදු නොනැවතී, ශක්ති පමණින් "ධර්ම ග්‍රන්ථ මුද්‍රණභාරයට" උරදීමටද ඉදිරිපත්වූහ, ඇතැමෙක් ලොකු කුඩා දහම් පොත්

මුද්‍රණය කරවීමේ හා නැවත-නැවත මුද්‍රණය කරවීමේ බරපැන ඉසිලීමට පවා පසුබට නොවූහ.

සම්බුදු සසුන මේ ලක් පොළොවෙහි පවතින තාක් මේ දහම් අමාගඟ ලෝ සතුන් සිත් සනහමින් නොසිඳී ගලා යේවා යනු අපගේ පැතුමයි.

"සබ්බදානං ධම්මදානං ජිනාති"

මෙයට,

සසුන් ලැදි
කටුකුරුන්දේ ඤාණනන්ද භික්ෂු

පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහන් කැණුව'
කන්දේගෙදර, දේවාලේගම
2000 ජූනි 05 (2544 පොසොන්)

# 1 වන දේශනය

"නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස"

තණ්හාය ජායතී සොකො
තණ්හාය ජායතී භයං
තණ්හාය විප්පමුත්තස්ස
නත්ථි සොකො කුතො භයං'
--පිය වග්ග, ධ.ප.

සැදැහැවත් පින්වත්නි,

අද පොසොන් පොහෝ දවසයි. අපේ මේ දිවයිනට බුද්ධ ශාසනය ලැබුණු දවස හැටියට පොසොන් පොහොය දවස අපට වටිනා දවසක් වෙනව. බුද්ධ ශාසනය කියල කියන්නෙ බුදුපියාණන් වහන්සේගේ දහම් පණිවිඩයයි, නිවන් පණිවිඩයයි. මේ දහම් පණිවිඩය-නිවන් පණිවිඩය මිහිඳු මහරහතන් වහන්සේ මිහින්තලා පව්වට වැඩම කරල සඟ පිරිසකුත් සමග, දෙවනපෑතිස් රජතුමාට ඒ දහම් පණිවිඩය දීමට 'තිස්ස, තිස්ස' යනුවෙන් ආමන්ත්‍රණය කළ බව සඳහන් වෙනව. එහෙම ඒ මුව දඩයමේ යෙදී සිටි-අධර්ම වැඩක යෙදී සිටි - රජතුමාගේ අවධානය ඒ විදියට ධර්මයට යොමු කරල මිහිඳු මහරහතන් වහන්සේ බුදුරජාණන් වහන්සේගේ ධර්ම පණිවිඩය-නිවන් පණිවිඩය-ක්‍රමානුකූලව මේ දිවයිනට ලබාදුන්න. බුදු රජාණන් වහන්සේ කළෙත් මෙන්න මේ විදියට ධර්ම පණිවිඩය, ධර්මාවබෝධය කරන්න ශක්තිය තියෙන පුද්ගලයින් හොයාගෙන ගිහිල්ල, ඉතාමත්ම දුගී තත්වයේ සිටි කෙනෙකුන් පවා ධර්මදානය-ධර්මාවබෝධය-ලබාගැනීමට සමත් නම් එබඳු අය ළඟට පවා වැඩමකරල. මේ බුද්ධ ශාසනය-ඒ කියන්නෙ ධර්ම පණිවිඩය, නිවන් පණිවිඩය, ඒ අයට දී වදාළ. දැන් අපි මාතෘකා කළ ගාථා ධර්මයට අදාළ නිදාන කථාවේ තියෙන්නෙත් බුදු පියාණන් වහන්සේ එක්තරා දුගී බ්‍රාහ්මණයෙක් ළඟට බුද්ධ ශාසනය අරගෙන ගිය ආකාරයයි.

බුදු පියාණන් වහන්සේ ජේතවනාරාමයෙ වැඩ වාසය කරන අවස්ථාවක එක්තරා මිථ්‍යාදෘෂ්ටික බ්‍රාහ්මණයෙක් ගඟක් අසල කෙතකට බිමක් සුද්ධ

කරනව. ඒ අවස්ථාවෙ බුදුපියාණන් වහන්සේ එතනට වැඩම කළා. මේ බ්‍රාහ්මණයා මිථ්‍යාදෘෂ්ටික කෙනෙක් නිසා ඇතදීම බුදුපියාණන් වහන්සෙ දැකලත් නොදැක්ක වගේ තමන්ගෙ වැඩේ යෙදිල හිටිය. නමුත් බුදුපියාණන් වහන්සේ ළඟටම වැඩම කරල ඇහුව, 'බ්‍රාහ්මණය, මොකද මේ කරන්නේ?' කියල. බ්‍රාහ්මණය පිළිතුරු දෙනව, 'භවත් ගෞතමය, මම කෙතක් සුද්ධ කරනව' කියල. කථාව එච්චරයි. බුදුපියාණන් වහන්සෙ ආපසු වැඩම කළා. නැවත දවසක් මේ බ්‍රාහ්මණය කෙතේ සී සානව. එදත් බුදුපියාණන් වහන්සෙ එතනට වැඩම කළා. වැඩම කරල ඇහුව. 'බ්‍රාහ්මණය මොකද කරන්නේ? කියල. 'භවත් ගෞතමය, මම සී සානව'. බුදුපියාණන් වහන්සේ ආපසු වැඩම කළා. ඒ මනුස්සය තමන්ගේ වැඩේ යෙදුන. ඊළඟට බ්‍රාහ්මණය නැවත දවසක වපුරනව ඒ තමන්ගෙ කුඹුරෙ. එදත් බුදුපියාණන් වහන්සේ එතනට වැඩම කළා. "බ්‍රාහ්මණය, මොකක්ද කරන්නේ"? භවත් ගෞතමය, මම වපුරනව'. එතනිනුත් කථාව ඉවරයි. බුදුපියාණන් වහන්සේ ආපසු වැඩම කළා. දැන් කෙතේ අස්වැන්න හැදීගෙන එනව. බ්‍රාහ්මණය දවසක් කෙතේ වල් නෙලනව. ඒ අවස්ථාවෙත් බුදුපියාණන් වහන්සේ එතනට වැඩම කරල අහනව, "බ්‍රාහ්මණය මේ මොකද කරන්නෙ'? කියල. "මම මේ වල් නෙලනවනෙ, භවත් ගෞතමය'. ඊළඟට කෙත රකින අවස්ථාවත් ආවා. දැන් ගොයම පැහීගෙන එනව. ඒ අවස්ථාවෙදිත් බුදුපියාණන් වහන්සේ වැඩම කළා. 'මොකද බ්‍රාහ්මණය කරන්නේ? 'මම මේ කෙත රකිනව'. ඒක නොවෙයි, මේ භවත් ගෞතමය, ඔබ මා ළඟට නිතර නිතර එනව. ඔබ මගෙ මිත්‍රයෙක් වෙන්ට ඕන. අද ඉඳල මගේ මිත්‍රයෙක් හැටියට මම පිළිගන්නව. මේ කුඹුරෙ අස්වැන්න පැහුනාම කොටසක් භවත් ගෞතමයින්ට නොදී මම අනුභව කරන්නෙ නෑ', කියල ප්‍රතිඥාවකුත් දුන්න. බුදුපියාණන් වහන්සේත් ආපසු වැඩම කළා.

දැන් ගොයම පැහිල. හෙට වෙනි දවසෙ අස්වැන්න කපාගන්න ලොකු බලාපොරොත්තුවකින් යුක්තව බ්‍රාහ්මණය ගෙදර ගියා. එදා රෑ මහා මේඝ ගර්ජනා සහිත මහා ධාරානිපාත වර්ෂාවක් වැහැල අර මුළු ගොයමම එහෙමම ගසාගෙන ගිහිල්ල ගඟේ. උදෑසන බ්‍රාහ්මණය කෙතට ඇවිල්ල බලන කොට මුළු කෙතම පාළුයි. දරාගන්න බැරි ශෝකයක් ඇති උනා. වැඩියෙන්ම ශෝක උනෙ අර තමන්ගෙ මිත්‍ර භවත් ගෞතමයන්ට අස්වැන්නෙන් කොටසක් දී ගන්ට බැරිවීම නිසයි. කොහොම නමුත් මේ බ්‍රාහ්මණය ආපසු ගෙදර ඇවිල්ල ඒ ශෝකය නිසා ආහාර වර්ජනය කරල-උපවාස කරල- කාමරේකට වෙලා බුදිය ගත්ත. එදත් බුදුපියාණන් වහන්සෙ මේ බ්‍රාහ්මණයගෙ නිවසට වැඩම කළා, වැඩම කරල ඇහුව. 'කෝ මේ බ්‍රාහ්මණ උපාසක උන්නැහෙ?' කියල. ගෙදර අය කිව්වා, 'අන්න බුදිය ගන්නව මෙහෙම අලාබයක් වුනා කියල ඒක දරාගන්න බැරුව ශෝකයෙන්', බුදු පියාණන් වහන්සෙ එතනට වැඩම කළා.

'මොකද බ්‍රාහ්මණය, මේ?' කියල ඇහුව. බ්‍රාහ්මණය පිළිතුරු දෙනව, 'භවත් ගෞතමය, මම මෙන්න මෙහෙම ලොකු බලාපොරොත්තු ඇතිකරගෙන හිටියා අස්වැන්න පැහුනට පස්සෙ මෙයින් කොටසක් දීල මිසක් අනුභව කරන්නෙ නෑ කියල. මට මෙන්න මේ තරම් විනාශයක් සිද්ධවුනා. ඒකෙ ශෝකය නිසා මම මෙන්න මෙහෙම ආහාර වර්ජනය කරල, ජීවිත අපේක්ෂාව අත හැරල, බුදියගන්නව' කියල. බුදු පියාණන්වහන්සෙ විමසනව, ඔබ දන්නවද මේ ශෝකයට හේතුව?' කියල. බ්‍රාහ්මණය කියනව: 'මම නම් දන්නෙ නෑ, ඔබ දන්නවද?' කියල. 'ඔව්, බ්‍රාහ්මණය. මම දන්නව'. අන්න ඒ අවස්ථාවේ තමයි අපි අර මාතෘකා කළ ගාථා ධර්මය දේශනා කළේ.

'තණ්හාය ජායතී සොකො
තණ්හාය ජායතී භයං
තණ්හාය විප්පමුත්තස්ස
නත්ථි සොකො කුතො භයං'

'තණ්හාවෙන් ශෝකය හට ගන්නව, ශෝකය උපදිනව. තණ්හාවෙන් භය හට ගන්නව. තණ්හාවෙන් මිදුන තැනැත්තාට ශෝකයක් නැත. භයක් කොයින්ද?' ඔච්චරයි බුදු පියාණන් වහන්සෙ දේශනා කර වදාළෙ. නමුත් මේ ධර්මය අහල අර බ්‍රාහ්මණයගෙ හිත ඇතුලෙ ලොකු චිත්ත විප්ලවයක් ඇතිවෙල විදර්ශනා ඥාන පිළිවෙළින් උතුම් සෝවාන් මාර්ගඵලය ප්‍රත්‍යක්ෂ කළ බව ධර්මයේ සඳහන් වෙනව.

එතකොට. මේ තරම් මේ චිත්ත විප්ලවයක් ඇති උනෙ කොහොමද කියල අපි ටිකක් හිතල බලන්න ඕන. මේ විදර්ශනාඥාන කියන ඒව ඇතිඋනෙ කොහොමද? විදර්ශනාව කියල කියන්නෙ විශේෂ දැකීමක්. අර බ්‍රාහ්මණයා තමන්ගෙ කෙතේ දර්ශනය හිතෙන් අරගෙන ගිහිල්ල ගෙදර බුදිය ගත්තෙ. නිතරම හිතට පේන්නෙ අර පාලුවෙච්ච කෙතයි. ඒ කෙත දිහා බලාගෙන ඉන්න බ්‍රාහ්මණයාට හිත දිහා බලන්නට අවස්ථාව සැලසීම් වශයෙනුයි බුදුපියාණන්වහන්සෙ අර ගාථාව වදාළෙ. බ්‍රාහ්මණය හිතුව කෙත පාලුඋන නිසයි ශෝකය ඇති උනෙ කියල. නමුත් බුදු පියාණන්වහන්සෙ අර ගාථාව ප්‍රකාශ කළාට පස්සෙ තේරෙන්න ඇති, කෙත පාලුවීම නිසා නොවෙයි හිත පාලුවීම නිසයි මේ ශෝකය ඇති උනෙ කියල. අර කෙතේ අස්වැන්න වැවෙනවත් එක්කම තවත් දෙයක් වැඩුනා. හිතේ ආශාවත් ලියලා වැඩුනා. මේ අස්වැන්නවලින් කරන දේවල්, තව කොතෙකුත් දේ. මේ පින්වතුන් දන්නවනේ, ගොයිතැන් බත් කරන අය. කොයිතරම් ලොකු බලාපොරොත්තු

සමූහයක් එස්සද මේ ගොයම වැඩෙන්නෙ කියල. අන්න ඒ විදියට මේ බ්‍රාහ්මණයගෙ හිත තුළ නොයෙකුත් ආසාවන්, බලාපොරොත්තු, කියන ජාතිය වැඩුනා. අර ධාරානිපාත වර්ෂාවෙන් ගොයම විනාශවෙල ගඟේ ගසාගෙන යනකොට ඒ ඔක්කොම ආශාවන්, බලාපොරොත්තු ගසාගෙන ගියා. මේ බ්‍රාහ්මණය එනකොට නිතර නිතර හිතට මතුකර ගත්තෙ අර පාලුකෙතේ දර්ශනයයි. ඒක නිසා ඉතින් වැළපෙනව, දුක්වෙනව, ශෝකවෙනව. බුදුපියාණන් වහන්සෙගෙ ගාථාවෙන් ඇතිඋන විපලවය කොයිතරම්ද කියතොත් බ්‍රාහ්මණය කෙත දිහා බලනව වෙනුවට ඇතුළත බැලුවා, හිත දිහා බැලුවා. මෙන්න මේ ඇතුළත බැලීම කියන එකට ධර්මයේ යෙදෙන වචනය තමයි. පින්වතුනි, 'යෝනිසො මනසිකාරය'. නුවණින් මෙනෙහි කිරීම, කුසල් හෝ අකුසල් හෝ ඇතිවෙන්නෙ හිතෙන්. හැම දේකටම මූලික වෙන්නෙ හිතයි. 'මනො පුබ්බඞ්ගමා ධම්මා-මනොසෙට්ඨා මනොමයා' ආදී වශයෙන් බුදුපියාණන්වහන්සේ ප්‍රකාශකරල තියෙනව. 'හිත පෙරටුවෙනව, හිතම ශ්‍රේෂ්ඨයි, මේ හැම දෙයක්ම හිතෙන්ම හටගන්න දේවල්' කියල. ඒ විදියට ප්‍රකාශ කරල තියෙනව. අන්න ඒ වගේ මෙතනත් මේ ශෝකය ඇතිවීමට මූලික උනේ තමාගේ හිත බව - හිත තුළින්ම පැන නැගුණු දෙයක් බව මේ බ්‍රාහ්මණයට වැටහුනා. එතකොට බුදුපියාණන් වහන්සෙ 'තණ්හාය විප්පමුත්තස්ස නත්ථි සොකො කුතො භයං' කියල තණ්හාවෙන් මිදුනු කැනැත්තාට ශෝකයක් නැත, භයක් කොයින්ද? කියල ප්‍රකාශ කළහම මේ තණ්හාව එකනම නැතිකර ගැනීම තමන්ට අයිති දෙයක් බව බ්‍රාහ්මණය තේරුම් ගත්ත. අර ගසාගෙන ගිය ගොයම ආයිත් සොයා ගන්න බෑ. ඒකට ආයි ප්‍රතිකර්මයක් නෑ. ඒ වෙනුවට ආහාර වර්ජනය කරල නිදාගැනීමවත්, උපවාසයෙන් මරණය කරා යෑමවත්, ප්‍රතිකර්මය නොවෙයි. එතකොට ඒ තත්වය තේරුම්ගත්තු බ්‍රාහ්මණයගෙ හිත තුළ ඇතිවුන විප්ලවයෙ අවසාන ප්‍රතිඵලය තමයි අර චක්‍රවර්ති රාජ්‍යයටත් වඩා උතුම්වූ සෝවාන් මාර්ගඵලය ලබා ගැනීම. ඒ බ්‍රාහ්මණය මිථ්‍යාදෘෂ්ටික බ්‍රාහ්මණයෙක් හැටියටයි මේ කථාව ආරම්භ උනෙ. දැන් මේ සෝවාන් ඵලය ලැබෙනවත් එක්කම, පින්වතුනි, කෙනෙක් හඳුන්වන්නෙ ආර්ය පුද්ගලයෙක් හැටියට. ආර්ය තත්වයක් ලබාගත්ත. උතුම් තත්වයක් ලබාගත්ත. සම්‍යක් දෘෂ්ටිය ඇතිවුනා. මේ තරම් විශාල විසතවිපලවයක් ඇතිවුනා. මේ බ්‍රාහ්මණය උගතෙක් නොවෙන්න පුළුවනි. ඒ වගේම දුප්පත් මනුස්සයෙක්. නමුත් මේ තරම් විශාල දෙයක් සිද්ධවුනේ මෙතන තියෙනව මහ ගැඹුරු ධර්මයක්. අපි කාටත් හිත යොදවන්න වටින දෙයක්. දැන් මේ කාලෙ නිතර අහන්ට ලැබෙන දෙයක් තමයි: 'ධර්මයෙ ගැඹුරු කොටස් ගැන හිත යොදන්න කාලෙ නොවෙයි මේ. බොහොම දුක් ගැහැට ආපදා විපත්ති ඇති කාලයක්. මේ රට කිරෙන් පැණියෙන් ඉතිරුනාට පස්සෙ තමයි ඒ නිවන ගැන, ඒ ගැඹුරු දේවල් ගැන, හිතන්න ඕන'. එහෙමත් සමහර කෙනෙක් කල්පනා කරනව. නමුත් පින්වතුනි, ලෝකයේ තියෙනව

'වෙස්වළාගත්ත ආශීර්වාද' කියල ජාතියක්. සමහර ආපදා විපත් කියන ඒව එන්නෙ හරියට ආශීර්වාද හැටියට. දැන් මේ බ්‍රාහ්මණයට මේ කෙත පාලුවීම ලොකු ආශීර්වාදයක් උනා. ඒක තුළින් ඇතිවුනු ඒ චිත්ත විප්ලවය නිසා අර තරම් - චක්‍රවර්ති රාජ්‍යයටත් වඩා උතුම්වූ. බුදුපියාණන් වහන්සේ පුදුම විදියට ප්‍රශංසා කළ-උසස් ආර්ය සත්ත්වයක් මේ බ්‍රාහ්මණයට ලබාගන්න පුළුවන් උනා.

එතකොට මේ ආපදා, විපත්ති, කම්පන ආදිය තුළින් අපට මේ චතුරාර්‍ය සත්‍යය මතුකරගන්න පුළුවන්. දුක, දුකට හේතුව, දුක නැතිකිරීමෙන් ලබන නිවීම-නිවන-ඊට මාර්ගය වන, ප්‍රතිපත්තිය වන -ආර්ය අෂ්ටාංගික මාර්ගය. මෙන්න මේ විදියට මේ විපත්ති තුළින් විදර්ශනාඥාන මතුකරගැනීම ගැන කල්පනා කරල බලනකොට, දැන් ඔය ඥානය-දැනුම ගැන හිතන කොට බොහෝවිට හිත දුවන්නෙ - මේ කාලෙ කොතෙකුත් තියෙනව විශ්ව විද්‍යාල කියල ජාතියක්-අන්න ඒවට. ඒවට කෙටි නමක් තියෙනව 'සරසවි' කියල. ඔය සරසවිවලට යන්න බොහොම අය උත්සාහ කරනව. ඒවට ගිහිච්ච අය ඒවායින් පිටවෙන්න - පාස්වෙන්න - බොහොම උත්සාහ දරනව. නමුත් පින්වතුනි. බොහෝ දෙනෙක් දන්නෙ නෑ අපි මේ කවුරුත් ඉන්නෙ එක්තරා සරසවියක බව. ඒක හඳුන්වන්නෙ 'ජීවිත සරසවිය' කියල. ඔය අනික් සරසවිවල නොයෙකුත් විදියෙ විද්‍යා, ඥාන, තාක්ෂණ තියෙනව. ඉගෙන ගන්න. මේ ජීවිත සරසවියෙ විෂයයන් තුනයි තියෙන්නෙ සමත් වෙන්න, පාස් කරන්න. මොනවද ඒ? බුදු පියාණන් වහන්සෙ ඒව දක්වල තියෙනව-අස්සාද, ආදීනව, නිස්සරණ කියල. 'අස්සාද' කියල කියන්නෙ ආස්වාද පක්ෂය-රසවිඳීම-පංචකාම සම්පත්තිය, ආස්වාදය. මේක තමයි පළමුවෙනි පාඩම. මා හිතන්නෙ මෙතන ඉන්න කවුරුත් මේ පාඩමෙන් නම් හොඳටම සමත්. මේ පංචකාම සම්පත්තිය කියන එක සංසාර සත්ත්වයින් කවුරුත් පාස්කරල තියෙනව. ඊළඟ පාඩම තමයි 'ආදීනව'. ඒ පංචකාම සම්පත්තිය සොයන්නට යෑම නිසා-ඒවා වෙනුවෙන්-විඳින්නට වෙන දුක්ගැහැට, ඒවායේ අනිෂ්ට විපාක ආදිය. දුක් කම්කටොලු, ආපදා, විපත්ති-ඒ හැම එකක්ම ආදීනව පක්ෂයට ගැණෙනවා. ආස්වාද පක්ෂය ටිකයි, ආදීනව පක්ෂය වැඩියි, නමුත් වැඩිදෙනෙක් ආස්වාද පන්තියෙ තමයි ඉන්නෙ. ආදීනව ගැන හිතන්නවත් පෙළඹෙන්නෙ නෑ. ඒවා දිහා බලන්නවත් හිත යොමුකරන්නෙ නෑ. නමුත් පින්වත්නි, මේ ආදීනව තුළින් තමයි ඊළඟ පන්තියට යන්න පුළුවන් වෙන්නෙ. 'නිස්සරණ' කියල කියන්නෙ සසරින් නික්මීම. සංසරණය කියල කියන්නෙ එකතැන කරකැවීම වගේ මේ සංසාරයෙ ගමන් කිරීම. දැන් මේ පින්වතුන් දන්නව ඔය වාහනයක් එහෙම හුඟක් දුරගියා කියල ඒ දුර ප්‍රමාණය සටහන් වෙනව. නමුත් කොයිතරම් දුර ගියත් මොකක්ද වෙන්නෙ?

අර රෝදය එතැනම කරකැවෙනව. අන්න ඒ වගෙ, එක අතකින් බලනකොට අනන්ත කාලයක් අපි මේ සංසාරයෙ ගමන් කරල තියෙනව. මහා දීර්ඝ සංසාරයක් කියල අපි පාවිච්චි කරනව. වචන යොදනව. නමුත් මේ තරම් දුර ගියාට මොකද. එක තැනමයි කරකැවිල තියෙන්නෙ. ජාති-ජරා-ව්‍යාධි-මරණ කියන ඒ විදියට රෝදය කරකැවුනා කියල ගන්නත් පුළුවන්. එහෙම නැත්නම් ඒ තමන් බලාපොරොත්තු වෙන ඒ ඒ බලාපොරොත්තු ඉෂ්ට කරගන්න යොදන ප්‍රයත්නය විතරයි. ඒකෙත් කෙළවරක් නෑ. අර රෝදය එකතැනම කරකැවෙන්න වගේ.

ඉතින් ඔන්න ඔය විදියට සංසරණය කියන්නෙ එකම තැන කරකැවිල්ලක්, එහෙම නැත්නම් සැරිසැරිල්ලක්. ඒ වගේම 'නිස්සරණ' කියල කියන්නෙ ඒ වටවළල්ලෙන් පැනීම, නික්මීම, සසරින් මිදීම. මේ නිස්සරණ ශ්‍රේණිය-මේ නිස්සරණ විෂය-මේ නිස්සරණ පාඩම-තමයි සමත්වෙන්න තියෙන්නෙ. මේ ලෝකයේ මේ යුගයේ, පළමුවෙන්ම මේ ජීවිත සරසවියෙ ඔය පාඩම් තුන පාස්කරල සමත්වුන උත්තමයා තමයි බුදුපියාණන්වහන්සේ. ඒ අනුව රහතන් වහන්සේලා. දැන් මේ බ්‍රාහ්මණයාත් ඒ සරසවියෙ සෝවාන්ඵලය කියන පළමුවෙනි ආර්ය තත්ත්වය ලබාගත්ත. මෙන්න මේ ජීවිත සරසවියෙන් අවස්ථානුකූලව පාඩම් ඉගෙන ගත්තොත් ඒක තමයි ජීවිතයට ඉතුරුවෙන්නෙ. ඒක තමයි කෙනෙකුගෙ විමුක්තියට උපකාරී වෙන්නෙ. මේ සෝවාන් ඵලයෙන් ලබන විමුක්තිය කොයිතරම් ශ්‍රේෂ්ඨ එකක්ද කියල බුදුපියාණන් වහන්සේ නොයෙකුත් උපමාවලින් දක්වල තියෙනව. එක් අවස්ථාවක නියපිටට පස්ටිකක් අරගෙන බුදුපියාණන් වහන්සේ සංඝයා වහන්සේලාගෙන් විමසුවා 'මේ පස්ටිකද වැඩි, මහපොළොවේ පස්ද වැඩි' කියල. සංඝයා වහන්ස්ලා පිළිතුරු දුන්නා: 'භාග්‍යවතුන් වහන්ස, මේ නියපිට පස් බොහාම ටිකයි. මහ පොළොවේ පස් තමයි වැඩි' කියල. අන්න ඒ උපමාව ආශ්‍රයෙන් බුදුපියාණන්වහන්සෙ ප්‍රකාශ කළා. සෝවාන් තත්ත්වය ලැබූ කෙනා ඒ තමාගේ සංසාර දුඃඛස්කන්ධයෙන් අත්මිදුනු, ඉවරකරගත්තු, දුක් ප්‍රමාණය වගේ තමයි අර මහ පොළොවේ පස්. නිය පිට තිබුනු පස් වගේ ඉතාම ටිකයි තව ඉතුරුවෙලා තියෙන්නෙ ඉවර කරගන්නට. ඒ මොකද? සෝවාන් පුද්ගලයා නැවත සංසාරයෙ ඉපදෙන්නෙ හත් සැරයක් පමණයි. ඒ වගේම, අපායට යන්නෙ නෑ. ඒක විශාල-පුදුම විදියෙ-සහනයක්. සෝවාන් නුවූ පුද්ගලයෙකුට අපාය තමන්ගෙ ගෙදර වගේ. කොයි වෙලාවෙ කොයි විදියෙ පාපකර්මයක් නිසා අපායට යන්න වෙනවද කියල නෑ. සෝවාන් පුද්ගලයාගේ සිතේ ඇතිවුනු ඒ විප්ලවයේ පරිවර්තනය නිසා, ඒ ආර්ය තත්ත්වය නිසා, විදර්ශනාඥානවලින් ඇති උනු ඒ දහම් ඇස පහළවීම නිසා, අර අපායගාමී අකුසල් කරන ශක්තිය නැති වුනා. අතීතයේ කරන ලද අකුසල් තිබුනත් නැවත අපායට යන්නෙ නෑ. අන්න ඒ තරම් පුදුම

විදියේ විමුක්තියක් ඒ සෝවාන් ඵලයෙන් පවා කෙනෙකුට ලැබෙනව. ඒක නිසා තමයි බුදුරජාණන් වහන්සේ වදාළෙ අර නියපිට පස්ටික වගේ තමයි සෝවාන් පුද්ගලයට තව ගෙවන්න තිබෙන සංසාර දුක. මිදුනු සංසාර දුක මහ පොළොවේ ඉතිරි පස් වගේ තමයි කියා. තවත් උපමා දක්වල තියෙනව, ඒ වගේම. මහා සමුද්‍රයෙන් නගා ගත්තු දියබිඳු දෙක තුනක් වගෙයි අර තව ගෙවන්න තිබෙන දුක් ටික. ගෙවූ දුක් සමූහය-ඉවර කරගත්තු දුක් සමූහය වගේ තමයි මහා සමුද්‍රයේ ඉතිරිවූ ජලය. තවත් ඒ වගේ උපමාවක් දක්වල තියෙනව. හිමාලය පර්වතය ක්‍රමක්‍රමයෙන් ගෙවිල ගිහිල්ල අබ ඇට 7ක් පමණවූ කුඩා ගල්කැට 7ක් විතරක් ඉතිරි වුනොත්. ආන්න ඒ ගල්කැට 7 වගේ තමයි අර සෝවාන් පුද්ගලයට තව ගෙවන්න ඉතුරුවෙල තියෙන දුක් ටික. මිදුනු දුක් සමූහය තමයි අර හිමාලයෙ ගෙවුනු පස් කොටස. අන්න ඒ වගේ නොයෙකුත් උපමා දක්වල තියෙනව. සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අර්හත් කියල මාර්ගඵල හතරක් තියෙනව. එයින් පළමුවෙනි එකෙන් පවා ලැබුනු විමුක්තිය කොයි තරම් විශාල දෙයක්ද, කොයිතරම් උතුම් දෙයක් ද කියල හිතාගන්න පුළුවන්.

එතකොට අර උදැල්ලට හේත්තුවෙල වල් කොටමින් හිටපු, 'භවත් ගෞතමය' කියල බුදු පියාණන් වහන්සෙට ආමන්ත්‍රණය කළ, අර මිථ්‍යාදෘෂ්ටික බ්‍රාහ්මණයා, කෙත විනාශ උනාට පස්සෙ අන්න අර බුදුපියාණන්වහන්සෙ චක්‍රවර්ති රාජ්‍යයටත් වඩා, මුළුලොව අධිපතිකමටත් වඩා, දිව්‍ය ලෝකයේ යාමටත් වඩා, ශ්‍රේෂ්ඨ හැටියට සළකන සෝවාන් ඵලය ලබාගත්ත. මෙයින් අපට පෙනෙනව ගැඹුරු ධර්ම කියන ජාතිය - 'විදර්ශනා ඥාන' කියන ජාතිය- උගතුන්ට, උපාධිලාභීන්ට, සරසවිවලට ගිය අයට, පමණක් සීමාවුනු දේවල් නොවෙයි. මේ ගොවිතැන් බත් කරන මේ පින්වතුන්ටත් තමන්ගෙ ජීවිත සරසවියෙන් ප්‍රයෝජන ගන්න කල්පනා කරනව නම් මේවා ලබාගන්න හැකි බව. දැන් අර මිථ්‍යාදෘෂ්ටික බ්‍රාහ්මණයට යම්කිසි ගැඹුරු පුණ්‍ය ශක්තියක් තිබුණු නිසා බුදුපියාණන් වහන්සේගෙ ගාථා ධර්මය අසනවත් එක්කම අර තරම් පරිවර්තනයක් සිද්ධ උනා. මේ පින්වතුන්ට ටිකක් සැක හිතෙන්ට පුළුවන් මොකද මේ තුන්ලෝකාග්‍ර බුදුපියාණන් වහන්සේ මේ තරම් වැඩ තියෙද්දී, අර තරම් සංඝයා වහන්සේලා පිළිබඳ වැඩකටයුතු තිබෙද්දී, මේ බමුණෙක් සොයාක් සීසාන තැනට කීප සැරයක් වැඩම කළේ කියල. බුදු පියාණන් වහන්සෙ එතනට වැඩම කළේ අර බමුණාගෙ කෙත පැසෙනකං බලාගෙන ඉඳල අස්වැන්නෙන් කොටසක් ලබාගන්න නොවෙයි. බමුණාගෙ හිත පැසෙනකං බලාගෙන ඉඳල තමන් ලබාගත්තු අමාමහ නිවන් අස්වැන්නෙන් කොටසක් ලබාදීමටයි. බමුණාගෙ හිත පැහුනෙ අන්න අර අස්වැන්න විනාශ වුනු දවසෙයි. සමහරවිට මේ පින්වතුන්ගෙත් හිත පැහෙන්නෙ ආපදා විපත්ති

ලැබුනහම. දැන් මේ කාලෙ ඒව පිළිබඳව අමුතුවෙන් කියන්න ඕන නෑ. තමන්ගෙ දූදරුවන්, නෑ හිතවතුන්. කොයි විදියෙ අවස්ථාවලදී ජීවිත කෙළවර කරගන්නවද කියල. සමහරවිට අසාධ්‍ය රෝග වලින්, සමහරවිට මහා කම්පනවලින්, මහා ගිනිජාලා මැද විනාශයට පත්වෙනවා. ජීවිත සරසවියෙ ඒ විදියෙ පාඩම් ලැබිලත්, ඒවා ගැන හිත යොදවන්නෙ නැති නිසා අර මිථ්‍යාදෘෂ්ටික බමුණාට කරගන්න පුළුවන් වූ දේ වත් කරගන්න බෑ බෞද්ධයින්ට. ඒ වෙනුවට ඒ විදියෙ ඇතැම් අය කල්පනා කරන්නෙ මේ ගැඹුරු ධර්ම-නිවන, ලෝකෝත්තර මාර්ගඵල-කියන ජාතිය පිළිබඳව කල්පනා කරන්න ඕනෙ රට සමෘද්ධිමත් වෙලා, කිරෙන් පැණියෙන් උතුරන අවස්ථාවක පමණයි කියල. 'එතකං අපි ආර්ථිකය නහා හිටවන්න බලමු. ධාර්මිකයට මොනව උනත් කමක් නෑ.' අන්න ඒ විදියෙ මතිමතාන්තරයි ලෝකයේ තියෙන්නෙ. නමුත් මේ පින්වතුන්ට හිතාගන්න පුළුවන් මේ පොඩි කථාව ආශ්‍රයෙන්-දැන් කථා කියන ජාතිය, කෙටි කථා, නවකථා ආදිය මේ පින්වතුන් බොහොම ආසාවෙන් කියවනව. ඒවායින් ගතයුතු ආදර්ශයක් නෑ. රසවිඳීම විතරක්. නමුත් ධර්ම කථා තුළින්, ජීවන ප්‍රවෘත්ති තුළින්, අපට උගත හැකි පාඩම් බොහොමයි. මේ ශාසනයේ තෙර-තෙරණියන්ගේ ජීවන චරිත පිළිබඳව, උපාසක-උපාසිකාවන්ගේ ජීවන චරිත පිළිබඳව කියවන කොට පෙනෙනව බොහෝ දෙනෙකුට මේ උතුම් නිර්වාණ ධර්මය අවබෝධ වුනේ මහා කම්පන රාශියකට මුහුණදුන් අවස්ථාවල බව. කිසා ගෝතමී, පටාචාරා ආදීන්ගේ ප්‍රවෘත්ති අංගුලිමාල ආදී ඒ විදියෙ නොයෙකුත් අය, මහා ජීවන ගැටළු මධ්‍යයේ ඒ අත්දැකීම් තුළින් තමයි, චතුරාර්‍ය සත්‍යය අවබෝධ කරගත්තෙ. එතකොට එබඳු ඒ අවස්ථාවල් අපටත් තිබෙනව. ඒවාට තමයි අපි අර කිව්වෙ 'වෙස්වළාගත් ආශිර්වාද' කියල. 'වෙස්වළාගත් ආශිර්වාද' කියල කියන්නෙ, අපට පෙනෙන්නෙ ඒවා ආපදා හැටියට. අපට පෙනෙන්නෙ විපත්ති හැටියට. කම්පන හැටියට. නමුත් ඒ කම්පන සිදුවෙන්නෙ මොකටද? අර සංසාරයෙ යම්කිසි අවස්ථාවක් එනව ක්ෂණ සම්පත්තිය හැටියට. බුදුපියාණන් වහන්සේ මේ ක්ෂණ සම්පත්තියෙ අගය දක්වල තියෙනව. ක්ෂණය කියල කියන්නෙ මොහොත. 'උතුම් මොහොත ඉක්මයා නොදෙව්' කියල බුදු පියාණන්වහන්සෙ ප්‍රකාශ කරල තියෙනව.

'ඛණෝ වෙ මා උපච්චගා
ඛණාතීතා හි සොචන්ති
නිරයම්හි සමප්පිතා'

'උතුම් මොහොත-හැකාත-ඉක්ම යා නොදෙව්. එහෙම ඉක්ම ගියොත් නුඹලාට නිරයේ වැටිලා දුක් විඳින්න සිදුවෙනවා.' මොකක්ද මේ උතුම් මොහොත කියල කියන්නේ?.

බුදු පියාණන් වහන්සේ සමහර අවස්ථාවල ප්‍රකාශ කළා, ලෝකයේ බොහෝදෙනා 'ඛණකිච්චො ලොකො. ඛණකිච්චො ලොකො' කියල ප්‍රකාශ කරනවයි, මේ ලෝකය කියන්නෙ මොහොතට වැඩ කරන, වෙලාවට වැඩ කරන, තැනක් කියල. දැන් නම් වෙලාව කියන එක සළකාගන්නත් බැරි තරමට බොහොම ව්‍යාකූලයි. නමුත් බුදුපියාණන් වහන්සේ නැකත කියල හැඳින්වුවෙ මේ බුද්ධෝත්පාදකාලයේ ලබන ඥානවන්ත මනුෂ්‍ය ආත්ම භාවයයි. කාරණා රාශියක් එකතුවෙලා තමයි කෙනෙකුට මේ බුද්ධෝත්පාද කාලයක ඥානවන්ත මනුෂ්‍ය ආත්ම භාවයක් ලබන්න පුළුවන් වෙන්නෙ. බුදු කෙනෙක් පහළ උනත් තමන් තිරිසන් ලෝකෙ ප්‍රේත ලෝකෙ අසුර ලෝකෙ එහෙම උත්පත්තිය ලැබුවා නම්, මේ ධර්මයට නැඹුරු වෙලා ධර්මානුකූලව ජීවත් වෙලා නිවන් ප්‍රත්‍යක්ෂ කරගන්න, සසරින් මිදෙන්න, අවස්ථාව සැලසෙන්නෙ නැහැ. නමුත් බුද්ධෝත්පාද කාලයක ඒ ධර්මය පවතින තැනක මනුෂ්‍යාත්මභාවයක් අංග විකලත්වයක් නැතිව ඥානශක්තිය ඇතිව ලැබුවා නම් අන්න ඒකට තමයි ක්ෂණ සම්පත්තිය කියල කියන්නෙ. ඒ ක්ෂණ සම්පත්තියෙන් වැඩ ගැනීමට තමයි බුදු පියාණන්වහන්සේ අපට නිතරම අවවාද කරල තියෙන්නෙ. ඒකෙ අගය දක්වල තියෙනවා. මක්නිසාද? විශේෂයෙන්ම අර මෙතන සඳහන්වුනු ආකාරයට සෝවාන් පුද්ගලයා නිරයෙන් මිදෙනව-පළමුවෙනිම මිදීම. මේ හැම කෙනෙක්ම කල්පනා කරන්ට ඕන, සසරින් - මුළු මහත් සංසාරයෙන් - මිදීම ලැබෙන්නෙ අර්හත්වයෙන්, ඊට මෙහා පළවෙනි මාර්ගඥානයෙන්ම ලැබෙන පුදුම අන්දමේ විමුක්තියක් තමයි මේ අපායට යාමේ භයානක තත්ත්වයෙන් මිදීම-අත්මිදීම. අනන්ත කාලයක් ලෝක සත්ත්වයා තිරිසන් ලෝකයේ, ප්‍රේත ලෝකයේ, අසුර ලෝකයේ, නිරයේ මහා දුක් විඳින බව බුදුපියාණන්වහන්සේත්, අභිඥාලාභී මහරහතන්වහන්සේලාත්, ප්‍රකාශ කරල තියෙනව. අන්න ඒ තරම් ආපදා සම්පන්න අවදානම් තත්ත්වයක් ලෝකයේ-ජීවිතයේ-තිබෙන නිසා මෙන්න මේ උතුම් තත්ත්ව, විදර්ශනා ඥාන, මාර්ගඵල, චතුරාර්‍ය සත්‍යය, කියන දේවල් පැත්තකට තල්ලු කරන්නෙ නැතිව, මේ තමන්ට අත්දකින්නට ලැබෙන ආපදා විපත්ති තුළින්, මේ භයානක කාලසීමාවවල ලබන අත්දැකීම් තුළින්, පාඩම් ඉගෙන ගන්න ඕන. සමහර කෙනෙක් හැමදාම එකම ගණන හදනව. හදන්න හදන්න වැරදියි. හරි උත්තරය එන්නෙ නෑ. අන්න ඒ වගේ තමයි මේ සංසාරයෙ සත්ත්වයා මේ චතුරාර්‍ය සත්‍යය තේරුම් ගන්න බැරුව ගමන් කරන්නෙ. බුදු පියාණන් වහන්සේම ප්‍රකාශ කරල තියෙනව. 'මහණෙනි මමත් නුඹලත් මේ තරම් අනන්ත කාලයක් අවිද්‍යාවෙන් වැහිල තණ්හාවෙන් බැඳිල මේ සංසාරයේ ගමන් කළේ මේ චතුරාර්‍ය සත්‍යය නොදැනීමෙන්ය' කියල. චතුරාර්‍ය සත්‍යය අවබෝධ කරගැනීමට ජීවිතයෙන් ලැබෙන අත්දැකීම් උපකාර කරගත යුතුව තිබෙනව. යම් ආපදා විපත්ති එනවා නම් ඒ බුදු පියාණන් වහන්සේ ප්‍රකාශ කළ දුක පිළිබඳ සත්‍යයයි. ඒකෙන් කොටසක් මට මේ

ලැබිල තියෙන්නෙ. මෙකෙ යට තියෙන්නෙ තණ්හාවයි කියල' අර බ්‍රාහ්මණයට තේරුන වගේ. ඒක යෝනිසො මනසිකාරයෙන් කරන දෙයක්.

'යොනිසෝ මනසිකාරය' කියල කියන්නෙ නුවණින් මෙනෙහි කිරීම. යම් යම් දේවල් යම් තැනකින් පැන නගිනවා නම් එතන-ඒ දිහා බැලීම. එයින් එහා පැත්ත බලාගෙන ගියොත් කවදාවත් ඒකෙ සත්‍යය අවබෝධ වෙන්නෙ නැහැ. 'අයෝනිසෝ මනසිකාරය' කියල කියන්නේ අනිසි මෙනෙහි කිරීමයි. ඇත්ත වශයෙන්ම, සෝවාන්වීමට උපකාරවන කාරණා හතරක් තිබෙන බව බුදු පියාණන් වහන්සේ ප්‍රකාශ කරල තියෙනව 'සප්පුරිස සංසෙවො, සද්ධම්මසවනං, යොනිසොමනසිකාරො, ධම්මානුධම්මපටිපත්ති' කියල. 'සප්පුරිස සංසෙවො' කියන්නෙ සත්පුරුෂ ආශ්‍රයයි, කල්‍යාණමිත්‍ර ආශ්‍රයයි. 'සද්ධම්ම සවනං' කියන්නෙ ධර්ම ශ්‍රවණය - සද්ධර්මය ඇසීම. 'යොනිසො මනසිකාරො' කියල කියන්නෙ නුවණින් මෙනෙහි කිරීම. ඊළඟට 'ධම්මානුධම්මපටිපත්ති' කියල කියන්නෙ ධර්මයට අනුව පිළිපැදීම-ආර්‍ය අෂ්ටාංගික මාර්ගයයි. එතකොට මෙන්න මේ හතරයි. දැන් අර බ්‍රාහ්මණයට මේ හතර සම්පූර්ණ උනාද කියල සමහරවිට කෙනෙකුට සැක හිතෙන්න පුළුවන්. නමුත් අතීත සංසාරයෙ ඒව පුරල තියෙන කෙනාට ඉතාම සුළු උදව්වකින් ඒ ගැඹුරු අවබෝධය ලබාගන්න පුළුවන්. වැටහීම කියන එක ඒ ඒ පුද්ගලයාට ඒ ඒ ආකාරයටයි එන්නෙ. දැන් මේ පින්වතුන් අතරත් සමහරවිට ටිකක් කියන කොට තේරෙන අය ඉන්නව. සමාජයේ කථාවක් තියෙනවා 'මට නම් හැරෙනකොට තේරෙනව' කියල. අන්න ඒ වගෙ. හැරෙන කොට තේරෙන අයත් හිටියා. බුදු පියාණන්වහන්සෙ හැරෙනකොට, යන්තම් එක වචනයක් දෙකක් පාවිච්චි කරන කොට, එයින්ම තේරුම් අරගෙන නිවන අවබෝධ කළ අයත් හිටියා. සමහර අයට ටිකක් දිගට කියන්න වෙනව. සමහර අයට නොයෙකුත් විදියෙ උපක්‍රම යොදලම කියන්න වෙනව. දැන් මෙතනත් බුදුපියාණන් වහන්සෙ අර බ්‍රාහ්මණය තුළ ශ්‍රද්ධාව ඇති කරන්න කුලුපගවීමක් වගේ නිතර ගෙත ළඟට ගිහිල්ල හිත සකස්කළා. බුදු පියාණන් වහන්සෙ දැක්කා ඒ තරම් අලාභයක් බ්‍රාහ්මණයට වෙන බව. ඒක නොදැක නොවෙයි-අස්වැන්නෙන් කොටසක් බලාපොරොත්තුවෙන් නොවෙයි. නමුත් ක්‍රමානුකූලව, ඒ වෙනුවෙන් විශේෂ වෙහෙසක් අරගෙන, බුද්ධ ශාසනය අර බ්‍රාහ්මණය ළඟට අරගෙන ගියා. ඒකෙ ප්‍රතිඵලය තමයි බ්‍රාහ්මණය ඒ විමුක්තිය ලැබීම.

ඒ විදියට මේ පින්වතුනුත් උත්සාහවත්ත වෙන්න ඕන තමන්ට ලැබෙන ජීවන ගැටළු තුළින්, ආපදා තුළින්, ජීවිතයේ යථා තත්වය අවබෝධ කරගන්න, සංස්කාර තත්වය අවබෝධ කරගන්න. හැමදාම තෝඩි පන්තියෙ ඉන්නව වාගේ ආස්වාද පන්තියෙම ඉන්නෙ නැතුව. මෙකෙ ආදීනව පක්ෂයක් තියෙනවා

සියලු බුදුපියාණන් වහන්සෙ ප්‍රකාශ කළා. 'මම ලෝකයෙ ආස්වාද පක්ෂය සොයාගෙන ගියා. ලෝකයේ යම් ආස්වාද පක්ෂයක් තියෙනවා නම් මම ඒක තේරුම් ගත්තා. ඊළඟට මම ආදීනව පක්ෂය සොයාගෙන ගියා. ඒ ආදීනව තත්වයත් මම තේරුම් ගත්තා. ඊළඟට මම ලෝකයෙන් නිස්සරණය - නික්මීම - පිළිබඳව පර්යේෂණ කළා. ඒ පර්යේෂණ කියන වචනයක් යොදනවා. ඒකත් මේ කාලයේ පාවිච්චි කරන එකක් ඔය ශාස්ත්‍රීය කටයුතු පිළිබඳව 'පර්යේෂණ'. අනරිය පරියෙසන, අරිය පරියෙසන කියල වචන දෙකක් යොදල තියෙනවා-අනාර්ය පර්යේෂණයක්, ආර්ය පර්යේෂණයක්, අනිසි සෙවීමක් නිසි සෙවීමක්. එතකොට බුදුපියාණන් වහන්සේ මේ ආර්ය පර්යේෂණය තුළින් ඒ නිස්සරණය-නිවන-අවබෝධය කලා. අවබෝධ කරගෙන තමයි බුදුපියාණන් වහන්සෙ ඊළඟට ලෝක සත්වයින්ට-දෙවියන්ට, මනුෂ්‍යයින්ට, අර විදියෙ දුශ්ශීල පුද්ගලයින්ට, නොයෙකුත් අපරාධවලට පාත්‍ර වුණු ස්ත්‍රී පුරුෂයින්ට මහා දාමරිකයන්ට, චරිත දූෂිත අයට ඒ වගේම සංඝයා වහන්සේලාට නොයෙකුත් තීර්ථක, පරිබ්‍රාජක, නිගණ්ඨ ආදීන්ට-හැමදෙනාටම උපකාර කළේ. උන්වහන්සේට පෙනුන මේ අයගේ සංසාරයෙ යම් යම් හොඳ ගුණයක් තිබෙනවා කියල. නරක ගුණවලට, ඒවා යටපත් කරන අන්දමේ ධර්ම දේශනා කරල ධර්මානුධර්ම ප්‍රතිපත්තියට ගත්තා. දැන් මෙතන අර සත්පුරුෂ ආශ්‍රය උපකාර වෙනවා. ඊළඟට සද්ධර්ම ශ්‍රවණය. අර බ්‍රාහ්මණයට එකවර ලැබුන මේ හතරම. ලෝකයේ ඉන්න උතුම්ම කල්‍යාණ මිත්‍රයාණන්වහන්සෙ තමයි ඒ බ්‍රාහ්මණයගෙ ගෙත ළඟට - අර නිවසට - වැඩම කළේ. එතකොට ඒ සත්පුරුෂ ලාභය ලැබුනා. සද්ධර්ම ශ්‍රවණ හැටියට අර ගාථා පද උනත් ඇහිවුනා. ඊළඟට යෝනිසෝමනසිකාරය. බ්‍රාහ්මණය හිත යොදවලා, කෙසේ දර්ශනය වෙනුවට හිත දිහා හැරිල බලල ඒ සත්‍යය වටහා ගත්ත. යෝනිසෝ මනසිකාරයෙන් ධර්මානුධර්ම ප්‍රතිපත්තියටත් මග පෑදුන. දැන් මේ කාලෙ සමහරවිට කෙනෙක් හිතන්න පුළුවන් මුළු ජීවිතයම ආර්ය අෂ්ටාංගික මාර්ගයෙ යෙදීමය කියල. ඇතැම් කෙනෙකුට එහෙමත් යෙදීම අවශ්‍ය වෙනව. නමුත් අතීතයේ ඒ ධර්ම පුරල තියෙන කෙනාට ඉතාම සුළු වෙලාවකින් අර ධර්මානුධර්ම ප්‍රතිපත්තිය සම්පූර්ණ වෙනව. දැන් කෙනෙක් ලෝකයෙන් හිත මෑත් කරගෙන උපවාස කරනවා නම් මට ජීවිතය එපා කියල, ඒ තැනැත්තා තුළ කෙලෙස් අඩුයි. ජීවිත අපේක්ෂාව නැති කරගෙන තියෙන්නෙ වැරදි අදහසකින් නමුත්, අන්න එබඳු අවස්ථාවක බමුණට මේ ධර්මය වැටෙනවත් එක්කම ආර්ය අෂ්ටාංගික මාර්ගය හිත ඇතුළෙ සම්පූර්ණ වෙන්න ඇති. ඒක ඉතාම ගැඹුරු දෙයක්.

දැන් මේ පින්වතුන් දන්නව දේදුන්නක වර්ණ දකින්න බොහොම දෙනෙක් ආසාවෙන් ඉන්න බව - කුඩා දරුවන් එහෙම. ඔය මේ වගෙ වැහැගෙන එන වෙලාවක අහස දිහා බැලුවහම කලාතුරකින් අපට දකින්න පුළුවන් දේදුන්නක්.

නමුත් හැමවිටම එහෙම දකින්න බැරිවුනත් දේදුන්නක තිබෙන සූර්යයාගෙ ලස්සන වර්ණ බලන්න පුළුවන් ඔය වැලක කොලයක එල්ලෙන පොඩි පිණි බින්දුවක් දිහා හරියට එල්ලයට අනුව ඉර පායන වෙලාවක බලනකොට. අරකා මැණිකක් වගේ දිලිසෙනව. ඒක ඇතුළෙ අර රශ්මි දකින්න පුළුවන් වෙනව. පිණි බිඳුවක් තුළින් පුළුවන් දේදුනු වර්ණ දකින්න. ඒ වගේ තමයි, පොඩි ගාථාවක් - ගාථා පදයක් - වචනයක් - තුළින් කෙනෙක් හරියට ඉලක්කය අනුව බැලුවා නම්, සම්‍යක් දෘෂ්ටිය ඇති කරගත්තා නම්, ඒ තැනැත්තාට පුළුවන් ඒ තුළින් නිවන දකින්න. ඒ වගෙ දෙයක් තමයි අර බ්‍රාහ්මණයා තුළ ඇතිඋන චිත්ත විප්ලවය.

අන්න ඒ විදියට ගැඹුරින් කල්පනා කර බලන කොට මේ ධර්ම කථාවකින් අපට ආදර්ශ රාශියක් ගන්න පුළුවන්. ඒ වගේම අපේ මේ ජීවිතය ගෙවියන ආකාරය. ජීවිතයේ යථා ස්වභාවය, නිතර මෙනෙහි කරන්න ඕන. බුදු පියාණන් වහන්සෙ මේ ජීවිතයෙ යථා ස්වභාවය යථාර්ථය (දැන් මේ වචනය යොදනව සමාජයෙ) 'ඇත්ත ඇති සැටිය' දක්වල තියෙනව වාක්‍ය හතරකින්. ධර්ම මාතෘකා හතරකින්. මේ හතර තමයි:

1. උපනීයති ලොකො අද්ධුවො
2. අත්තාණො ලොකො අනභිස්සරො
3. අස්සකො ලොකො සබ්බං පහාය ගමනීයං
4. ඌනො ලොකො අතිත්තො තණ්හාදාසො

මේ ධර්ම මාතෘකා හතර පිළිබඳව හොඳ විවරණයක් අපට ලැබෙනව රට්ඨපාල ස්වාමීන්වහන්සේගෙන්. රට්ඨපාල ස්වාමීන්වහන්සේ කියන්නෙ මේ ශාසනයෙ ශ්‍රද්ධාවෙන් පැවිදිවුවන් අතර අග්‍ර තනතුර ලැබූ කෙනෙක්. බුදු පියාණන් වහන්සෙ බොහෝ අවස්ථාවල සමහන්වහන්සේගේ ශ්‍රාවකයින්ට ඒ ඒ අංශ අතින් අගතනතුරු දෙනව. ප්‍රඥාවෙන් සාරිපුත්ත ස්වාමීන් වහන්සේ අග්‍රයි. ඍද්ධිමතුන් අතර මුගලන් මහා ස්වාමීන්වහන්සෙ අග්‍රයි. උපස්ථායකයින් අතර ආනන්ද ස්වාමීන්වහන්සෙ අග්‍රයි. දැන් මේ කාලෙ සරසවිවලත් නොයෙකුත් උපාධි දෙනවනේ ඒ වගේ. ඒක ලෝකයට ආදර්ශයක් වශයෙන්. ප්‍රඥාව ඕන නම් මේ පැත්ත බලන්න. ඍද්ධි ඕන නම් අර පැත්ත බලන්න. ඔය විදියට. උපස්ථාන කටයුතු පිළිබඳව ඕන නම් මේ පැත්ත බලන්න. ඔය විදියට. ඒ වගේ ශ්‍රද්ධාවෙ තිබෙන ශක්තිය, ශ්‍රද්ධාවෙ තිබෙන පුදුම ප්‍රාතිහාර්යය, දකින්න ඕන නම් රට්ඨපාල ස්වාමීන්වහන්සෙ දිහා බලන්න. මොකද රට්ඨපාල ස්වාමීන්වහන්සෙ බුදුපියාණන් වහන්සේගෙන් එකවරක් ධර්මය අහල පැවිදිවෙන්න අවසර ඉල්ලුව, මවුපියන්ගෙන්. රට්ඨපාල ස්වාමීන්වහන්සෙ මහා ධනවන්ත

පවුලක කෙනෙක්. තමන්ගෙ මවුපියන්ගෙන් අවසර ඉල්ලුවාම ඒ තරුණ වයසෙදි, ඒකට අවසර ලැබුනේ නෑ. එතනම බිම දිගා වුනා. 'එක්කො මරණය එක්කො පැවිද්දට අවසර' කියල. මාරාන්තික උපවාසයක් ආරම්භ කළා. අන්තිමට මේක බේරගන්න බැරිව යාලුවන් මිත්‍රයන් එකතුවෙලා මවුපියන්ට කරුණු කියල යම්තම් පැවිදිවෙන්න අවසර ලබාදුන්න. ඒ රට්ඨපාල ස්වාමීන්වහන්සෙ රහත් උනාට පස්සෙ තමන්ගෙ ගමට වැඩම කළා. කුරු ප්‍රදේශයට වැඩම කළ අවස්ථාවෙ ඒ කුරු රටේ කෝරව්‍ය රජතුමා රට්ඨපාල ස්වාමීන්වහන්සේගෙන් ඇහුවා ඇයි රට්ඨපාල ස්වාමීනි මේ තරම් ධනවත් පවුලක ඉපදිල මේ තරම් තරුණ වයසෙදි ඇයි පැවිදි උනෙ කියල. පැවිදිවෙන්න මොකද හේතුව? කියල ඒ අවස්ථාවෙ රට්ඨපාල ස්වාමීන් වහන්සෙ කියනවා බුදුපියාණන් වහන්සෙ ප්‍රකාශ කළ ධර්ම මාතෘකා හතරක්-ජීවිතය පිළිබඳ යථාර්ථය ප්‍රකාශ කරන ධර්ම මාතෘකා හතරක් - අහල, ඒකෙ තත්ත්වය දැනගෙන, දැකල, ඒක සත්‍යබව තේරුම් අරගෙනයි මම පැවිදි උනෙ කියල. නිකම්ම නොවෙයි කියල. දැන්, ශ්‍රද්ධාවෙන් කියල කියන කොට ඇතැම් කෙනෙක් හිතන්න පුළුවන් මෝඩ ශ්‍රද්ධාවෙන්ය කියල. මොනවද මේ කාරණා හතර කියන එක අපි සඳහන් කළා.

උන්වහන්සේ ප්‍රකාශ කළා රජතුමාට, ලෝකයේ ස්වභාවය තමයි 'උපනීයති ලොකො අද්ධුවො' - 'ලෝකය ඉදිරියට තල්ලු වී යන අස්ථිර තැනක්. මොකක්ද මේකෙ තේරුම කියල රජතුමා අහනව. මේක බැලුවහම ටිකක් ප්‍රහේලිකා වගේ නිසා. එතකොට රට්ඨපාල ස්වාමීන්වහන්සෙ ඒක තේරුම් කිරීම් වශයෙන් රජතුමාගෙන් අහනව: මහරජ, ඔබට වයස 20-25 වගේ කාලෙදි කොහොමද හොඳට කාය බල-ශරීර ශක්තිය තිබුනාද? ඇත්-අස්-රිය-පාබල සේනා හැසිරවීම පිළිබඳව, ඇතුන් අසුන් හැසිර වීම පිළිබඳව, කඩු-දුනු ශිල්ප පිළිබඳව, දක්ෂකම් එහෙම තිබුනද? 'අපොයි ඔව්, ඒ කාලෙ නම් මට හිතුනා මා තරම් බලවන්ත කෙනෙක්, ශක්තිමත් කෙනෙක්, නැතෙයි කියල. මට සෘද්ධි තියෙනවයි කියලත් හිතුන. ඒ තරමටම මට කාය බලය, ශක්තිය තිබුනා.' එතකොට රට්ඨපාල සවාමීන්වහන්සෙ අහනව; 'හොඳයි මහරජ, දැනුත් එහෙමද?' කියල. 'අපොයි දැන් නම් එහෙම නෑ. දැන් මට වයස අවුරුදු අසූවක් විතර වෙනවා. ජරා ජීර්ණ මහල්ලෙක්. දැන් සමහරවිටෙක මම මෙතන පය තියනවා කියලා අතනයි පය තියන්නෙ. අතපයවත් වලංගු නෑ.' ඔන්න ඕක තමයි, මහරජ, බුදුපියාණන්වහන්සේ ප්‍රකාශ කළේ: 'උපනීයති ලොකො අද්ධුවො', ලෝකයා ජරාව විසින් ඉදිරියට තල්ලු කරනු ලබනවා. මේක අස්ථිර දෙයක්. ලෝකය අස්ථිර දෙයක්. ලෝකය කියල කියන්නෙ ලෝකයා-ජීවිතය, ජීවිතයෙ ඔන්න ඔය සත්‍යයයි. එතකොට රජතුමා ප්‍රකාශ කරනවා 'ආශ්චර්යයි, ස්වාමීන්වහන්ස, අද්භූතයි මේ කාරණය. බුදුපියාණන් වහන්සෙ ප්‍රකාශ කළ දෙය කොයිතරම්

සත්‍යද කියන එක. එතකොට අන්ත දුගියකුගේ ජීවිතය පිළිබඳවත් මහරජකුගේ ජීවිතය පිළිබඳවත් සත්‍යවූ යථාර්ථය තමයි බුදුපියාණන් වහන්සේ මේ බණ පදයෙන් ප්‍රකාශ කරල තියෙන්නෙ.

ඊළඟට දෙවෙනි කාරණය පිළිබඳව රජතුමා අසනවා රට්ඨපාල ස්වාමීන්වහන්සේගෙන්; මේ මොකද ස්වාමීන්වහන්සේ 'අත්තාණො ලොකො අනාභිස්සරො' කියල ප්‍රකාශ කළේ? ඒකෙ සාමාන්‍ය අදහස 'ලෝකය ආරක්ෂාවක් නැති පාලකයෙක් නැති තැනක්ය' කියන එකයි. මේ කාලෙ උනත් ඒක කිව්වොත් කෙනෙක් ටිකක් ගැස්සිල හිටිනව. 'ලෝකය ආරක්ෂාවක් නැති පාලකයෙක් නැති තැනක්: මොකද එහෙම ප්‍රකාශ කළේ? රජතුමා අහනව: 'මට ඇත්-අස්-රිය-පාබල සේනා සිටිනවා. ඒ තරම් මට ආරක්ෂාවල් තියෙනව. ඇයි මෙහෙම ප්‍රකාශ කළේ?' කියල. එතකොට රට්ඨපාල ස්වාමීන්වහන්සෙ රජතුමාගෙන් අහනව. 'මහරජ, ඔබට යම්කිසි නිදන්ගත රෝගයක් එහෙම තියෙනවද? කියල. රජතුමා ප්‍රකාශ කරනවා 'එහෙමයි, ස්වාමීනි. මට තියෙනවා බරපතල වාතාබාධයක්. සමහර අවස්ථාවල ඒ වාතාබාධය උත්සන්න උනහම මගේ නෑ හිතමිතුරන් මාව පිරිවරාගෙන 'ඔන්න දැන් කෝරව්‍ය රජතුමා කලුරිය කරාවි. මැරේවි කියල කියනව අහෙනව'. එතකොට රට්ඨපාල ස්වාමීන්වහන්සෙ අසනව, 'මහරජ, එබඳු ඒ අවස්ථාවල ඔබට පුළුවන්ද ඒ නෑ හිත මිතුරන්ට කියන්න 'අනේ මේ කට්ටිය එකතුවෙලා ටික ටික මගේ වේදනාව බෙදාගන්න. මගේ වේදනාව අඩුකරගන්න' කියල. එහෙම කරන්න පුළුවන්ද? ඔය කියන නෑ හිතවතුන්ට තමන්ගෙ වේදනාව බෙදා දීල සහනයක් ලබාගන්න පුළුවන්ද?' 'මට එහෙම කරන්න බෑ' කියල රජතුමා ප්‍රකාශ කරනව. 'ඔන්න ඕක තමයි බුදුරජාණන්වහන්සෙ ප්‍රකාශ කරල තියෙන්නෙ 'අත්තාණො ලොකො අනාභිස්සරො'. ලෝකය ආරක්ෂාවක් නැති පාලකයෙක් නැති තැනක්. තමන්ට බෑ මෙබඳු තැන්වලදී ආරක්ෂාවක් ලබාගන්න. අන්න එතකොටත් රජතුමා 'කොයිතරම් ආශ්චර්ය අද්භූත කාරණයක්ද' කියල ඒක පිළිගත්ත.

රජතුමා ඊළඟට අහනව: දැන් මට මේ රජමැදුරෙ තිබෙනවා රන් රිදී මුතු මැණික් බොහොම ධන ධාන්‍ය තිබෙනවා එහෙම තිබෙද්දී මොකද රට්ඨපාල ස්වාමීන්වහන්සෙ ප්‍රකාශ කරන්නෙ, 'අස්සකො ලොකො සබ්බං පහාය ගමනීයං' කියල. ඒකෙ අදහස ලෝකය කියන්නෙ, තමන්ටෙයි කියල අයිති දෙයක් නැති තැනක්ය. සියල්ල අතහැර යා යුතු තැනක්ය. මේ කියමනේ තේරුම මොකක්ද කියල ඇහුවාම රට්ඨපාල ස්වාමීන්වහන්සෙ විමසනව දැන් මහරජ, ඔබ මේ පඤ්චකාම සම්පත්තිය විඳිමින් හොඳට ජීවත් වෙනව. පරලොව යනකොටත් මේව අරගෙනයන්න පුළුවන්ද? එහෙම නැත්නම් මෙහේ ඉන්න කෙනෙකුට ඒව පවරල දීල යන්න වෙනවද? අතහැරල දාල යන්න වෙනව නේද? 'එය

එසේමයි, ස්වාමීනි, මට මේ එකක්වත් අරගෙන යන්න බෑ. පරලොව යන්නේ මගේම කර්මානුරූපව, මා කළ හොඳ - නරක අරගෙනයි මා පරලොව යන්නෙ' කියල රජතුමා කිව්වා. 'ඔන්න ඕක තමයි බුදුපියාණන්වහන්සෙ ප්‍රකාශ කළේ ලෝකයේ තමාට කියල අයිති දෙයක් නැත හැමදෙයක්ම අතහැරල යන්න වෙනවයි කියල'. ඒක පිළිගත්ත රජතුමා.

ඊළඟට අවසාන වශයෙන් ප්‍රකාශ කරන එක තමයි අපි මේ අවස්ථාවෙ මාතෘකා කළ ගාථාවටත් අදාළ දෙය - ඌනෝ ලොකෙ අතිත්තො තණ්හාදාසො'. ඒකත් මේ රජතුමා අසනව මොකද මේකෙ තේරුම කියල. ඒ පාඨයෙ අදහස: "ලෝකය නිතරම අඩුවක් ඇති, සෑහීමක් නැති, තණ්හාවට වහල්වූ තැනක්' කියන එකයි. එතකොට රට්ඨපාල ස්වාමීන්වහන්සේ ඒක රජතුමාට ප්‍රත්‍යක්ෂ කරවන්න අසනවා ප්‍රශ්න කීපයක්. "දැන් මහරජ, ඔබ මේ මහා සමෘද්ධියක් ඇති කුරු රටට අධිපතිව වසනවා නේද? 'එහෙමයි'. දැන් ඔබ හමුවෙන්න කවුරුවත් එනවා වරපුරුෂයෙක්, එහෙම නැත්නම් විශ්වාස කටයුතු පුද්ගලයෙක්. ඇවිල්ල, මෙහෙම ප්‍රවෘත්තියක් කියනවා: 'මම නැගෙනහිර දිශාවෙන් එන්නෙ. ඒ දිසාවෙ තියෙනවා බොහොම ධනධාන්‍ය ඇති සමෘද්ධිමත් රටක්. ඒක බොහොම පහසුවෙන් ඔබ තුමාට දිනාගන්න පුළුවන්" කියල. එහෙම කිව්වහම, මහරජ, ඔබ ඒ පිළිබඳව මොකක්ද කරන්නෙ-එහෙම ආරංචියක් ලැබුනහම?' 'මම ඒ රටත් දිනාගන්නව" ඔන්න ඊළඟට අහනව: හොඳයි ඒවගේම බටහිර දිසාවෙනුත් අර වගේම දූතයෙක් ඇවිල්ල කියනව: "ඒ පැත්තෙත් තියෙනව මේ වගේ ලොකු ජනපදයක් දේවයන් වහන්ස, ඔබ තුමාට පුළුවන් පහසුවෙන්ම ඒක දිනාගන්නට". "එතකොට එහෙනම් මම ඒකත් අල්ලගන්නව, ඒකත් ජයගන්නව", ඒවගේම උතුරු දිසාවෙනුත්, දකුණු දිසාවෙනුත්. ඔය විදියට රජතුමා ප්‍රකාශ කළාම රට්ඨපාල ස්වාමීන්වහන්සේ ඒ කාරණය එත්තු ගන්වනවා: "ඔන්න ඔය නිසා තමයි බුදු පියාණන් වහන්සෙ ප්‍රකාශ කරල තියෙන්නෙ 'ලෝකය මොකක්දෝ අඩුවක් ඇති තැනක්ය කියල'. හැම තිස්සෙම මොකක් හරි අවශ්‍යයි. කවදාවත් සෑහීමට පත්වන්නෙ නෑ. තණ්හාවට වහල්. රජතුමාත් තණ්හාවට වහල්වෙලා. රජතුමා හිතන්නෙ අධිපතියි කියල. දැන් මේ කාලෙත් නොයෙකුත් 'අධිපති' නාම තියෙන අය ඉන්නව. 'අධිපති' කියන වචනයෙ සාමාන්‍ය අර්ථයක් තිබුනට මොකද මේ හැම දෙනෙක්ම තණ්හාවට වහල් - 'තණ්හාදාසයෝ'. රජතුමාත් තණ්හා දාසයෙක්.

එතකොට මේ තණ්හාදාසභවයෙන් මිදීම තමයි තණ්හාවෙන් මිදීම කියල කියන්නෙ. නිවන කියන්නෙ මේ තණ්හා පිපාසය සංසිඳවා ගැනීම. ඒ පිපාසය සන්සිඳුනු අවස්ථාව. ලුණුකාරය වතුර ඉල්ලන්න වගේ මේ පිපාසය අනන්ත කාලයක් සංසාරයෙ අපව තල්ලු කරගෙන ආව - මේ තණ්හා පිපාසය. මේක කවදාවත් සන්සිඳෙන්නෙ නෑ. ඉතාමත් විචිත්‍ර දේවල්, ඉතාමත්ම අනාසී

සුඛෝපභෝගී දේවල්, ඒ කොයිවයින් සම්පූර්ණ උනත්. චක්‍රවර්ති රජකෙනෙකුට තියෙන සැප සම්පත් ගැන හිතන කොට මේ කාලෙ ඔය දියුණුයි කියන රටවල ඒ මහා ධනවතුන් විඳින සැපසම්පත් 'හිඟන සැප', ඒ තරම් විශාල සැප සම්පත් චක්‍රවර්ති රජවරු විඳල තිබෙනව. නමුත් එයිනුත් සෑහීමකට පත්වුනෙ නෑ. ඔන්න ඕක තණ්හාවෙ ස්වභාවය. මේ තණ්හාවට, මේ ගින්නට, දර දාල කවදාවත් නිවන්න බෑ. ඒ වෙනුවට ඒ ගින්න ඇතිවුන තැනම - එතනම, නිවා ගතයුතු වෙනව, අර බ්‍රාහ්මණය එතනම තණ්හාව නැති කරගත්ත වගේ, තමන්ගෙ කෙත පිළිබඳව. ඒ එක්කම ගැඹුරු අදහසක් ලබාගත්ත. මේකයි සසරින් මිදීමෙ හොරේ. මේකයි මෙතන තියෙන රහස කියන එක, ඒ බ්‍රාහ්මණය අවබෝධ කරගත්තු නිසා තමයි සෝවාන් තත්වය ලැබුවෙ. මෙන්න මේ න්‍යායය තමන්ට ලැබෙන ජීවන ගැටළු, ආපදා, විපත්ති තුළින් මතුකර ගැනීමෙන් තමයි අර වෙස්වළාගත්තු ආශිර්වාදයෙන් ප්‍රයෝජන ගන්න පුළුවන් වෙන්නෙ. අන්න ඒක නිසා කාලවිපත්ති වශයෙන් පෙනෙන උපද්‍රව හෝ වේවා, එහෙම නැත්නම් තව නොයෙකුත් ලෝකයේ ඇතිවන විප්ලව හෝ වේවා, මේවා තුළින් අපි මේ බුද්ධ ශාසනය මතුකර ගන්න බලන්න ඕන. 'බුද්ධ ශාසනය' කියන එක ලොකු වචනයක්, බර වචනයක්. දැන් මේ කාලෙ වචනවල ශබ්දය විතරක් ඉතිරිවෙල අර්ථය ගිලිහී යන ස්වභාවයක් තියෙනවා. විශේෂයෙන්ම ධර්මයට අදාළ වචනවල ශබ්දය එන්න එන්න වැඩිවෙනවා. නමුත් අර්ථය ගිලිහී යනවා. අන්න එබඳු වචනයක් තමයි 'බුද්ධ ශාසනය' කියන එක. දැන් මේ කාලෙ 'බුද්ධ ශාසනය' කියල කිව්වොත් ගොඩනැගිලි සිහියට නැගෙන්නෙ. නොයෙකුත් විදියෙ දේවල් සිහියට නැගෙනව ඇති, 'බුද්ධ ශාසනය' කියන කොට. නමුත් ගැඹුරින් කල්පනා කරල බලනකොට, ඒ මිහිඳු මහරහතන් වහන්සෙ ලංකාවට අරගෙන ඇවිල්ල දේවානම්පියතිස්ස රජ්ජුරුවන්ට බාරදුන්න බුද්ධ ශාසනයම තමයි බුදුපියාණන් වහන්සෙ අර දුප්පත් බ්‍රාහ්මණයගෙ ගෙදරට ගිහිල්ල දුන්නෙ. ඒ බුද්ධ ශාසනයෙ පරමාර්ථය නිවනයි. ජීවන දර්ශනය ආර්ය අෂ්ටාංගික මාර්ගයයි. සම්‍යක් දෘෂ්ටියයි, චතුරාර්ය සත්‍යයයි. ජීවන ප්‍රතිපදාව ශීල-සමාධි-ප්‍රඥා මගයි. මේකයි බුද්ධ ශාසනය. එතකොට මෙන්න මේ බුද්ධ ශාසනයයි බෞද්ධ පින්වතුන් අද වැනි දවසක සිහියට නඟාගෙන ආරක්ෂා කළයුත්තෙ.

මේ බුද්ධශාසනය ආරක්ෂා කරගන්ට උපකාරවෙන දේවල් තමයි අපි කිව්වෙ. දැන් සෝවාන් තත්වය ලබාගැනීමට නම් කාරණා හතරක් උපකාර වන බව ප්‍රකාශ කළා. සත්පුරුෂ ආශ්‍රය - මේක එදිනෙදා ජීවිතය ගැන කල්පනා කරන කොට බොහොම හිත යොදල කල්පනාවෙන් ප්‍රයෝජනයට ගතයුතු කාරණයක්, 'සත්පුරුෂ ආශ්‍රය' කියන එක. 'සත්පුරුෂයා' කියන තැනැත්තා ධර්මයේ හඳුන්වන්නෙ කළ්‍යාණ මිත්‍රයා හැටියටයි. කළ්‍යාණ මිත්‍රයා

කියල කියන්නෙ ධර්මඥානය ඇති, ධර්මයට අනුව ජීවත්වන, බණ භාවනා කරන, ගිහි හෝ පැවිදි හෝ කෙනෙක්. ධර්මානුකූල ජීවිතයක් ගෙවන තැනැත්තා තමයි සත්පුරුෂයා. එබඳු සත්පුරුෂයෙක් සමාජයට ප්‍රදීපස්ථම්භයක් වගෙයි. පහන් කණුවක් වගෙයි. 'පහන් කණුව' කියන එක මේ පින්වතුන් හොඳට දන්නව. පහන් කණුව කියන්නෙ අනුන්ට ආලෝකය දෙන වස්තුවක්. අන්න ඒවගේ පහන් කණුවක් තමයි 'සත්පුරුෂයා', 'කළ්‍යාණමිත්‍රයා' කියන පුද්ගලයා. ලෝකයේ ඇති ශ්‍රේෂ්ඨතම පහන්කණුව තමයි බුදුපියාණන්වහන්සෙ, තුන්ලෝකාග්‍ර බුදුපියාණන්වහන්සේ. ඒ ධර්මාලෝකය විහිදෙව්වූ බුදුපියාණන්වහන්සෙ. ඊට මෙහායින් සිටින්නේ අෂ්ටාර්‍ය පුද්ගල මහාසංඝරත්නය. එහෙමත් නැත්නම් ගිහි හෝ පැවිදි හෝ ධර්මානුකූල ජීවිතයක් ගෙවන, බණ භාවනා කරන පින්වතුන්. ඒ හැම කෙනෙක්ම ප්‍රදීපස්ථම්භයක්, පහන් කණුවක්, සත්පුරුෂයෙක්, කළ්‍යාණ මිත්‍රයෙක්. එබඳු කළ්‍යාණමිත්‍රයින් ආශ්‍රය කිරීමෙන් තමයි කෙනෙකුගේ දියුණුව සැලසෙන්නෙ, සංසාර විමුක්තිය ලබාගන්න පුළුවන් වෙන්නෙ. අනිත් පැත්තට කල්පනා කරල බලනකොට පාප මිත්‍රයින් තමයි ලෝකයේ වැඩිපුර සිටින්නෙ, සමාජයේ වැඩිපුර සිටින්නෙ. එබඳු ඇත්තන් හැකිතාක් දුරට ඈතින් තබාගෙන, පුළුවන් නම් ඒ අය දුරින්ම දුරුකරල, ඒ අයගෙන් ප්‍රවේසම්වෙල, ජීවිතය ගෙවිය යුතුයි. මක් නිසාද, පාපමිත්‍ර සේවනය නිසා භයානක විනාශයකට පත්වෙනවා.

එක් අවස්ථාවක ආනන්ද ස්වාමීන්වහන්සේ මේ කළ්‍යාණමිත්‍ර ආශ්‍රයේ වටිනාකම ගැන ප්‍රකාශ කරන්න ගිහිල්ල බුදුපියාණන් වහන්සේට කියනවා: 'ස්වාමීන්වහන්ස, මට පේන හැටියට නම් කළ්‍යාණමිත්‍රතාව කියන එක බුද්ධ ශාසනයෙන් බාගයක්ය, මේ බුද්ධ ශාසනයෙන් බාගයක්ම වටිනවයි කළ්‍යාණ මිත්‍රතාව. බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරනව. 'ආනන්ද, එහෙම කියන්න එපා. මේ බුද්ධ ශාසනයෙන් බාගයක් නොවෙයි මුළු මහත් බුද්ධශාසනයම කළ්‍යාණ මිත්‍රත්වයයි කියල. බුද්ධ ශාසනය කියල කියන්නෙ කළ්‍යාණ මිත්‍රත්වයයි. කළ්‍යාණමිත්‍ර සම්පත්තියයි. දැන් මේ පින්වතුන් යම්කිසි කළ්‍යාණමිත්‍රත්වයක් නිසයි මෙතනට රැස්වෙලා සිටින්නෙ. එකිනෙකා සමහරවිට අඳුනන්නෙ නැතිව ඇති. වෙන වෙනම පෞද්ගලික වශයෙන් සම්බන්ධකම් ඇති අය නොවෙන්න පුළුවන්. නමුත් ධර්මය අතින් - ධර්මශ්‍රවණයට, ධර්මයට ලැදිවීම අතින් කළ්‍යාණ මිත්‍ර ගුණය තියෙනවා. අන්න ඒ විදියට තමයි බුද්ධ ශාසනයක් පවතින්නෙ. පාපමිත්‍ර ආශ්‍රයෙන් ශාසනය පරිහානියට පත්වෙනවා. කළ්‍යාණමිත්‍රයින් සොයාගෙන ගිහිල්ල, ඒ අය ඇසුරු කරල, ඒ අයගෙන් ගතයුතු දේ ගනිමින් - උපකාර ගනිමින්-තමයි බුද්ධශාසනයක් ආරක්ෂාකරගන්නට වෙන්නෙ. කළ්‍යාණමිත්‍ර ආශ්‍රය - 'සප්පුරිස සංසෙවො' කියනඑක - ඉතාම දුර්ලභ දෙයක්. බුදුපියාණන් වහන්සේ දුර්ලභ කාරණා හයක් දක්වලා තියෙනවා.

1. දුල්ලභො බුද්ධුප්පාදො ලොකස්මිං
2. දුල්ලභො මනුස්සත්තපටිලාභො
3. දුල්ලභා ඛණසම්පත්ති
4. දුල්ලභා පබ්බජ්ජා
5. දුල්ලභං සද්ධම්මසවනං
6. දුල්ලභො සප්පුරිස සංසෙවො

බුද්ධෝත්පාදකාලය ඉතාම දුර්ලභයි. මනුෂ්‍යාත්මභාවය ඉතාම දුර්ලභයි. ඒ වගේම ක්ෂණසම්පත්තිය දුර්ලභයි. අපි අර සඳහන් කළ, බුද්ධෝත්පාදකාලයේ ලබන අංග විකලත්වයෙන් තොර ඥානවන්ත මනුෂ්‍යාත්මභාවය ක්ෂණසම්පත්තියයි. ඒකත් දුර්ලභයි. ඊටත් වඩා දුර්ලභයි පැවිද්ද. ඊළඟට ඊටත් වඩා දුර්ලභයි ධර්මශ්‍රවණය. ඒ හැම එකකටම වඩා දුර්ලභව තියෙන්නෙ, අවසාන වශයෙන්, සත්පුරුෂ ආශ්‍රය - 'සප්පුරිස සංසෙවො'. සත්පුරුෂ ආශ්‍රය හරියට අර ඉලක්ක පුවරුවක මැදින් තියෙන තිත වගෙයි. මක්නිසාද, බුද්ධෝත්පාද කාලය දුර්ලභ උනත් ඒක තුළ තවත් හුඟක් කාරණා එකතු වෙන්න ඕන කෙනෙකුට විමුක්තිය ලබන්න. බුද්ධෝත්පාද කාලය ලැබුවත් මනුෂ්‍යාත්මභාවයත් ලැබෙන්න ඕන. මනුෂ්‍යාත්මභාවයත් එක්කම ක්ෂණසම්පත්තිය, පැවිද්ද, ඊළඟට ධර්මශ්‍රවණය. ඔය විදියට කාරණා එකින් එක එන්න එන්නම ඉතාම දුර්ලභයි. නියම කල්‍යාණ මිත්‍ර ආශ්‍රය හරියට ලැබුන නම් අන්න එබඳු පුද්ගලයාට නිවන ඉක්මන් වෙනවා. අර බ්‍රාහ්මණයට වාසනාවකට වගේ ලෝකයෙ ඉන්න උතුම්ම කල්‍යාණමිත්‍රයාණන් වහන්සේ හමුවුනා. ඒක නිසා තමයි අර තරම් ඉක්මණින් ඒ තත්ත්වය ලැබුවෙ. ඒවගේම තමයි සද්ධර්මශ්‍රවණය. නිර්වාණගාමී ධර්මය අසන්ට, ඒකට කන් යොමුකරන්නට, හිත යොමුකරන්නට ඕන. ධර්මය අවබෝධ කරගන්නට උත්සාහවත් වෙන්නට ඕන. සාමාන්‍ය චාරිත්‍රයක් හැටියට නොවෙයි ධර්මශ්‍රවණය කරනවා කියල කියන්නෙ. තමා තුළ ඇති නිවනට උපකාරීවන ධර්ම සමූහය එක්තැන් කරලා මාර්ගඵල අවබෝධය ඒ ධර්මශ්‍රවණ අවස්ථාවෙ පවා ලබාගන්න තරම් හිත යොදල, හිත යොමු කරල, සමාධිමත්ව ඇසිය යුතු දෙයක් තමයි ධර්මය කියන එක. ඊළඟට, ඒ විදියට ධර්මය අසන අවස්ථාවෙ තමයි යොනිසෝ මනසිකාරය, නුවණින් මෙනෙහි කිරීම. දැන් අර බ්‍රාහ්මණය නුවණින් මෙනෙහි කරලයි කෙත දිහා බලං ඉඳල එකපාරටම හිත දිහා බලන්න පටන් ගත්තෙ යෝනිසෝමනසිකාරය වශයෙන්. ඊළඟට එසේ බැලීම නිසා ඇතිවන විශාල විපුලත්වය තමයි ධර්මානුධර්ම ප්‍රතිපත්තිය කියන එක. ඇතැම් කෙනෙකුට ඒක මොහොතකදී සම්පූර්ණ වෙනව. නමුත් බොහෝ දෙනාට ඒක පූර්වභාග වශයෙන් දීර්ඝකාලයක් තිස්සෙ පුරුදු කරන්නට වෙනවා.

ඒක තමයි තමන්ගේ ජීවිත රටාව හැඩගස්වා ගන්න ඕන වෙන්නෙ. ඒ ජීවිත රටාව තමයි ආර්ය අෂ්ටාංගික මාර්ගය කියල කියන්නෙ. සම්මාදිට්ඨි, සම්මාසංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි කියන ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගය තුළිනුයි කෙනෙකුගෙ මුළුමහත් ජීවිතයම ධර්මානුකූලව හැඩ ගැහෙන්නෙ.

සම්මා දිට්ඨි කියන්නෙ හරි දැක්ම-හරි ජීවන දර්ශනය. හොඳ නරක, කුසල් අකුසල් වටහාගෙන, දුක, දුකට හේතුව, දුකින් මිදීම කියන නිවන. ඊට මාර්ගය වන ආර්ය අෂ්ටාංගික මාර්ගය කියන ඒ චතුරාර්ය සත්‍යය පිළිබඳව යම්කිසි මට්ටමක අවබෝධයක් ලබාගෙන, ඒ දෘෂ්ටිය, ඒ සම්‍යක් දෘෂ්ටිය පෙරටු කරගන්නව. 'සම්මාදිට්ඨි පුබ්බඞ්ගමා' කියල ප්‍රකාශ කරනව. හැම තැනම දිට්ඨිය ප්‍රමුඛ වෙනව. පෙරටු වෙනවා. දැන් මේ පින්වතුන් උනත් පාරේ ගමන් කරන කොට ටිකක් ඈත බලන්නෙ මොකද? ඈත බලල හරියට යන තැන පිළිබඳව යම්කිසි අධිෂ්ඨානයක්, සහිටුහනක්, ඇති කර ගන්නවා. ඒවගේ, සම්මා දිට්ඨියෙන් චතුරාර්ය සත්‍යය පිළිබඳ අවබෝධයක් තියෙනවා නම්, 'මගේ ගමන නිවන් ගමනක්, නිවන් කරා යන ගමනක්' කියල නිවන් ඉලක්කය ඇතිකරගන්නව. 'බුද්ධශාසනය' කියන්නෙ නිවන ඉලක්කය කරගත්තු ජීවන ක්‍රමයක්. ගොඩනැගිලි නොවෙයි. එතකොට. අන්න ඒ විදියට සම්මාදිට්ඨියක් - හරි දැක්මක් - ඇති උනා නම්, ඊළඟට තියෙන්නෙ, හරි දැකුම් අනුව යන හරි සිතුම් පැතුම්. ඒ ජීවනදර්ශනය අනුව හොඳ සිතුම් සංකල්පනා - හොඳ සිතිවිලි - ඇතිකරගන්නට ඕන. ද්වේෂයට ප්‍රතිවිරුද්ධ මෛත්‍රී සිතුවිලි, හිංසාවට ප්‍රතිවිරුද්ධ අවිහිංසා සිතුවිලි - ඔය සිතිවිලි නිතර වගාකරගන්නට ඕන. ඒ විදියට හරි සිතුම් පැතුම් ඇති උනා නම් ඒ හැනැස්සාගෙන් පිටවන වචනත් නිවැරදි වචන, සත්‍ය වචන, අනුන් භේද නොකරවන වචන, පරුෂ වචන නොවන මුදු මොළොක් වචන, ධර්මානුකූල වචන. ඒ විදියට හොඳ වචන පාවිච්චි කරනවා. ඊළඟට ක්‍රියාමාර්ග තමයි සතුන් මැරීම, සොරකම් කිරීම, කාම මිථ්‍යාචාරය කියන කයින් කෙරෙන වැරදිවලින් වෙන්වීම. ඊළඟට හොඳ දිවි පැවතුම් තමයි අපි අර මේ අවස්ථාවේ සමාදන්වුන ආජීවඅට්ඨමක ශීලයේ සඳහන්වන කාරණා. මිථ්‍යා ආජීවය කියන දෙයින් වෙන්වීමක් ගැන ප්‍රකාශ කළා. මේ කාලෙ බොහෝවිට ආර්ථිකය නඟාසිටුවීම සඳහා දරණ ප්‍රයත්නයට වහල්වෙලා වැරදි ජීවිකාවලට බොහෝදෙනා යොමුවෙනව. දුර්ග බව නිසා හෝ වෙන හේතු නිසා හෝ ඒවා කළා වේවා, මේ සංසාරයේ තියන නිරයාදී භයානක තැන්වලට යාමට ඒවා උපකාර වෙන නිසයි බුදුපියාණන් වහන්සෙ ඒවා තහනම් කොට වදාළේ. මොනවාද ඒවා? අවි ආයුධ වෙළඳාම, සතුන් මසට ඇතිකිරීම, විෂද්‍රව්‍ය වෙළඳාම, මාංශ වෙළඳාම. මත්පැන් වෙළඳාම. මෙන්න මේවායින් ජීවිකාව

ගෙනයාම තමන්ගේ පරිහානියට හේතුවන බව බුදු පියාණන් වහන්සේ වදාළා. සමහරවිට ඒවායින් ඉක්මණින් පොහොසත් වෙන්න පුළුවන්. නමුත් එහෙම පොහොසත් උනාට මොකද, ඒවායේ භයානක විපාක විඳින්නට සිදුවෙන නිසයි බුදුපියාණන් වහන්සෙ ඒවා තහනම්කොට වදාළේ. අන්න ඒක නිසා මිථ්‍යා ආජීවයෙන් වෙන්වෙලා හොඳ දිවිපැවතුම් ඇති කර ගැනීම කෙනෙකුට ලොකු සහනදායී දෙයක්. පසුතැවිල්ලක් නෑ එබඳු පුද්ගලයෙකුට. ඒ හිත නිතරම පිරිසිදුයි. අන්න ඒ පිරිසිදු බව මහා ධනස්කන්ධයක් ඇති තැනැත්තෙකුටවත් නෑ. එහෙම නැත්නම් ලොකු වැටුප් ඇති කෙනෙකුටවත් ඒ සතුට නෑ. තමන්ගෙ නිදොස්බව. ඒකට කියනවා අනවජ්ජසුඛය කියල. නිවැරදි බව පිළිබඳ සැපය. පසුතැවිල්ලක් නැති බව ලොකු සැනසිල්ලක්. මහා ධනස්කන්ධයක් ලබාගන්න කෙනෙකුට සමහරවිට නින්ද යන්නෙ නෑ. තමන්ට මතක් වෙනවා තමන් ඒ ධනස්කන්ධය ලබාගත්තෙ අයථා මාර්ගවලින් බව. ඒ නිසා අවසාන සැනසිල්ල බලාපොරොත්තුවන කෙනෙකු විසින් අවශ්‍යයෙන්ම තමන්ගේ දිවිපැවැත්ම ගැන සළකල බලන්ට ඕන. සමහරවිට පරම්පරාගත වැරදි ජීවිකාවලට සමහර අය ඇබ්බැහිවෙල සිටිනවා. 'මව්පියන්ගෙන් පැමිණි ඒ රැකීරක්ෂාවල් අතහරින්න බෑ. ඒවා තමයි අපට ප්‍රවේණි හැටියට උරුමවෙලා තියෙන්නෙ. ඒවා අපට පුරුදු දේවල්' කියල. නමුත් බුද්ධවචනය යම් කෙනෙක් හරියට තේරුම්ගත්ත නම් ඒවායින් තමන්ට වන ලාභය ගැන නොතකා ධර්මානුකූලව තමන්ගේ ජීවිකාව සකස් කරගන්නවා. සමහරවිට සුළු වැටුපක් ලබන, අඩු ආදායමක් ලැබෙන ධාර්මික රැකියාවකට යොමුවෙනවා. ඒකයි හරි දිවි පැවතුම් කියන්නෙ.

'සම්මා ආජීවය' සකස්කරගැනීම සඳහා යොදන උත්සාහය තුළින් ඒ තැනැත්තාට 'සම්මා වායාම' කියන 'හරි වෙරදැරුම්' ඇතිවෙනවා, තියම වීර්‍ය තමයි තමාගේ සිත තුළට ගලාගෙන එන අකුසල් සිතිවිලි වැළැක්වීමටත්, සිත තුළ තිබෙන අකුසල් සිතිවිලි ඉවත් කර ගැනීමටත්, තමා තුළ නැති කුසල් සිතිවිලි ඇතිකර ගැනීමටත්, තමා තුළ තිබෙන කුසල් සිතිවිලි තහවුරු කරගැනීමටත් දරණ වීර්‍යය. ඒ සතරාකාර වීර්‍යයටයි 'සම්මා වායාම' කියල කියන්නෙ. ඒ විදියට වීර්‍යය යොදන තැනැත්තා ඒ වෙනුවෙන් යොදන සතිය - සිහිය - නිසා 'සම්මා සති' කියන හොඳ සිහිය ඇතිව ජීවත් වෙනවා. හොඳ මුරකරුවෙක් වගේ. සිහිය හොඳට පාවිච්චි කරනව නම් හොඳට වැටහෙනව අර සතර සතිපට්ඨානය. තමන්ගෙ කය පිළිබඳවත්, වේදනා පිළිබඳවත්, හිත පිළිබඳවත්, හිතට එන සිතිවිලි පිළිබඳවත් හොඳට වැටහෙනවා. ඒ සතර සතිපට්ඨානය ක්‍රමානුකූලව වැඩීමෙන් තමයි සම්මා සමාධි කියන උතුම් ධ්‍යාන තත්ත්ව පවා කෙනෙකුට ලබාගන්න පුළුවන් වෙන්නෙ. ඒ විදියට ආර්‍ය අෂ්ටාංගික මාර්ගය යම් කෙනෙකු තුළ සම්පූර්ණ උනා නම් අන්න එතනමයි

නිවන. ලෝකෝත්තර වශයෙන් ආර්ය අෂ්ටාංගික මාර්ගය සම්පූර්ණ වීම හා සමගම සෝවාන්, සකදාගාමී, අනාගාමී, අර්හත් කියන මාර්ගඵල අවබෝධය කෙනෙකුට ලබාගන්න පුළුවන්.

අන්න එතකොට මේ පින්වතුන් කල්පනා කරන්න ඕන අද වැනි දවසක අපි බුද්ධ ශාසනයක් ගැන කථාකරනව නම්, බුද්ධ ශාසනය කියල කියන්නෙ ඔන්න ඕකයි - ආර්ය අෂ්ටාංගික මාර්ගයයි, චතුරාර්ය සත්‍යයයි, එහෙම නැත්නම් ශීල, සමාධි, ප්‍රඥා වැඩීමයි. ඔය විදියෙ වචනවලින් හඳුන්වනව මිසක් බුද්ධ ශාසනය වෙන ගොඩනැගිලි ආශ්‍රයෙන්, සංකේත ආශ්‍රයෙන් හඳුන්වන්න බෑ. ඒක නිසා ඒ බුද්ධ ශාසනය ආරක්ෂා කරගැනීම බෞද්ධ වූ අපේ යුතුකමක් නම් ඒ අනුව ජීවිත රටාව, ජීවන දර්ශනය, සකස් කර ගැනීමටත් උනන්දු වියයුතුව තිබෙනවා. මේ ධර්ම දේශනාවේදී ඉදිරිපත් කළ කථාව සාමාන්‍ය සරල කථාන්තරයක්. මේවා පැරණි පොත්වල තියෙන දේවල් කියල අහක දාන්න නරකයි. මේ කාලෙ තිබෙන ඔය නවකථා, කෙටි කථා වගේ නොවෙයි, මේවා කෙලින්ම අපේ මේ ජීවිත සරසවියෙ අත්දැකීම්වලට අදාල දේවල්. අන්න ඒක නිසා ඒ අත්දැකීම් තුළින්ම නිවන ප්‍රත්‍යක්ෂ කරගන්න මේ පින්වතුන් උත්සාහ වෙන්න ඕන. විශේෂයෙන්ම, ධර්මශ්‍රවණය කරන අවස්ථාව - බුදුපියාණන්වහන්සේ වදාළ - විමුක්ති ආයතනයක් හැටියට විමුක්තිය ලබාගන්න තැනක්. නොයෙකුත් විදියේ විමුක්ති තියෙනවා. නමුත් සංසාර විමුක්තිය ලබාගන්න තැන් බුදුපියාණන් වහන්සෙ ප්‍රකාශ කරල තියෙනව. ධර්ම ශ්‍රවණය කරන අවස්ථාව එබඳු අවස්ථාවක්. ධර්ම දේශනා අවස්ථාවත් එබඳු අවස්ථාවක්. එතකොට මේ පින්වතුන් හොඳට ධර්මශ්‍රවණය කළා නම්. ඒ විමුක්තියට උපකාරවන - නිවනට උපකාරවන - කුසල් සිතිවිලි රාශියක් මේ අවස්ථාවෙ චිත්ත සන්තානයෙ ඇතිවෙන්න ඇති. ඒ කුශල චේතනා රාශිය උපනිශ්‍රය කරගෙන මේ පින්වතුන්ට මේ අතිභයානක ඝෝරතර සංසාරයෙන් අත්මිදිල ජාති ජරා ව්‍යාධි මරණාදී සියළු සංසාර දුකින් නිදහස්වූ අජරාමර සංඛ්‍යාත උතුම් අමාමහ නිවන් සුව ප්‍රත්‍යක්ෂ කරගැනීමට හැකිවේවායි ප්‍රාර්ථනා කරගන්න ඕන. ඒ වගේම ශාසනාරක්ෂක දිව්‍යබ්‍රහ්ම මණ්ඩලයත්, මේ ස්ථානයට අධිගෘහිත දෙවිදේවතාදී යම් පිරිසක් ඇතොත් ඒ හැමදෙනාත්, නිවන් කැමති, පින් කැමති සියලු දෙනාත් මේ ධර්ම දේශනාමය, ධර්මශ්‍රවණමය කුශලය අනුමෝදන් වෙත්වා! කියා ප්‍රාර්ථනා කරන්න ඕන. ඒ වගේම තම තමන්ගේ ඥාතිමිත්‍රාදීන් ඇතුළු, අවීචියේ පටන් අකනිට්ඨා බඹලොව දක්වා යම්තාක් පින් කැමති, නිවන් කැමති සත්ත්වයෝ වෙත් නම්, ඒ හැම දෙනොත්මත් මේ ධර්මදේශනාමය, ධර්මශ්‍රවණමය කුශලය අනුමෝදන් වී සියලු සංසාර දුකින් අත්මිදී අමාමහ නිවන් සුවයෙන් සැනසෙත්වා! කියන ප්‍රාර්ථනාව ඇතිකරගෙන දැන් මේ විදියට ගාථා කියල පින් පමුණුවන්න.

'එත්තාවතා ච අම්හෙහි..........'

# 2 වන දේශනය

කුම්භූපමං කායමිමං විදිත්වා
නගරූපමං චිත්තමිදං ඨපෙත්වා
යොධෙථ මාරං පඤ්ඤායුධෙන
ජිතංච රක්ඛෙ අනිවෙසනො සියා ති

-චිත්ත වග්ග, ධ.ප.

ශ්‍රද්ධාවන්ත පින්වතුනි!

මේ අතිභයානක සංසාර දුක්ඛයෙන් මිදීමේ යෝධ ප්‍රයත්නය මාර සංග්‍රාමයක්, මාර සටනක් හැටියට බුදුපියාණන් වහන්සේ බොහොම අවස්ථාවල දක්වල තිබෙනවා. එහෙම ඒ මාර සංකල්පය ඉදිරිපත් කරල තිබෙන්නෙ, සටන් සංකල්පයක් බුදුපියාණන්වහන්සේ අපේ සිත් තුළට දාන්නෙ, මොකද සියල අපි ටිකක් හිතල බලන්ට ඕන. සාමාන්‍යයෙන් මේ සංසාර දුක්ඛයෙන් මිදීම සඳහා භාවනාව ආරම්භකරන යෝගාවචර පින්වතුන්ට පිටකින්නුත් ඇතුළකින්නුත් බාධක රාශියක් ඉදිරිපත් වෙනවා. ඒ බාධක හමුවේ බොහෝවිට භාවනා යෝගියා හිත දුර්වල කරගන්නවා, අධෛර්‍ය වෙනවා, පසුබට වෙනවා. අන්න ඒ පසුබට වෙන ගතිය ඉවත් කරල ධෛර්‍ය සම්පන්න කිරීමටයි බුදුපියාණන් වහන්සෙ මේ කෙලෙස් සටන මාර සංග්‍රාමයක් හැටියට දැක්වුවෙ. මොකද ඒකට හේතුව, මිනිස් හිත තුළ ගැබ්වෙලා තිබෙන මේ සටන්කාමී බව මතුකර දීම එබඳු ඒ හිත අධෛර්‍යවෙන-පසුබට වෙන අවස්ථාවල්වල හිත ශක්තිමත් කරගැනීමට උපකාර වෙනවා. අන්න ඒක නිසා බුද්ධ දේශනාවේ ඒ ඒ තැන්වල මහ පුදුම විදියෙ සටන් පාඨ, මාර සංග්‍රාමය පිළිබඳ සටන්පාඨ, සඳහන් වෙනවා. ඒ වගේ, ඒ සටන් පාඨයක් වගේ, ගාථා ධර්මයක් තමයි අපි මේ මාතෘකා වශයෙන් තබාගත්තෙත් මේ අවස්ථාවෙ.

මේ ගාථාව බුදුපියාණන් වහන්සෙ දේශනාකොට වදාරන්න හේතුවුන අවස්ථාව පොත-පතේ සඳහන්වන්නෙ මෙහෙමයි. බුදුපියාණන් වහන්සෙ සැවැත් නුවර ජේතවනාරාමෙ වැඩවාසය කරන කාලයේ විදර්ශනා භාවනා වඩන පන්සියයක් භික්ෂූන්වහන්සේලා බුදුපියාණන් වහන්සේගෙන් භාවනා කර්මස්ථාන ලබාගෙන ඈත ගමකට, හොඳ පහසු ස්ථානයක විදර්ශනා වැඩීමේ අදහසින් පිටත්ව වැඩම කළා. ඒ විදියට ඒ යොදුන්ගණන් ගිහිල්ල එක්තරා ස්ථානයකට

වැඩම කරල - එක්තරා ගමකට - ඒ ගමේ පිණ්ඩපාතෙ එහෙම වඩින අතරේ ඒ ශ්‍රද්ධාවන්ත මනුෂ්‍යයින් සංඝයාවහන්සෙලාගේ අදහස් විමසල, මෙහෙම භාවනාවට සුදුසු තැනක් සොයන බව තේරුම්ගත්තට පස්සෙ, ආරාධනාකරල 'මේ කිට්ටුව හොඳ විවේක වන ලැහැබක් එහෙම තිබෙනවා. මේක ආශ්‍රිතව ස්වාමීන්වහන්සේලා මේ තුන් මාසය වැඩ වාසය කරන්න. අපටත් සිල් රකින්න, තුනුරුවන් පිළිබඳ ශ්‍රද්ධාව ඇතිකර ගන්න, හොඳ අවස්ථාවක් වෙනවා" කියල එහෙම ආරාධනා කළා. මේ සංඝයාවහන්සේලාත් ඒ ආරාධනාව අනුව අර කියාපු අර විවේක වන ලැහැබට ඇතුල් උනා. ඒ වන ලැහැබෙ ගස්වලට අධිගෘහිත, අරක්ගත්තු, වෘක්ෂදේවතා පිරිස මේ ස්වාමීන්වහන්සේලා ශීලවන්ත නිසා ඒ ශීල තේජස ගැන කල්පනාකරල හිතුවා මේ ස්වාමීන් වහන්සේලා බිම ඉඳිද්දී අපි ඉහළ ඉන්න එක සුදුසු නෑ කියල, ගස්වලින් බැස්සා. කල්පනාකරල මේ ස්වාමීන්වහන්සේලා අද රෑ විතරයි මෙතන වාසය කරන්නෙ කියල. නමුත් මේ ස්වාමීන්වහන්සේලා ගමට පිණ්ඩපාතෙ වැඩලා නැවත ඊළඟ දවසෙත් ඒ ස්ථානයට පැමිණිය. ඔන්න ඊළඟට මේ දේවතාවුන්ට දිගටම ඒ විදියට බිම ඉන්න සිද්ධ වෙනවා කියන හැඟීම ඇතිවුනා. දවස් ගණනක්ම ඒ විදියට සංඝයාවහන්සේලා නැවතෙනකොට ඊළඟට මේ දේවතාවුන් තේරුම්ගත්තා මේ ස්වාමීන් වහන්සේලා මාස ගණනක් මෙතන ඉන්නවා වෙන්න ඇතෙයි කියල. ඊළඟට කල්පනා කළා 'අපි කොයි ආකාරයකින් නමුත් මේ ස්වාමීන් වහන්සේලා පන්න ගන්න ඕන. එහෙම නැත්නම් අපිට මේ ගස්වලට ආයිත් නගින්න බැරිවෙනවා. ගස්වල වාසය කරන්න බැරි වෙනවා' කියල හිතාගෙන මොකද කළේ මේ ස්වාමීන්වහන්සේලා භාවනාකරන ස්ථානවල නොයෙකුත් විදියේ රූප දක්වන්න පටන් ගත්ත. හිස්සුන් මළකඳන් ආදී බියජනක රූප ඒ වගේම අමනුෂ්‍ය ශබ්ද, සක්මන් කරන තැන්වල එහෙම - ඒ විදියට මේ ස්වාමීන්වහන්සේලා බය කරන විදියෙ දේවල් පෙන්නුම් කළා. මේ ස්වාමීන්වහන්සේලාත් හිතේ ඇතිවුන බය නිසා හරියට නිදි එහෙම ලබන්නෙ නැතිව රෝගී උනා. එක එක ස්වාමීන්වහන්සේලාට එක එක රෝග. ඉතින් උන්වහන්සේලා ඔවුනොවුන් අතරේ සාකච්ඡා කරන අතරේ මෙන්න මේ විදියෙ දර්ශනයක් දැක්කා කියල ප්‍රකාශ උනාට පස්සෙ ඊළඟට කල්පනා කළා අපිට මේක සප්පාය තැනක් නොවෙයි. මේ විදියෙ අමනුෂ්‍ය උපද්‍රව තියෙන තැනක්. අපි යන්න ඕන වෙන තැනක් හොයා ගන්න. පළමුවෙන්ම බුදුපියාණන් වහන්සේට මේ කාරණය දන්වන්න ඕන කියල නැවතත් බුදුපියාණන් වහන්සෙ සොයා ගෙන වැඩම කළා.

බුදු පියාණන් වහන්සෙ ඇහුවා "මොකද මහණෙනි, මේ නැවත ආවෙ" කියලා. එතකොට 'මෙන්න මේ විදියෙ උපද්‍රව කරදර අපට තිබෙනවා" කියල ප්‍රකාශ කළා. නමුත් බුදුපියාණන් වහන්සෙ වදාළා "මහණෙනි ඒ උනාට

එතනටම යන්ට ඕන. එතන තමයි ඔය නෑලට හොඳ  ැන්" කියල ඔහොම ප්‍රකාශ කළා. මේ ස්වාමීනවහන්සේලා නැවතත් බැගෑපත්ව කියා හිටියා "අනේ අපට නම් එතෙන්ට තවත් යන්න බෑ" කියල. එතකොට බුදුපියාණන් වහන්සේ වදාළා "මහණෙනි, තුඹලා ඒ ගියෙ ආයුධයක් නැතිවයි. හරියට ආයුධයක් අරගෙනම මේ සැරේ පිටත්වෙන්න' කියලා.

එතකොට ඒ සංඝයා වහන්සේලා ඇහුවා "මොකක්ද භාග්‍යවතුන් වහන්ස! ඒ ආයුධය" කියල. ඒ ආයුධය තමයි ඊළඟට බුදුපියාණන් වහන්සෙ මෙත්ත සූත්‍රය හැටියට ඉදිරිපත් කළේ. පළමුවෙනි වරට ඒ සංඝයාවහන්සේලා වෙනුවෙන් බුදු පියාණන් වහන්සේ ලෝකයාට උපකාර වන මේ මෙත්ත සූත්‍රය වදාළා. "මේ මෙත්ත සූත්‍රය පාඩම් කරගෙන ඒ වන ලැහැබට ඇතුල්වන අවස්ථාවෙ ඈත ඉඳලම සජ්ඣායනා කරමින් ඇතුල් වෙන්න. ඒක නිතර පරිහරණය කරන්න" කියල බුදු පියාණන් වහන්සේ අර සංඝයාවහන්සේලාට අවවාද දුන්නා. ඒ සංඝයාවහන්සේලාත් ඒ ආකාරයෙන්ම ඒ වන ලැහැබට පිවිසෙන අවස්ථාවෙ ඉඳලම සජ්ඣායනා කරමින්. ඒ කරණීය සූත්‍රය ආශ්‍රය කරගෙන මෛත්‍රී සිත ඇතිකර ගත්තා. ඒ මෛත්‍රී බලය නිසාම අර කලින් කරදර කළ දෙවි දේවතාවුන්ගෙ සිත මෘදු මොළොක් වෙලා - එතන සඳහන් වෙනවා - වෙන එකක් තබා පෙර ගමන් කරලා නොයෙකුත් ආකාරයෙන් ඒ සංඝයාවහන්සේලාට වත් පිළිවෙත් කිරීමට පවා ඉදිරිපත් වුනයි, ඒ වගේම ආරක්ෂා සංවිධාන පවා යෙදුවයි කියල. අර අමනුෂ්‍ය ශබ්ද, නොයෙකුත් රූප පෙනීම් ආදිය එහෙම පිටින්ම නැති වුනා. සංඝයාවහන්සේලාට හොඳට භාවනා කරගන්න, සිත සැනසුම් කරගන්න පුළුවන් විදියෙ පරිසරයක් ඇතිවුනා. ස්වාමීන් වහන්සේලාගේ සිත එකඟවුනා, මෛත්‍රී සමාධිය එහෙම උපකාරී කරගෙන. එහෙම එකඟවුනාට පස්සෙ ඔන්න අර ස්වාමීන්වහන්සේලා සිත ඊළඟට විදර්ශනාවට නැඹුරු කර ගත්ත. තමන්ගෙ මේ ශරීර කුඩුව ගැන හිතලා මේ ශරීර කුඩුව හරියට බිඳෙන සුළු කළයක් වගෙයි කියල මේකෙ අස්ථිර ස්වභාවය, අනිත්‍ය දුඃඛ අනාත්ම ස්වභාවය ගැන හිතමින් මේ පන්සිය නමම විදර්ශනාව වඩන්න පටන් ගත්තා. මේ අවස්ථාවේදී බුදුපියාණන් වහන්සේ අර යොදුන් ගණන් ඈත ජේතවනාරාමයෙහි වැඩ වාසය කරමින් ඉන්න අවස්ථාවෙ මේ සංඝයාවහන්සේලා පිළිබඳව නිරීක්ෂණය කළා- බුදුපියාණන් වහන්සේගෙ විශේෂ දෙයක් තමයි ඒ තමන් කමටහන් දීල පිටත්කළ සංඝයාවහන්සේලා කොයි තැනක, කොයි තරම් දුරක හිටියත්, ඒ බුද්ධඥානයට - ඒ බුද්ධඥානදැලට - ඇතුළත් කරගෙන - දැන් මේ කාලෙ තියෙන කිසිම යන්ත්‍රයකින් පෙන්නුම්කරන්නට බැරි තරම් මහා පුදුම විදියේ බුද්ධ ඥානයක් තිබෙන නිසා බුදුපියාණන්වහන්සේ ඒ තමන් කමටහන් දුන්නු ශිෂ්‍යයින්ගේ සිත ක්‍රියාකරන ආකාරය ගැන නිතර සෙවිල්ලෙන් සිටිනවා.

ඒක නිසා දුටුවා මේ පන්සිය නමම දැන් විදර්ශනා මාර්ගයට බැහැලයි සිටින්නේ, ඒ පැත්තෙයි සිහිවිලි යන්නෙ කියල උන්වහන්සේල ආරම්භ කළ, ඒ කළය පිළිබඳ කම්ස්ථානය හැටියට හිතට ගත්තු අදහස මුල් කරගෙනම බුදු පියාණන් වහන්සේ ඊළඟට අපි අර මුලින් සඳහන් කළ ගාථා ධර්මය ප්‍රකාශ කොට වදාළා. ඒ ගාථා ධර්මය කොයිතරම් අර්ථවත්ද කියතොත්, කොයි තරම් භාවනාවෙහි ගැඹුරු අංශ ඒක තුළ ගැබ්වෙනවද කියතොත්, ඒ ගාථා ධර්මය අහල අර සංඝයාවහන්සේලා සිව්පිළිසිඹියාපත් මහ රහතන්වහන්සේලා බවට පත්වුනා කියලා සඳහන් වෙනවා. එතකොට ඒ ගාථා ධර්මය අපි නැවතත් මතක් කර ගනිමු.

'කුම්භූපමං කායමිමං විදිත්වා
නගරූපමං චිත්තමිදං ඨපෙත්වා
යොධෙථ මාරං පඤ්ඤායුධෙන
ජිතංච රක්ඛෙ අනිවෙසනො සියා."

"කුම්භූපමං කායමිමං විදිත්වා" - මේ කය, මේ ශරීරය, කළයකට උපමාකළ හැකි බව දැනගෙන, තේරුම් අරගෙන,

"නගරූපමං චිත්තමිදං ඨපෙත්වා" - මේ අපේ සිත නගරයකට උපමා කළ හැකි තරම් ඒ තත්ත්වයේ තබාගෙන, ආරක්ෂා කළ යුතු නගරයක් හැටියට හිතාගෙන,

"යොධෙථ මාරං පඤ්ඤායුධෙන" - ප්‍රඥාව නමැති ආයුධයෙන් මාරයා සමග යුද්ධකරන්න, යුද්ධ කරව.

"ජිතංච රක්ඛෙ අනිවෙසනො සියා" - එහෙම යුද්ධ කරල යමක් දිනා ගත්තා නම් ඒක ආරක්ෂා කරගන්න. හැබැයි "අනිවෙසනො සියා" "ඒ දිනාගත්තු දෙයෙහි ඇලී ගැලී පැලපදියම් වී සිටින්නට එපා. එතනම නැවතිල ඉන්න එපා" කියන ඒ විශේෂ අවවාදයකුත් ඒ ගාථාවෙ සඳහන් වෙනවා.

එතකොට මේක ඉතාමත්ම ගැඹුරු ගාථාවක්. විශේෂයෙන්ම භාවනාවට යොමුවන අයට මේ ගාථාවෙන්, අර ධර්ම කථාවෙන් - අර නිදාන කථාවෙන් - ගත යුතු විශාල උපදේශ රාශියක්, ඉතාමත්ම වැදගත් උපදේශ රාශියක් අපට ගෙනහැර දක්වන්න පුළුවනි.

දැන් ඒ නිදාන කථාව ගැන අපි මොහොතකට හිතල බැලුවොත් එතනින් පෙන්නුම් කරන්නෙ දැන් අර ස්වාමීන් වහන්සේලා විදර්ශනාව වඩල නිවන් දකින්න හිතා ගෙනයි වැඩම කළේ. ඒ නමුත් ස්වාමීන්වහන්සේලා ශීලයෙන් සම්පූර්ණ නමුත් සමාධිය පැත්තෙන් යම්කිසි අඩුපාඩුවක් තිබුනා - සමථය කියල කියන සමථ පැත්තෙන්. ඒ කියන්නෙ මෛත්‍රී භාවනාව හරියට පුරුදු කරල නෑ. මෛත්‍රී පැත්තෙන් අඩු නිසා වෙන්ට ඕන අර තරම් උපද්‍රව වලට මුහුණපාන්න සිද්ධ උනේ. ඊළඟට බුදුපියාණන් වහන්සේ අර කරණීය සූත්‍රයෙන් දක්වා වදාළ උපදෙස්වල ආනිසංස වශයෙන් තමයි උන්වහන්සේලාට හිත සමාධිමත් කරගන්න පුළුවන් වුනේ. එතෙන්දි අපි කල්පනා කළයුතුව තිබෙනවා බුදු පියාණන් වහන්සේ මේ මෛත්‍රී භාවනාවෙ ආනිශංස වශයෙන් ආනිශංස එකොළහක් දක්වල තිබෙනවා. ඒ ආනිශංස එකොළහෙන්, රාශියක්ම මේ ස්වාමීන්වහන්සේලා අත්දකින්ට ඇති. ඒ කියන්නෙ.

- සුඛං සුපති - හොඳට නින්ද යනවා මෛත්‍රී වඩන පුද්ගලයාට
- සුඛං පටිබුජ්ඣති - ඒ වගේම ප්‍රබෝධවත්ව අවදිවෙනවා.
- න පාපකං සුපිනං පස්සති - නරක සිහින, නපුරු සිහින. බයවෙන සිහින පෙනෙන්නේ නෑ.
- මනුස්සානං පියො හොති - මනුෂ්‍යයින්ට ප්‍රිය වෙනවා.
- අමනුස්සානං පියො හොති - අමනුෂ්‍යයන්ට ප්‍රිය වෙනවා.
- දෙවතා රක්ඛන්ති - දෙවියන්ගේ ආරක්ෂාව ලැබෙනවා.
- නාස්ස අග්ගි වා, විසං වා සත්ථං වා කමති - එබඳු ඒ මෛත්‍රී භාවනාව කරන තැනැත්තාගේ ශරීරයට ගින්නෙන්, වස විස වලින් ආයුධ වලින් වන ඒ විදියෙ අනතුරු වැළකී යනවා.
- තුවටං චිත්තං සමාධියති - බොහොම ඉක්මණින් සිත සමාධිමත් වෙනවා.
- මුඛවණ්ණො විප්පසීදති - මුහුණෙ වර්ණය, ශෝභාව, දියුණු වෙනවා.
- අසම්මූළ්හො කාලං කරොති - නුමුළාව කාලක්‍රියා කරනවා. ඒ කියන්නෙ හොඳ සිහියෙන් මැරෙනවා.
- උත්තරිං අප්පටිවිජ්ඣන්තො බ්‍රහ්මලොකූපගො හොති - විදර්ශනාව වඩලා රහත්වුනේ නැත්නම්, ඒ වගේ උසස් තත්ත්වලට ගියෙ නැත්නම්, යටත් පිරිසෙයින් අර මෛත්‍රී ධ්‍යානයේ බලයෙන් බ්‍රහ්මලෝකයේ හෝ උපදිනවා, කියල ඒ විදියට එකොළොස් ආනිසංසයක් බුදු පියාණන් වහන්සෙ දක්වල

තිබෙනවා. අන්න ඒ ආනිසංස අනුව තමයි අර සංඝයා වහන්සේලාට කලින් දැක්ක බියකරු දර්ශන ආදිය නිසා යම් යම් පීඩාවල් ඇති වුනා නම් ඒවා සංසිඳිලා හිත තැන්පත් කරගන්නට පුළුවන් වුනෙ. එතකොට එයින් අපට සමථයෙ අගය මේ කථාන්තරයෙ මුල් කොටසින් පෙනෙනවා. ඊළඟට එහෙම තැන්පත් වුන සිතට මේ විදර්ශනාවෙහි අගය වැටහුනා. තවත් පැත්තකින් කියනවා නම් දැන් ඒ සමථයෙන් විතරක් සෑහීමකට පත්විය යුතු නෑ. ඒක නිසා සමථය වඩපු කෙනා ඊළඟට විදර්ශනාව වඩනව. මොකද, බුද්ධොත්පාද කාලයකින් ගතහැකි උපරිම ප්‍රතිඵලය තමයි මාර්ගඵල අවබෝධය. නිවන් දැකීම. ඒක නිසා ඒ විදියට සමථයෙන් විදර්ශනාවට නැඹුරු උනා. එබඳු අවස්ථාවෙදී තමන්ගෙ ශරීරය ගැන කල්පනා කරල ඒක කළේකට උපමා කළා. ඇත්ත වශයෙන්ම මේ සංස්කාර කියන්නෙ, මේ අපේ සිත්වලින් කෙරෙන සකස් කිරීම්, කම් ආදිය රැස්කිරීම්. මහා ගැඹුරු අර්ථයක් තියෙනවා සංස්කාර කියන වචනය තුළ. එබඳු ඒ සියල්ම ක්‍රියාත්මක වන ශක්තීන් තුළින් තමයි මේ අපේ ශරීර කුඩු පවා මැවෙන්නෙ. ඊළඟට විශේෂයෙන්ම මෙතන මේ ප්‍රකාශ කරන්නෙ සංස්කාරවල බිඳීයන ස්වභාවය. මොහොතක් මොහොතක් පාසා බිඳීයනවා. මේ අපි ඝන දෙයක්, ඇත්ත දෙයක් හැටියට සළකන. ලොකු දෙයක් හැටියට සළකන, ශරීර කුඩුවත්, ඉතාමත්ම ඉක්මණින් අපට නොපෙනෙන තරම් වේගයකින් ඇතුළතින් දිරාපත් වෙනවා. මොහොතක් මොහොතක් පාසා. ඒක සාමාන්‍ය ලෝකයාට රූපයට තියෙන ඇල්ම නිසා වැටහෙන්නෙ නෑ. එතකොට යෝගියාට සියුම්ව හිත තැන්පත් වෙන්න තැන්පත් වෙන්න ශරීරයේ ඒ මොහොතක් මොහොතක් පාසා වන වෙනස්කම් අනුව මේක බිඳීයන ආකාරය වැටහෙනවා. ඇතිවීම් නැතිවීම් රාශියක් මේ ශරීර යන්ත්‍රය තුළ ක්‍රියාත්මක වන බව, ඒ වගේම, ඒක නිසාම, මේක හරියට අර කුඹලා මැටි භාජනයක් හදන්නා වගේ සංස්කාරවලින් මේ ශරීර කුඩුවත් මේ අතිකුත් දේවලුත් හැදෙනවා කියන හැඟීම, අවබෝධය, එනවා. ඉතින් මෙතන විශේෂයෙන්ම මේ කායගතාසතියට අනුව කයේ බිඳී යන ස්වභාවය වැටහෙනව. සාමාන්‍යයෙන් නිත්‍ය සංඥාවයි ලෝකයා තුළ තිබෙන්නෙ මේ ශරීර කුඩුව පිළිබඳව. ඇලුම් බැඳුම් හැම එකටම මුල වෙන්නෙ මේ ශරීර කුඩුවයි. අන්න එබඳු ඒ ශරීරය බිඳෙන මැටි වළඳකට එහෙම නැත්නම් කළයකට උපමා කළහැකි බව සංඝයාවහන්සේලාට තේරුන අවස්ථාවයි. ඒ අවස්ථාවෙම තමයි බුදු පියාණන් වහන්සේ අර විදියට .අර ගාථා ධර්මය දේශනා කළේ. දැන් අපි බලමු මේ ගාථාවෙ අඩංගුවෙන ගැඹුරු අදහස් එකින් එක.

"කුම්භූපමං කායමිමං විදිත්වා"

මේ කය අර විදියේ කළයක් බව තේරුම් අරගෙන - දැන් බොහෝ විට ලෝකයා, සාමාන්‍ය ලෝකයා, මේ කය වෙනුවෙනුයි නොයෙකුත් පව්කම් කරන්නෙ. මේ කය බිඳීයන එකක් බව, මොහොතක් පාසා දිරායන එකක් බව, කොයිතරම් උත්සාහ කළත්, කොයිතරම් සැපසාත්තු කළත් අවුරුදු සියයකට මැතින් එහෙම නැත්නම් ටිකක් ඊට එහායින් මේ ශරීරය අතහැරල යන බව, ඒ සියල්ල අමතක කරගෙන මේ කය වෙනුවෙනුයි බොහෝ දෙනා පව්කම් කරන්නෙ. ඇත්ත වශයෙන් කියනවා නම් දැන් අර සංඝයාවහන්සේලා පවා කයට පමණට වැඩිය තැන දුන්නු නිසා වෙන්න ඇති බයවෙලා වගේ අපට නම් තවත් එතෙන්ට යන්න බෑ කියල ප්‍රකාශ කළේ. දැන් මේ පින්වතුන් හොඳට දන්නවා යුද්දෙට යන කෙනෙක් ඒ තමන්ගෙ ශරීරයට තියෙන ඇල්ම එහෙම තියාගෙන ගියොත් යුද්දෙ කරන්න බෑ. ඒ වගේ තමයි මේ මාරසංග්‍රාම සංකල්පය බුදුපියාණන් වහන්සෙ ඉදිරිපත් කරන්නෙ යෝගාවචරයට. මේ කයට සාත්තු කර කර මේක රැක ගන්න ඕන කියන ඒ අදහස මුල්කර ගත්තොත් කවදාවත් ඒ යෝගාවචරයට ජීවිතය සාර්ථක කරගන්ට බෑ.

අර යුද්ධයට යන කෙනා ඒ වෙනුවෙන් ආත්ම පරිත්‍යාගයක් කරනව. මරණය හෝ තරණය කියන අධිෂ්ඨානයෙන් ගඟකට බැස්ස කෙනෙක් පිහිනන්නෙ, මරණය හෝ තරණය කියල. අන්න ඒ වගේ ජයග්‍රහණය දක්වා ජීවිත පූජාවෙන් ඒ කටයුත්තෙහි යෙදෙන්නෙ. යෝගාවචරයාගේ ආකල්පය විය යුත්තේ ඒකයි. ඒක නිසා තමයි බුදුපියාණන් වහන්සෙ වෙන තැනකට යවන්නෙ නැතිව, - 'එහෙනම් මහණෙනි මම හොඳ තැනක් සොයා දෙන්නම් ඔය විදියෙ කරදර නැති' කියල, එහෙම කියන්නෙ නැතුව, එතෙන්ටම යන්න කියල ප්‍රකාශ කළේ. ඒ වගේ හැබැයි, මෙතන වෙනසකට තියෙන්නේ ඒ මාරයුද්ධය සඳහා ආයුධය හැටියට බුදු පියාණන්වහන්සෙ දුන්නෙ මොකක්ද. අන්න ඒක ගැන තමයි අපි ඇත්ත වශයෙන්ම මේ කාලෙ කල්පනා කරන්නට ඕන. යුද්ධය කියල හිතන කොට අපට හිතට එන්නෙ මහා ආයුධ ගොන්නක්. ලෝකයේ ඒ ඒ යුගයේ සම්මත ආයුධ ගොන්නක් හිතට එන්නෙ. නමුත් බුදුපියාණන් වහන්සෙ මේ සංඝයාවහන්සේලා ඇහුවාම මොකක්ද ස්වාමීන්වහන්ස අපි ගෙන යන ආයුධය කියල, ඒ අවස්ථාවෙ ප්‍රකාශ කළේ මෛත්‍රිය. ඒ ආයුධයෙන් තමයි හිත හැන්පත් කර ගන්නෙ. අන්න ඒක අපි කල්පනා කරන්න ඕන. එයින් අර සමථ පක්ෂය සම්පූර්ණ උනා සංඝයාවහන්සේලාගෙ. ඒ වගේම පාඩමක් ඉගෙන ගන්නා. අපි යම්කිසි පරිත්‍යාගයක් කරන්ට ඕන සසරින් මිදෙන්ට නම්. මේ ශරීරය අල්ලගෙන, මේ බිඳෙන මැටි භාජනයක් පරිස්සම් කරගන්න හිතාගෙන, මේ වැඩ කටයුතු

කරන්න පටන් ගත්තොත් කවදාවත් අපට නිවන් දකින්න බෑ කියන අවබෝධය ඒ සංඝයාවහන්සේලාට එන්න ඇති ඒක තුළින්ම. ඒක නිසා තමයි සමාධිමත් උන හැටියෙම ඊළඟට ඒ ස්වාමීන්වහන්සේලා විදර්ශනාවට හිත යොමුකළේ. ඉතින් "කුම්භූපමං කායමිමං විදිත්වා". එතකොට මේ සංඝයාවහන්සේලාගෙ අදහස අනුවම, ඒක තහවුරු කරමින්, තව දුරටත් ඒ අදහසින් ප්‍රයෝජනය ගන්න හැටියට බුදු පියාණන් වහන්සෙ වදාළා. මේ කය බිඳෙනසුළු මැටි වළඳක් වගේ බව තේරුම් අරගෙන, ඊළඟට "නගරූපමං චිත්තමිදං ඨපෙත්වා" ඇත්ත වශයෙන් රැකගත යුත්තේ, නගරයක් වගේ රැකගත යුත්තෙ, මේ සිතයි. මේ සිත රැකගැනීමේ වටිනාකමයි ඊළඟ පදයෙන් ප්‍රකාශ කරන්නෙ. රැකගත යුතු නගරයක් හැටියට මේ සිත ඒ තත්ත්වයේ තබාගෙන, ඊළඟට-

"යොධෙථ මාරං පඤ්ඤාවුධෙන" ඔන්න ඊළඟට සටන් පාඨය එනවා. මාරයා එක්ක යුද්ධ කරන්න ප්‍රඥා ආයුධයෙන්. ඉස්සෙල්ල දුන්නෙ මෛත්‍රී ආයුධය, සමථය සඳහා. දැන් කියන්නෙ ප්‍රඥායුධයෙන් මාරයා සමඟ සටන් කරන්න.

ඊළඟට - "ජිතඤ්ච රක්ඛෙ අනිවෙසනො සියා" සටන් කරල යමක් දිනා ගත්ත නම්, ඒක ආරක්ෂා කරගන්න. හැබැයි එතන පැළපදියම් වෙලා ඉන්න එපා. ඒකම අල්ලගෙන එතන නවතින්ට එපා. එහි ගැලී සිටින්නට එපා. අන්න ඒ පද දෙකේ විශේෂයෙන්ම භාවනායෝගීන්ට ඉතාමත්ම ප්‍රයෝජනවත් අවවාදයක් ගැබ් වෙනවා. එතකොට "යොධෙථ මාරං" කවුද මේ මාරයා - ප්‍රඥාව කියන ආයුධයෙන් සටන් කළ හැකි මාරයා කවුද?

මාරයා කියල කියන කොට සමහර විට ඔය තමන් දුටුව නොයෙකුත් චිත්‍ර ආදියෙන් කෙනෙකුට නොයෙකුත් විදියේ රූප සිතට එන්ට පුළුවනි. නමුත් ඇත්ත වශයෙන් ගැඹුරින් කල්පනා කළොත් යෝගාවචරයාට සිටින නියම මාරයා තමයි සිතිවිල්ල - "විතර්කය" කියල කියනවා ඒකට. විතර්ක, මේ මාරයා එක්ක පිටිපස්සෙන් මහා මාර සේනාවක් ගලාගෙන එනවා. මේ තම තමන්ගෙ සිත ගැන හිතල බලනවා නම් අපේ සිත ක්‍රියා කරන ආකාරය. විශේෂයෙන්ම ක්ලේශයට වැටුනහම. කොයි තරම් ශීඝ්‍රයෙන් විතර්ක ධාරාවක් ගලාගෙන එනවද? ඒවට යටවෙලා තමයි අපේ ක්‍රියාකාරීත්වය අනුව අපි මේ මහා පාප ගොන්නක පැටලැවිලා නිරය තිරිසන් ලෝක ආදිය කරා යන්නෙ. එතකොට මාරයා මෙන්න මේ විතර්කයයි. මාර සේනාව විතර්ක සේනාවයි. ඉතින් මේ මාරයා එක්ක සටන් කරන්න ඕන ප්‍රඥා ආයුධයෙන්. මොකක්ද මේ ප්‍රඥායුධය? ඊළඟට අපි ඒක ගැනත් හිතල බලමු. ගැඹුරෙන් කල්පනා කරල බැලුවොත් ප්‍රඥා ආයුධය කියල කියන්නෙ අර යෝගාවචරයාට කරන්ට සිදුවෙලා තියෙන විශේෂ කටයුත්ත. මොකක්ද?

'මෙනෙහි කිරීම'. 'මනසිකාර' කියල ඒකට කියනවා. මේ අපේ සිත ක්‍රියා කරන ආකාරය - මේ හැම දෙයක්ම - මෙනෙහි කිරීම තුළින් තමයි ප්‍රඥාව දියුණු වෙන්නෙ. මොකද, මෙනෙහි කිරීම තුළින් අර විතර්ක වේගය කැඩෙනවා. මේක මේකයි, මේක මේකයි කියල එන එන එකක් පිළිබඳව සතියෙන්, .සිහි නුවණින් - සතියත්, සම්පජඤ්ඤයත්, සිහියත් දැනුවත් කමත් අනුව ඒවායේ යථා තත්ත්වය තේරුම් ගන්නවා. ඒ අවස්ථාව තුළ අර වේගයෙන් දුවන විතර්ක මර්දනය වෙනවා. ඉතින් ඒ විදියට මාරයා සමග - මේ විතර්ක මාරයා සමග - හිතට ගලා එන විතර්ක ධාරාව- මේවා අයාලේ යන්න නොදී මේවා පිළිබඳ යම්කිසි පාලනයක් කරගන්නට ඕන නම් මෙනෙහි කරන්ට ඕන. තරහක් ආවා - මෙන්න තරහ සිතක්. ඊළඟට ඇලුමක් ආවා. ඇලුම් සිතක්, ඇල්මක්. අන්න මේක ඇලීම් සිතක්. ඊළඟට ඒ වගේම ඇහැ, කණ, නාසය, දිව, කය, සිත කියල කියන මේ දොරවල් හයට එන අරමුණු - මේවා ඒ ඒ තැන්වලම මෙනෙහි කිරීමයි. යෝගාවචරයෙකුට කරන්න තියෙන ඒ භාවනාවට - විදර්ශනා භාවනාවට - අදාළ ක්‍රියාව මෙනෙහි කිරීමයි. සංස්කාර මෙනෙහි කිරීමයි. මේවා සංස්කාර හැටියට හිතාගෙන - සංස්කාර කියල කියන කොටස් අර බිඳී යන බව එකනිත්ම හැහෙනවා. බිඳී යන දෙයක් නිත්‍ය හැටියට නොගෙන ඒ ඒ තැනම ඒවා පහළ වෙන හැටි, ඇතිවන හැටි සුලු වෙලාවක් පවතින හැටි - ඉතාමත් සුලු ක්ෂණයක් තරම් - ඒ මෙනෙහි කිරීම අනුව, පෙනෙනවා. එනවා පවතිනවා. නැතිවෙල යනවා. ඔන්න ඔය ඇතිවීම් නැතිවීම් ස්වභාවය තමාගේ චිත්ත සන්තානය තුළින් දැකීමම තමයි විදර්ශනා භාවනාවේ මූලික කටයුත්ත. එතකොට ඒක කරන ඒ මෙනෙහි කිරීමයි, මනසිකාරයයි, මෙතන ප්‍රඥාව හැටියට දක්වලා තියෙන්නෙ. විදර්ශනා භාවනාවේ ඇත්තවශයෙන්ම කියනවා නම් පරමාර්ථය මේ නාම රූප ධර්ම තේරුම් ගැනීමයි. මේ මුළු මහත් ලෝකය පිළිබඳව අපේ අවබෝධය අපි ලබන්නෙ මේ නාමරූප ධර්මයන් පිළිබඳව හරියාකාරව තේරුම් ගැනීමෙන්.

නාම ධර්ම කියල කියන ඒවා මේ කාටත් හිත දිහා බැලුව නම් හඳුනාගන්න පුළුවන් දේවල්. වේදනා කියන එකට අමුතු වචනයක් ඕන නෑ. කවුරුත් දන්නවා වේදනා කියන කොට සැප වේදනා දුක් වේදනා උපේක්ෂා නොහොත් මධ්‍යස්ථ වේදනා - හැම එකක්ම. සංඥා - හැඳිනීම. ඒකට කියන්න පුළුවන් සංඥාවල්. වේදනාව අනුව නොයෙකුත් හැඳිනීම් ගන්නවා. ඊළඟට හැඳිනීම් අනුව චේතනාවල් ඇති වෙනවා. නොයෙකුත් චේතනා. චේතනා කියන එක කවුරුත් දන්නවා. ඊළඟට ස්පර්ශය. මේවායෙ හැපෙන තැනක් පිළිබඳ, යම්කිසි ස්පර්ශයක් පිළිබඳ, හැඟීමක් එනවා. ඊළඟට තියෙනවා මනසිකාර කියල - මෙනෙහි කිරීම. මෙන්න මේ කියාපු ධර්ම පහ බොහෝ විට නාම ධර්ම හැටියට ගන්නවා:

ඊළඟට රූපධර්ම හැටියට දක්වන්නෙ පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියල කියන - අපි සතර මහා භූතයින් කියල කියන අපේ මේ ශරීරය් බාහිර දේවලුත් සකස්වෙලා තිබෙන ඒ මහා භූත ධර්ම. ඒවා එකතුවෙලයි ඉතාමත්ම ආශ්චර්යවත් විදියට මේ විදියෙ රූප මවල පෙන්වන්නෙ. රූප මවල පෙන්නන්නෙ මෙන්න මේ භූතයෝ හතරදෙනයි. මෙන්න මේ කාරණා ටික තේරුම් ගත්තොත් ඉතින් මුලු ලෝකයම තේරුම් ගත්තා වගේ තමයි.

මේ සංසාරයෙන් මිදීමට උපකාර වන්නෙ නාමරූප ධර්මයන් තේරුම් ගැනීමයි. එතකොට මෙතෙනත්, මේ ධර්මයන් අතුරේත්, මනසිකාර කියල කියන මෙනෙහිකරීම - අගට එන මෙනෙහි කිරීම - ඉතාමත්ම වැදගත්. ඒ මෙනෙහිකිරීම තුළිනුයි මේවා තේරුම් ගන්නෙ. එකනමයි මහා ආශ්චර්යවත් දේ කියෙන්නෙ. දැන් අපි මේ කියාදුන් ධර්ම පහ අපිට පුළුවන් මිනනම්, උපමාවක් අවශ්‍ය නම්, මේ අපේ අතේ ඇඟිලිවලට උපමා කරන්න. දැන්, සුලැඟිල්ල වගේ තමයි වේදනාව කියන එක. ඊළඟට ඔය මුදු එහෙම දාන ඊළඟ ඇඟිල්ල, ඔය මුදු පළඳින ඇඟිල්ල වගේ තමයි සංඥාව කියන එක. යම් යම් හැඳිනීම්. ඊළඟට අර මැදැඟිල්ල - වගේ තමයි චේතනාව කියන එක. දබරැඟිල්ල වගේ තමයි ස්පර්ශය කියන එක. අපි එහෙම ගත්තොත් ඊළඟට මනසිකාර කියන්නෙ ඔන්න මහපටැඟිල්ලයි. එකනත් ප්‍රධානයි. මේ මහපටැඟිල්ල කියන එක - දැන් තම තමන්ට ප්‍රත්‍යක්ෂ වෙනවා - මහපටැඟිල්ලට පුළුවන් සුලැඟිල්ලේ තත්ත්වය දැනගන්න. ඊළඟට අනික් ඇඟිලිවලත් ඒ වගේ අවශ්‍ය අවස්ථාවල තත්ත්වය දැනගන්න පුළුවන්. මහපටැඟිල්ල ළංවෙලයි සුලැඟිල්ලට ඒ දෙකේ ස්පර්ශය ඇතිවෙන්නෙ. ඊළඟට අනික් ඒවත් ඒ විදියටමයි. ඉතින් මහපටැඟිල්ල අර වෙන්ව හිටියට මොකද එයා තමයි නායකයා, ප්‍රධානියා. මෙන්න මේ මහපටැඟිල්ල උපකාර කරගෙන තමයි නාමරූප ධර්ම පිරිසම හඳුනාගන්නෙ. හරියට - සමහරවිට අර කාණ්ඩයක් එකතුවෙලා යම්කිසි අපරාධයක් කළහම සාක්ෂි දෙන්න කෙනෙක් නැත්නම් මොකද කරන්නෙ සමහරවිට උසාවිවල? අර ඒ වැරැද්ද කළ අයගෙන්ම කෙනෙකුට දෙනවා සමාව. සමාව දෙන්නෙ 'ඇත්ත කියන්න ඕන. ඇත්ත කිව්වොත් පමණක් සමාව දෙනවා' කියල එතකොට ඒ නැනැත්තා ඉදිරිපත් වෙලා ඇත්ත කියන කොට තමන්ටත් අනුවෙනවා. නමුත් අර නඩුව ඔප්පු වෙනවා. අන්න ඒ වගේ මෙතන මේ නාම ධර්මයන් පහෙන්ම එකක් අපි උපකාර කරගන්නවා මේ නාමරූප ධර්මයන් තේරුම් ගැනීමට. මේ මෙනෙහි කිරීම කියන එකම උපකාර කරගන්නවා. හැබැයි "අයොනිසො මනසිකාර" කියල කියන වැරදි මෙනෙහි කිරීම නොවෙයි. හරි ආකාර මෙනෙහි කිරීමයි. ඒ කියන්නෙ අර හොර මුලේ මුලදී හොරෙක් තමයි. නමුත් සාක්ෂිදෙන්න පටන් ගත්තට පස්සෙ එයා සාක්ෂි කරුවෙක්. රජයෙන් සම්පූර්ණයෙන්ම සමාව

ලබාගත්තු සාක්ෂිකරුවෙක් හැටියට වගෙයි සාක්ෂි දෙන්නෙ. අන්න ඒවගේ "අයෝනිසො මනසිකාර" කියල කියන වැරදි මෙනෙහි කිරීම වළක්වලා නුවණින් මෙනෙහි කිරීමට යොමු කරනවා. එතකොට ඒ විදියට යෝනිසෝ මනසිකාරය යෙදීම තමයි මේ ප්‍රඥාව, මනසිකාරය, මෙනෙහි කිරීම, තුළින් මේවායේ යථා තත්වය තේරුම් ගන්නවා. ඒ වගේම ඒ මෙනෙහිකිරීම තුළින්ම අර ධාතූන් - අර පඨවි, ආපෝ, තේජෝ. වායෝ කියන ඒ ධාතූන් - හඳුනාගන්න අවස්ථාව ලැබෙනවා. අර කද බව මෙලොක් බව ආදී වශයෙන් - ඒවන් ස්පර්ශය ආශ්‍රයෙන් තේරුම් ගන්නවා. ඔන්න ඔය ටිකයි විදර්ශනා භාවනාවේ මූලික කටයුත්ත. එතකොට ඒක තමයි මේ මාර සේනා ජය ගැනීමට උපකාරවෙන ආයුධය. මනසිකාරය - මෙනෙහිකිරීම - නුවණින් මෙනෙහිකිරීම. ඒ වගේම දැන් ආයුධයක් නම් - දැන් කඩුහරඹයක නම්, සතුරාගේ කඩුපහර වළක්වාගැනීමට ඉතාම ශීඝ්‍රයෙන් තමාගෙ කඩුව මෙහෙයවන්න ඕන. ඒ වගේම මනසිකාරයෙදීත් මෙනෙහිකිරීම හැකිතාක් ඉක්මන් කරන්ට ඕන, ශීඝ්‍ර කරන්න ඕන - මේ මාර සංග්‍රාමයෙන් දිනන්න නම්. ඉතින් ඒ ශීඝ්‍රකරන මාර්ගය තමයි කර්මස්ථානාචාර්යවරු අවස්ථානුකූලව දක්වන්නෙ - ආරම්භයේදී මේවා මෙනෙහි කරන්නෙ රූපයක් රූපයක්. ශබ්දයක් ශබ්දයක්, ගඳක් ගඳක් - යම්කිසි ගඳ සුවඳ ආදියත් ඒ විදියටමයි. රසක් රසක් ආදී වශයෙන් ඒවා මෙනෙහි කරනවා. සිතක් පවා. සිතක් ඇතිවුනාම මේක සිතක් කියලා - යම්කිසි ක්‍රෝධ සිතක් එනවා නම් ඒක සිතක් කියල තේරුම් ගත්තහම ඒ අවබෝධය තුළින් අර විතර්ක ධාරාව කැඩෙනවා. අන්න ඒ වගේ ශීඝ්‍රයෙන් මෙනෙහි කිරීම තුළින් තමයි මේ විතර්ක ධාරාව ජය ගන්න පුළුවන් වන්නෙ.

"යොධෙථ, මාරං පඤ්ඤාවුධෙන"

ඊළඟට - "ජිතඤ්ච රක්ඛෙ අනිවෙසනො සියා" මෙතන ඉතාමත්ම ගැඹුරු අදහසක් කියැවෙනවා. මෙතන "ජිතඤ්ච රක්ඛෙ" කියල අර ස්වාමීන් වහන්සේලාට විශේෂයෙන් සඳහන් කළේ මොකද? දැන් සාමාන්‍යයෙන් යෝගියෙකුට ඇතිවන බාධක හැටියට ගන්න පුළුවන්, තමන් ලබාගත්තු සමාධිය පිළිබඳව ඇලුම් කිරීම. දැන් මේ ස්වාමීන් වහන්සේලාත් මෛත්‍රී සමාධියෙන් යම්කිසි දියුණුවක් ලබාගත් අය. මොකද සමාධිය ඇතිවෙනකොට ඒත් එක්කම එනවා ලොකු සැපයක්. කායික සැපයක්. ඉතින් ඒක ලොකුවට ගන්නවා. මේක තමයි ලොකු දේ කියල, මේක තමයි ඇත්ත වශයෙන්ම මේ නිවන් සැපය කියල. එහෙම රැවටෙන ස්වභාවයක් තියෙනවා. උපක්ලේශ ධර්ම කියලත් කියනවා. විදර්ශනා උපක්ලේශ කියලත් කියනවා. නොයෙකුත් ආලෝක පෙනෙනකොට ශරීරයට සුවය දැනෙනකොට, සංසුන් බවක් දැනෙනකොට, විශේෂ අවබෝධ එනකොට මේ හැම එකක්ම තදින්ම අල්ලා ගන්නවා. දැන් ඉතින් මම නිවන්

දැකලයි සෝවාන් වෙලයි කියල. ඔන්න ඔය විදියෙ ස්වභාවයක් තියෙනවා. ඒක නිසා තමයි "ඊසංච රක්ඛෙ" කියල කියන්නෙ. ඒ ලබාගත්තු යම්කිසි සමාධියක් තියෙනවා නම් ඒක රැකගන්නත් ඕන. නමුත් "අනිවෙසයනො සියා" - නමුත් එහි පැලපදියම්වෙල හිටියොත් කවදාවත් ඒ තමන් බලාපොරොත්තු වෙන තත්ත්වයට පැමිණෙන්න බැරිවෙනවා. ඒක නිසා ඒවායේ පැලපදියම් වෙන්ට එපා. ඒකෙන් පරිස්සම් වෙන්ට ඕන. ඒකයි බුද්ධාවවාදය මෙතන විශේෂයෙන්ම. අර කර්මස්ථානවලට උපකාරවන විශේෂ උපදෙසක් මේ ගාථාවෙ සඳහන් වෙනවා. සාමාන්‍යයෙන් යෝගාවචරයෙක් මුළාවට පත්වෙනවා ගුරූපදේශ නැත්නම්. ඒකට හේතුව, අර කායික සුවය ආදී මෙහෙක් නොලැබූ දේවල් ලැබෙනකොට සමාධිය ආශ්‍රයෙන්, එහි ගැලී සිටීමටයි හිත පෙළඹෙන්නෙ. ඒක වළක්වාගන්ට ඕන. යුද්ධ උපමාවෙන් කීවොත්, දැන් යෝධයෙක් සටන් කරන අතරෙ බොහෝවිට තියම විදියට යුද්ධයක් පවතිනවා නම් තමන්ට බලකොටුවකුත් තියෙන්ට ඕන. ඒ යෝධයා යම්කිසි අවස්ථාවක මොන යම් හේතුවකින් හෝ ආයුධය කැඩිල බිඳිලා ගියාම හරි, එහෙම නැත්නම් ආහාර පාන ගැනීම් ආදී අවශ්‍යතාවන් සඳහා හෝ එබඳු අවස්ථාවල ඒ බලකොටුවට ගිහිල්ලා - පසුබැසලා - ඊළඟට ඒ කටයුතු කරල විශ්‍රාම අරගෙන ආයෙත් යුද්දෙට යනවා. නමුත් ආයිත් බලකොටුවට ගියාට පස්සෙ එතන බුදියගන්න හිටියොත් කවදාවත් ඒ සටන දිනන්න බෑ. අන්න ඒ වගේ දැන් අර සමථයෙත් යම්කිසි අවශ්‍යතාවක් තියෙනවා. සමථය කියල කියන්නෙ සමාධිය. නමුත් මේ බුදුපියාණන්වහන්සේගෙ මධ්‍යම ප්‍රතිපදාවෙ ආශචර්ය මොකක්ද? මේ හැම එකකින්ම ප්‍රයෝජනය ගන්නවා. නමුත් එකක්වත් අල්ල ගන්නෙ නෑ. පැලපදියම් වෙන්නෙ නෑ. මොකද ධර්මයෙහි සඳහන් වෙනවා ලෝකයේ යම් යම් දෙයක් අල්ලා ගත්තොත් ඒකම අනුව මාරයා පසුපස ලුහුබඳිනවා කියලා.

"යං යං හි ලොකස්මිං උපාදියන්ති
තෙනෙව මාරො අන්වෙති ජන්තුං"
(සුත්ත නිපාත, 1108)

ලෝකයේ යම්කිසි සුලු දෙයක් හෝ අපි අල්ලා ගත්තොත් ඒක අනුව මාරයා පසු පස්සේ එලවා එනවා කියල කියනවා. අන්න ඒ වගේ තමයි සිතේ ස්වභාවය. මාර සටන කියල කියන්නෙ ඒකයි. හැම තිස්සෙම බලන්නෙ මේ සිත, සංස්කාරවල ලැගගන්න. අල්ලාගන්න. එබඳු ඒ අල්ලා ගන්න ස්වභාවය වළක්වන්න පුළුවන් වෙන්නෙ අර මෙනෙහි කිරීම තුළින්. ශීඝ්‍රයෙන් මෙනෙහි කරනකොට අර අල්ලගන්න ස්වභාවය සිදිල ඒවා ගිලිහිල යනව,

මෙනෙහි කිරීම තුළින්. මෙනෙහි කරනවා, ඊළඟට ඒක යන්න හරිනවා, අන්න ඒ විදියට, ඒකෙ ස්වභාවය වටහා ගැනීම තුළින් ඒ මුළාව ඉවත් කෙරෙනවා. මුළාව තිබෙනවා නම්, එහෙම පිටින්ම ඒක අල්ලාගන්නයි කෙනෙක් පෙළඹෙන්නෙ. මනසිකාරය තුළින්, ප්‍රඥාව තුළින් එහි අවබෝධය එනකොට ඒක අල්ලාගන්න යොමුවෙන්නෙ නෑ. ඒකෙ අනිත්‍ය ස්වභාවයයි, එතකොට වැටහෙන්නෙ. එන යන දේවල් බව වැටහෙනවා. අන්න ඒක ආශ්‍රයෙන් එතකොට, කෙනෙකුට ඒ 'විදර්ශනා වීදියෙ' ඉදිරියට යන්න පුළුවන් වෙනවා. විදර්ශනා වීදියේ, විදර්ශනා චිත්ත වීදියෙ - ඒකට චිත්ත වීථි කියලත් කියන්න පුළුවන් - විදර්ශනා වීදියෙ - ඉදිරියට යන්න නම් අර කමත් ජයගත්තු ඒවායෙ ඇලී ගැලී සිටින්නට එපා. ඒවා උපකාර කරගෙන, ඒ සමාධි ශක්තිය යොදාගෙන, ඊළඟට ඒවායෙ ඇලෙනවා වෙනුවට උපේක්ෂාව මුල්කරගෙන - උපේක්ෂාව උපකාර කරගෙන - අර ධර්ම තත්ත්වය තේරුම් ගන්න කියන එකයි බුදුපියාණන් වහන්සෙගෙ අනුශාසනය මේ ගාථාවෙන්. එතකොට,

"ජිතසඳව රසෙබ අනිවෙසනො සියා"

ඒවායේ පැලපදියම් වෙන්ට එපා කියන එක. මේ සිතේ ස්වභාවය හැම තිස්සෙම ගෙවල් හදන එක. ගෙවල් හදන්න බලනො සිත. බුදුපියාණන් වහන්සේ මේ "නිවෙසන" කියල කියන්නෙ ගෙයක් කියන අදහසින්. අර පැලපදියම්වීම කියන අදහස හා සම්බන්ධයි. දැන් එතකොට බුදු පියාණන්වහන්සෙගෙ ධර්මය අපි නුවණින් කල්පනා කරල බැලුවොත් - හරියට ඒක දැන් ගොඩනැගිල්ලක් හදනකොට අපි පලංචි බඳිනවා. පලංචි බඳින්නෙ ගොඩනැගිල්ල හදා ගන්නයි. නමුත් කවුරුවත් සිතිය යුතු නෑ පලංචිවල පදිංචි වෙන්න. පලංචිවල පදිංචි උනොත් ගොඩනැගිල්ල හැදෙන්නෙ නෑ. ඒවා හැම තිස්සෙම ඉවත් කර කර ඉහළට යනවා. අන්න ඒ වගේ දෙයක් තමයි මේ ධර්ම මාර්ගය. මධ්‍යම ප්‍රතිපදාව කියන්නෙ ඒකයි. ඔක්කොම අහක දානවත් නොවෙයි. ඒවා උපකාර කරගන්නවා. ඊළඟට, එයින් ලබාගන්න ශක්තිය උඩ, මතුවට වැඩ කටයුතු කරගෙන යනවා. කොටින්ම කියනොත් අපි මේ සතිපට්ඨාන භාවනාව කියල කියන එක තුළ තියෙන්නෙ ඕකයි. මේ හැම දෙයක්ම අපි උපකාර කරගන්නවා, අපේ සිතේ සතියත් - සති කියල කියන්නෙ සිහිය, - ඒ සිහියත්, ඊළඟට ප්‍රඥාවත්, වඩාගැනීමට. මේ සඳහා උපකාර කරගැනීමයි, මේ හැම එකකින්ම කරන්නෙ. එතකොට "ජිතසඳව රසෙබ අනිවෙසනො සියා" ඔන්න ඔය උපදෙස අපට, මේ සාමාන්‍යයෙන් 'යෝගාවචර' - එහෙම නැත්නම් භාවනාවෙහි යෙදෙන - අයට, ඉතාමත්ම ප්‍රයෝජනවත් කාරණයක්. මොකද, බොහෝවිට අහන්ට ලැබෙනවා භාවනා යෝගීන් අතර, කෙනෙකුගේ ප්‍රතිඵල ගැන අහනකොට, බොහොම සතුටින්

ප්‍රකාශ කරනවා මට මෙහෙම මෙහෙම තියෙනවා කියල. නමුත් මුළාවුන බව දන්නෙ නෑ. විදර්ශනා උපක්ලේශවලට යටවෙලා. 'ඔන්න හොඳට ආලෝක පෙනෙනවා. හරි පුදුම සැපයක් තියෙනවා. ඕන තරම් වෙලා ඉන්න පුලුවන් ඉඳගෙන. පැය ගණන් ඉන්න පුලුවන්. නමුත් අන්න ලැගගත්තා. ඒ ලබා ගත්තු අර සමාධියෙ ලැග ගත්තා. ඉදිරියට ගමනක් නෑ. ඒක නිසා තමයි "අනිවෙසනො සියා" අර මෙනෙහි කිරීම තුළින් තමයි අවසානයේ අපට මේ සටන ජයගන්න පුළුවන් වෙන්නෙ. මොකද, අල්ලගත්තු තැන මාරයා. එතනම මාරයාට යටවෙනවා. ඔය විදියෙ මහ පුදුම ධර්මයක් මෙතන තියෙන්නෙ. එතකොට ඒ ගාථා ධර්මය අනුවත් අපට හිතාගන්න පුලුවන් මේ විදර්ශනා භාවනාවෙ අනිත්‍ය දුඃඛ, අනාත්ම කියන ත්‍රිලක්ෂණය හෙළිකර ගැනීමට උපකාර වෙන මේ මනසිකාරය කොයිතරම් වැදගත්ද කියල. හැම එකක්ම දැන් මේ මෙනෙහි කිරීම තුළින්ම අහුවෙනවා. අමුතුවෙන් වචන වශයෙන් නොකිව්වත් ඒ සංස්කාර ධර්මයන් ඇවිල්ල මෙහොතක් ඉතාම සුලු වේලාවක්, ක්ෂණයක් - පැවතිලා නැතිවෙල යන ආකාරය දකිනකොට මේවායේ අනිත්‍ය ස්වභාවය පැහැදිලි වෙනවා. ඒ වගේම, යමක් අනිත්‍ය නම්, වෙනස් වෙනවා නම්, එතැන සැපතක් සොයාගන්ට බෑ - එය පෙරලෙනවා නම්, බිඳී යනවා නම්. අන්න ඒක නිසා ඒ දුඃඛ ස්වභාවයත් වැටහෙනවා. එබඳු ඒ දෙයක් 'මමය' මාගේය' කියල ගැනීම මෝඩ කමක් බවත් තමන්ට අවබෝධ වෙනවා. ප්‍රත්‍යක්ෂ වෙනවා. අන්න ඒ ත්‍රිලක්ෂණය එතකොට ප්‍රත්‍යක්ෂය තුළින්ම අවබෝධ කරගන්නට නම් අර මෙනෙහි කිරීම උපකාරී වෙනවා. මෙනෙහි කිරීම ඉතින් අර කියාපු විදියට ආරම්භයේදී රූපයක්, රූපයක්, සද්දයක්, සද්දයක්. ආදී වශයෙන්, ඒ කියන්නෙ, සාමාන්‍ය ලෝකයෙ නම්, අන්න කාර් එකක් අන්න අසවල් කෙනෙක් කියල නමින්, ස්ත්‍රියක්, පුරුෂයෙක්, ඊළඟට තවත් ඕන නම් ඒ පුද්ගලයින් පිළිබඳ විස්තර, ඕවා සාමාන්‍ය ලොකයේ, එදිනෙදා ව්‍යවහාර ලෝකයේ ඕන. නැතිව බෑ. නමුත් විදර්ශනා යෝගියා ඕවයින් ඉවත්වෙන්න ඕනෑ නිවන් දකින්න නම්. ලෝකෝත්තර වෙන්ට නම්. ලෞකික වශයෙන් නම්, මේ එන එන හැම දෙයක්ම මේ නමින් හඳුනගන්නව. 'නිමිති', 'අනුව්‍යඤ්ජන' කියල කියනව. දකින අසන දේවල් පිළිබඳව අපි නිමිති ගන්නවා. ඒ නිමිති පිළිබඳ පාලනයක් නැතිකම නිසා තමයි මේ කෙලෙස් ධාරාවට යටවෙලා මේ දීර්ඝ සංසාරයෙ අපි මේ නානාප්‍රකාර දුක් විඳින්නෙ. එතකොට, මේවායින් බේරීමට නම් අර භාවනාවෙ යෙදෙන යෝගියා විශේෂ උත්සාහයකින් අර නිමිති ගැනීමේ සිරිත කඩා දමන්න ඕන. එකපාරටම කඩාදමන්න බෑ ඒක. නමුත් ඒකට උපකාර වෙන හේතුවක් තමයි 'සංඥාව' කියල කියන හැඳිනීම. අර යමක් පිළිබඳව මූලිකව යම්කිසි වින්දනයක් එනවා. ඒක ආශ්‍රයෙන් හැඳින ගන්නවා. එතනින් නතර වෙන්නෙ නෑ. ඊළඟට ඕව පිළිබඳව චේතනාවල් ඇතිවෙනවා. බොහෝවිට නරක චේතනාවල්. ඉතින් ඕවා අනුව ඊළඟට ඒකේ

සප්‍රඥීය දැඩිව ගැනීමක් ඇතිවෙනවා. ඉතින් මෙන්න මේ හැම එකකම යථා ස්වභාවය අර මනසිකාරය තුළින් කෙනෙකුට අවබෝධ වෙනවා. ඔය විදියට කල්පනා කරල බලනකොට මේ මෙනෙහි කිරීම අර විදියට වචන ගණනාවකින් සාමාන්‍ය ලෝකයා තේරුම් ගන්න දේ, මනසිකාරයේදී ඉතාමත්ම කෙටියෙන් තේරුම්ගන්න උත්සාහ කරනවා, සංඥා වලට අහුවෙන්නෙ නැතිව. තනිකර ඒක 'රූපයක්', එහෙම නැත්නම් 'සද්දයක්' කියල එතනින් නතර වෙනවා. 'ලක්කැත ලොප් කිරීම' වගේ දෙයක් එතන කෙරෙන්න ඕන. එතකොට, ඒ විදියට කරගෙන යනකොට, තවත් ඈතට යනකොට, විදර්ශනාවෙ දියුණුව ලබනකොට, මේවායෙ අර දැනීම් මාත්‍රය පමණක් පවා මෙනෙහි කරන්න සිද්ධ වෙනවා. මේකෙ දැනීම් මාත්‍රය පමණක්. එතනින් නතර වෙන්ට. අර ශීඝ්‍රයෙන් මෙනෙහි කිරීම. හරියට, අපි අර සඳහන් කළ කඩු හරඹයකදී, දෙන්නම එකවිදියට සටන් කරගෙන යන අතරෙ සතුරා ජය ගන්න නම් සතුරා ආයුධය යොදන වේගයට වඩා වේගයකින් තමන් ඒක වළක්වන්න ශක්තිමත් වෙන්න ඕන. අන්න ඒ වගේ, මේ මාර සේනාව කියල කියන මහා පුදුම වේගයකින් - කියන්න බැරි තරම් වේගයකින් - දුවන සිසිවිලි වැළැක්වීමට නම්, මෙන්න මේ මෙනෙහි කිරීමත් ඒ වගේම ශීඝ්‍රයෙන් කරන්නට ඕන. මේ මෙනෙහි කිරීම දුර්වල උනොත් මොකද වෙන්නෙ, අර සංඥාවලට අහුවෙනවා. සංඥාව කියන එක - බුදුපියාණන් වහන්සෙ ප්‍රකාශ කරල තිබෙනවා - මිරිඟුවක්. මිරිඟුවක් කියන්නෙ, ඒක දුටුවහම ඒක පස්සෙ එළවනවා. දැන් මේක හරියාකාරව දැන ගන්නයි මේ සංඥාව කියල අපි ගන්නෙ. මේක මොකක්ද කියල අපට දැනගන්න තියෙනව. දැන්, පාරෙ යනවා නම් - යම් කිසි ගමනක් යන්න සූදානම් වෙන කෙනෙක්, අපි හිතමු කොළඹ යන්න පිටත්වුනා. නමුත් මේ පුද්ගලයා ඒ යන අතරෙ වාහනයෙන් වටපිට බලනකොට ඒ දකින දේවල්වල මේක කොහොමද මේ ලස්සන දේවල් මේ අවට තියෙන දේවල් කොයි ආකාරයද කියල බැලුවොත් - කවදාවත් කොළඹට යන්න හම්බ වෙන්නෙ නෑ. දකින දකින දේ හිත යන යන තැන නැවතිලා මේක හොඳට සම්පූර්ණයෙන් බලන්න ඕන කියල හිතුවොත්. අන්න ඒකයි.

එතකොට දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන් 'අපිට මෙහෙම උනොත් ජීවත් වෙන්න බෑ නේද ලෝකයෙ' කියල. ලෝකයෙ හැමදාමත් ජීවත්වෙන්න පුළුවන්, ඕන නම්. නමුත් මේ සංසාරයෙන් මිදීමේ මාර්ගයයි බුදුපියාණන් වහන්සේ දක්වන්නේ. ඒක නිසා විශේෂයෙන්ම යෝගාවචරයා උත්සාහවත් වෙන්ට ඕන මේ කාර්ය - නිවන් කාර්ය - සඳහා අර කියාපු නිමිති ගැනීමේ පුරුද්ද කඩා බිඳ දමන්නට. ඒක නිසා තමයි ඒක ක්‍රමානුකූලව කරන්නෙ. ඇස්දෙක පියාගන්නවා නොවෙයි. කන්දෙක වහගන්නවා නොවෙයි. මේ ඉන්ද්‍රියයන් පාලනය කර ගැනීම සඳහා පළමුවෙන් අර කලින් අහවලයි

අහවල් අහවල් දේයි කියල හිතන ඒ සංකල්ප ඉවත් කරල, ලෞකික නාම ආදිය ඉවත්කරල, මේක 'රූපයක්' 'සද්දයක්' කියල එහෙම හිතල පටන් ගන්නවා මෙනෙහි කිරීම. එහෙම කරගෙන යනකොට ඇතට යනකොට පෙනෙනවා මේකත්, කොයි ආකාරයෙන් නමුත් මේකත්, සංඥාවෙ මිරිඟුවට අහුවීමක් - ටිකක් හරි. ඒ විදියට යම්කිසි අවස්ථාවක අර ස්පර්ශමාත්‍රය, අර දැනීම් මාත්‍රය, එතෙන්දිම - මේ හිත - අර මනසිකාරය තුළින් ඒ සිකිවිලි ධාරාව - කඩන්න පුළුවන් ශක්තියක් කෙනෙකුට දියුණු කර ගන්න පුළුවන් වෙනවා. අන්න ඒක තුළින් තමයි ඇත්ත වශයෙන්ම මේ සංස්කාරවල ඇසිවීම් නැසිවීම් ස්වභාවය හොඳට ප්‍රත්‍යක්ෂ කරගන්ට පුළුවන් වෙන්නෙ. මාර්ගඵල අවබෝධය ආදී තත්ත්වවලට පවා යන්න පුළුවන් වෙන්නෙ.

එතකොට එබඳු කාරණා රාශියක් මේකෙ අඩංගු වෙනවා, මේ ගාථාවෙ. අපි කල්පනා කරන්ට ඕන ඉතාමත්ම දුර්ලභ බුද්ධෝත්පාද කාලයක් ලබාගෙනයි අපි මේ ජීවත් වෙන්නෙ, මනුෂ්‍ය ආත්ම භාවයක් ලබාගෙන. 'භාවනාව' කියන එක කොයෙකුත් අහන්ට ලැබෙනවා. හැම දෙනෙක්ම කරනව කියලත් කියනවා. නමුත් ඒ භාවනාවෙ ඉලක්කයත් බොහෝවිට අර බුදුපියාණන් වහන්සෙ ප්‍රකාශ කළ ආකාරයට මේ සසර දුකින් මිදීම සඳහා උපකාර වෙන්නෙ නෑ. සාමාන්‍යයෙන් සමහරවිට කය සැහැල්ලුවා ගැනීම, කායික වශයෙන් නිරෝගී සුවය ලබාගැනීම, එහෙම නැත්නම් හොඳ හොඳ දර්ශන දැකීමට, තවත් නොයෙකුත් විදියේ ලෞකික දේවල් සම්පූර්ණ කරගැනීමට, ලෙඩ සුවකර ගැනීම් ආදියට, ඔය විදියෙ පරමාර්ථවල හිරවෙල තිබෙනවා. ඒවා තමයි අර පැලපදියම්වීම්. ඒ වෙනුවට කරන්නට තිබෙන්නෙ යම්කිසි ශමථ කර්මස්ථානයක් තුළින් සමාධි මට්ටමක් ඇතිඋනා නම්, එතෙන්දි ඒ සමාධියෙ තිබෙන ආදීනව සළකන්නට ඕන. හැම දේකම තිබෙනව ඔය ආස්වාද පක්ෂයක් ආදීනව පක්ෂයක් - බුදුපියාණන් වහන්සෙ ප්‍රකාශ කරල තියෙනව, ලෝකයෙ තියෙනවයි ආස්වාද, ආදීනව, නිස්සරණ කියල තුනක්. මේවයෙ හොඳ පැත්තකුත් තිබෙන්න පුළුවන්. නමුත් ඒ එක්කම ආදීනව රාශියකුත් තියෙනවා. ඒක නිසා මෙයින් ඉවත්වෙන්නට ඕන - 'නිස්සරණ' - මේ හැම එකකින්ම ඉවත්වීමයි මෙතනින් අදහස් කරන්නෙ. අල්ලාගැනීම තුළ තියෙන්නෙ පැවැත්මයි. අතහැරීම තුළ තිබෙන්නෙ නැවැත්මයි. අන්න ඒක තේරුම් අරගෙන, එතකොට, ලෝකයේ මේ ඇසිවීම් - නැසිවීම් ස්වභාවයට හිත පුරුදු කරනකොට, කෙනෙකුට අවබෝධය එනවා මේක අල්ලාගත්තොත් ඒ එක්කම පෙරළිලා අපි විනාශයට පත්වෙනවා කියල. අන්න ඒ විදියට, එතකොට අර සමාධියෙ පවා රැඳී සිටින්නෙ නෑ. බුද්ධකාලයෙ පවා බුදු පියාණන් වහන්සෙ මුලදී අර තමන්ගෙ ගුරුවරුන් හැටියට හිතාගෙන ලංවුනු ආළාරකාලාම, උද්දකරාමපුත්ත ආදී ශාස්තෘවරුන් පවා සමාධියෙන්, සමථයෙන්, ඉතාමත්ම උසස් තත්ත්වවලට පිහිල්ල

හිටියා. නමුත් ඒ අය ඒවායේ ඇලී ගැලී සිටිය නිසා තිවන් දකින්න බැරිව හිටියා. එතකොට බුදුපියාණන් වහන්සෙ කෙනෙක් පහළවීම තුළින් අපට ලැබෙන - ලෝකයාට ලැබෙන - ලොකුම ආලෝකය තමයි මේ විදර්ශනා ආලෝකය. මෙන්න මේ විදර්ශනා භාවනාවට අදාළ වටිනා කාරණායි මේ ගාථාවෙ එතකොට ගැබ්වෙලා තියෙන්නෙ. ඒක අනුව අපි කල්පනා කරන්න ඕන, අපේ ශක්ති ප්‍රමාණයෙන් මේ ධර්ම මාර්ගයට බැහැල - එදිනෙදා ජීවිතයේදීත් - හැකිතාක් දුරට මේවායින් ඉවත්වෙන්නට උත්සාහවත් වෙන්ට ඕන. ඒ සඳහා විශාල පරිත්‍යාගයක් සමහරවිට කරන්ට සිද්ධ වෙනවා. මොකද ඒකට හේතුව? දැන් විශේෂයෙන්ම ගිහි ජීවිතය ගතකරන පින්වතුන්ට විදර්ශනා භාවනා ආදි කටයුතු කරනකොට මහා ප්‍රශ්නයක් සමහරවිට පැන නගින්නට පුලුවන්. මේ සංකීර්ණ සමාජය ඇත්ත වශයෙන්ම දුවන්නෙ අර සංඥා මිරිඟුව ඔස්සෙයි. මිරිඟුවෙන් පෙළඹිලා මුවන් දුවන්න වගේ මේ ලෝකයා බලන්නේ - එහෙම පිටින්ම මේ ලෞකික පැත්තට නැඹුරුවනු භෞතික පැත්තට නැඹුරුවුනු ලෝකයා බලන්නෙ - මේ මනුෂ්‍යයින් මුළාකරල, පිස්සන් බවට පත්කරල. එක්කෝ තම තමන්ගෙ දේවල් විකුණාගන්න, නැත්නම් දේවල්වලට යොමුකර ගන්න, ඇදගන්න. ඒ විදියෙ බලවේග රාශියක් මධ්‍යයෙයි අපි මේ ජීවත් වෙන්නෙ. එබඳු යුගයක, එතකොට යම්කිසි කාය විවේකයක් දැන් මෙබඳු දිනක පෝය දිනක වගේ, සිල් සමාදන් උනාම - ලැබෙනවා. තමන්ගෙ හිත අරවායින් මෑත් කරගන්න පුලුවන් වෙනවා. ඒ මෑත්කර ගැනීමේ පුරුද්ද වැඩිකරගන්ට ඕන. ඒක තුළින් තමයි "නෙක්ඛම්මය" ඇතිවෙන්නෙ. අන්න එහෙම ඒ කය පිළිබඳව. කාය විවේක, චිත්ත විවේක, උපධි විවේක, කියල විවේක තුනක් තිබෙනව. ඒ කායික විවේකය ඇති වෙනකොට ඒකෙනුත් යම්කිසි සැපයක් ඇතිවෙනවා. නමුත් ඒකෙන් සම්පූර්ණ වෙන්නෙ නෑ. 'අපි හොඳ විවේකස්ථානයක කිසි සද්දයක් නැතිව ඉන්නවා' කියල කිව්ව පමණින් ඒක සම්පූර්ණ නෑ. ඊළඟට කාය විවේකය තුළින් චිත්ත විවේකය ඇතිකර ගන්නවා. සිත මෑත් කරගෙන. ඊළඟට උපධි විවේකය. අර පඤ්චස්කන්ධයම අතහැරීමයි අවසාන දේ. රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කියල කියන, අපි මේ බදාගෙන සංසාරයෙ දීර්ඝ කාලයක් ගමන් කරන, මෙන්න මේ ස්කන්ධ - මේ ගොඩවල් පහ අතහැරීමයි එතකොට මේ විදර්ශනාවෙන් කෙරෙන්නෙ, නිර්වාණාවබෝධය කියල කියන්නෙ.

මේවා ගොඩවල් පහක් කියල කියන්නෙ මක්නිසාද? සාමාන්‍ය ලෝකයා මේ රූපය එකක් හැටියටයි හිතන්නේ, 'මගේ රූපය' කියල. අපි ඡායාරූපයක් ගත්තහම 'මේ මගේ රූපය' කියල අපේ හිතට බොහෝ විටම පළමුවෙන්ම එන්නෙ ඒකයි. නමුත් මේක තුළ ඇති වෙනස්වීම් ශක්තිය, වෙනස්වෙන වේගය, වෙනස්වීම, අපිට පෙනෙන්නෙ නෑ. ඒක නිසා තමයි අර කාලෙකට

අහවල් අහවල් දේයි කියල හිතන ඒ සංකල්ප ඉවත් කරල, ලෞකික නාම ආදිය ඉවත්කරල, මේක 'රූපයක්' 'සද්දයක්' කියල එහෙම හිතල පටන් ගන්නවා මෙනෙහි කිරීම. එහෙම කරගෙන යනකොට ඇතට යනකොට පෙනෙනවා මේකත්, කොයි ආකාරයෙන් නමුත් මේකත්, සංඥාවෙ මිරිඟුවට අහුවීමක් - ටිකක් හරි. ඒ විදියට යම්කිසි අවස්ථාවක අර ස්පර්ශමාත්‍රය, අර දැනීම් මාත්‍රය, එතෙන්දිම - මේ හිත - අර මනසිකාරය තුළින් ඒ සිතිවිලි ධාරාව - කඩන්න පුළුවන් ශක්තියක් කෙනෙකුට දියුණු කර ගන්න පුලුවන් වෙනවා. අන්න ඒක තුළින් තමයි ඇත්ත වශයෙන්ම මේ සංස්කාරවල ඇතිවීම් නැතිවීම් ස්වභාවය හොඳට ප්‍රත්‍යක්ෂ කරගන්ට පුලුවන් වෙන්නෙ. මාර්ගඵල අවබෝධය ආදී තත්ත්වවලට පවා යන්න පුලුවන් වෙන්නෙ.

එතකොට එබඳු කාරණා රාශියක් මේකෙ අඩංගු වෙනවා, මේ ගාථාවෙ. අපි කල්පනා කරන්ට ඕන ඉතාමත්ම දුර්ලභ බුද්ධෝත්පාද කාලයක් ලබාගෙනයි අපි මේ ජීවත් වෙන්නෙ, මනුෂ්‍ය ආත්ම භාවයක් ලබාගෙන. 'භාවනාව' කියන එක කොයිකෙනෙකුත් අහන්ට ලැබෙනවා. හැම දෙනෙක්ම කරනාව කියලත් කියනවා. නමුත් ඒ භාවනාවෙ ඉලක්කයන් බොහෝවිට අර බුදුපියාණන් වහන්සෙ ප්‍රකාශ කළ ආකාරයට මේ සසර දුකින් මිදීම සඳහා උපකාර වෙන්නෙ නෑ. සාමාන්‍යයෙන් සමහරවිට කය සතප්පවා ගැනීම, කායික වශයෙන් නිරෝගී සුවය ලබාගැනීම, එහෙම නැත්නම් හොඳ හොඳ දර්ශන දැකීමට, තවත් නොයෙකුත් විදියේ ලෞකික දේවල් සම්පූර්ණ කරගැනීමට, ලෙඩ සුවකර ගැනීම් ආදියට, ඔය විදියෙ පරමාර්ථවල හිරවෙල තිබෙනවා. ඒවා තමයි අර පැලපදියම්වීම්. ඒ වෙනුවට කරන්නට තිබෙන්නෙ යම්කිසි ශමථ කර්මස්ථානයක් තුළින් සමාධි මට්ටමක් ඇතිළුනා නම්, එතෙන්දි ඒ සමාධියෙ තිබෙන ආදීනව සළකන්නට ඕන. හැම දේකම තිබෙනව ඔය ආස්වාද පක්ෂයත් ආදීනව පක්ෂයත් - බුදුපියාණන් වහන්සෙ ප්‍රකාශ කරල තියෙනව, ලෝකයෙ තියෙනවයි ආස්වාද, ආදීනව, නිස්සරණ කියල තුනක්. මේවයෙ හොඳ පැත්තකුත් තිබෙන්න පුළුවන්. නමුත් ඒ එක්කම ආදීනව රාශියකුත් තියෙනවා. ඒක නිසා මෙයින් ඉවත්වෙන්නට ඕන - 'නිස්සරණ' - මේ හැම එකකින්ම ඉවත්වීමයි මෙතනින් අදහස් කරන්නෙ. අල්ලාගැනීම තුළ තියෙන්නෙ පැවැත්මයි. අතහැරීම තුළ තිබෙන්නෙ නැවැත්මයි. අන්න ඒක තේරුම් අරගෙන, එතකොට, ලෝකයේ මේ ඇතිවීම් - නැතිවීම් ස්වභාවයට හිත හුරු කරනකොට, කෙනෙකුට අවබෝධය එනවා මේක අල්ලාගත්තොත් ඒ එක්කම පෙරළිලා අපි විනාශයට පත්වෙනවා කියල. අන්න ඒ විදියට, එතකොට අර සමාධියෙ පවා ඇලී සිටින්නෙ නෑ. බුද්ධකාලයෙ පවා බුදු පියාණන් වහන්සෙ මුලදී අර තමන්ගෙ ගුරුවරුන් හැටියට හිතාගෙන ලංවුනු ආළාරකාලාම, උද්දකරාමපුත්ත ආදී ශාස්තෲන් පවා සමාධියෙන්, සමථයෙන්, ඉතාමත්ම උසස් තත්ත්වවලට ගිහිල්ල

හිටියා. නමුත් ඒ අය ඒවායේ ඇලී ගැලී සිටිය නිසා නිවන් දකින්න බැරිව හිටියා. එතකොට බුදුපියාණන් වහන්සෙ කෙනෙක් පහළවීම තුළින් අපට ලැබෙන - ලෝකයාට ලැබෙන - ලොකුම ආලෝකය තමයි මේ විදර්ශනා ආලෝකය. මෙන්න මේ විදර්ශනා භාවනාවට අදාළ වටිනා කාරණායි මේ ගාථාවෙ එතකොට ගැබ්වෙලා තියෙන්නෙ. ඒක අනුව අපි කල්පනා කරන්න ඕන, අපේ ශක්ති ප්‍රමාණයෙන් මේ ධර්ම මාර්ගයට බැහැල - එදිනෙදා ජීවිතයේදීත් - හැකිතාක් දුරට මේවායින් ඉවත්වෙන්නට උත්සාහවත් වෙන්ට ඕන. ඒ සඳහා විශාල පරිත්‍යාගයක් සමහරවිට කරන්ට සිද්ධ වෙනවා. මොකද ඒකට හේතුව? දැන් විශේෂයෙන්ම ගිහි ජීවිතය ගතකරන පින්වතුන්ට විදර්ශනා භාවනා ආදී කටයුතු කරනකොට මහා ප්‍රශ්නයක් සමහරවිට පැන නගින්නට පුලුවන්. මේ සංකීර්ණ සමාජය ඇත්ත වශයෙන්ම දුවන්නෙ අර සංඥා මිරිඟුව ඔස්සෙයි. මිරිඟුවෙන් පෙළඹිලා මුවන් දුවන්න වගේ මේ ලෝකයා බලන්නේ - එහෙම පිටින්ම මේ ලෞකික පැත්තට නැඹුරුවනු භෞතික පැත්තට නැඹුරුවුනු ලෝකයා බලන්නෙ - මේ මනුෂ්‍යයින් මුළාකරල, පිස්සන් බවට පත්කරල. එක්කෝ තම තමන්ගෙ දේවල් විකුණාගන්න, තවත් දේවල්වලට යොමුකර ගන්න, ඇදගන්න. ඒ විදියෙ බලවේග රාශියක් මධ්‍යයෙයි අපි මේ ජීවත් වෙන්නෙ. එබඳු යුගයක, එතකොට යම්කිසි කාය විවේකයක් දැන් මෙබඳු දිනක පෝය දිනක වගේ, සිල් සමාදන් උනාම - ලැබෙනවා. තමන්ගෙ හිත අරවයින් මෑත් කරගන්න පුලුවන් වෙනවා. ඒ මෑත්කර ගැනීමේ පුරුද්ද වැඩිකරගන්ට ඕන. ඒක තුළින් තමයි "නෙක්ඛම්මය" ඇතිවෙන්නෙ. අන්න එහෙම ඒ කය පිළිබඳව. කාය විවේක, චිත්ත විවේක, උපධි විවේක, කියල විවේක තුනක් තියෙනව. ඒ කායික විවේකය ඇති වෙනකොට ඒකෙනුත් යම්කිසි සැපයක් ඇතිවෙනවා. නමුත් ඒකෙන් සම්පූර්ණ වෙන්නෙ නෑ. 'අපි හොඳ විවේකස්ථානයක කිසි සද්දයක් නැතිව ඉන්නවා' කියල කිව්ව පමණින් ඒක සම්පූර්ණ නෑ. ඊළඟට කාය විවේකය තුළින් චිත්ත විවේකය ඇතිකර ගන්නවා. සිත මෑත් කරගෙන. ඊළඟට උපධි විවේකය. අර පඤ්චස්කන්ධයම අතහැරීමයි අවසාන දේ. රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කියල කියන, අපි මේ බදාගෙන සංසාරයෙ දීර්ඝ කාලයක් ගමන් කරන, මෙන්න මේ ස්කන්ධ - මේ ගොඩවල් පහ අතහැරීමයි එතකොට මේ විදර්ශනාවෙන් කෙරෙන්නෙ, නිර්වාණාවබෝධය කියල කියන්නෙ.

මේවා ගොඩවල් පහක් කියල කියන්නෙ මක්නිසාද? සාමාන්‍ය ලෝකයා මේ රූපය එකක් හැටියටයි හිතන්නේ, 'මගේ රූපය' කියල. අපි ඡායාරූපයක් ගත්තහම 'මේ මගේ රූපය' කියල අපේ හිතට බොහෝ විටම පළමුවෙන්ම එන්නෙ ඒකයි. නමුත් මේක තුළ ඇති වෙනස්වීම් ශක්තිය, වෙනස්වෙන වේගය, වෙනස්වීම, අපිට පෙනෙන්නෙ නෑ. ඒක නිසා තමයි අර කාලෙකට

පස්සෙ යාලුවෙක් ආවහම 'අනේ දැන් කොයිතරම් වෙනස්වෙලාද' කියල අහන්නෙ. ඒ දැක්ක වෙලාවෙ නොවෙයි වෙනස්වුනෙ. එහෙම නැත්නම් ඒ කාලය තුල හිටිගමන් වෙනස්වුනා නොවෙයි. අන්න ඒ විදියෙ දෙයක්, මේ රූපය පිළිබඳව. ඇත්තවශයෙන් රූපය ඉතාමත් හෙමින් වෙනස් වෙන්නෙ. ඊටත් වඩා ශීඝ්‍රයෙන් මේ හිත වෙනස් වෙනව. ඉතාම ශීඝ්‍රයෙන් මේ හිත වෙනස් වෙනවා. නමුත් ඒ හිත පවා අපි මේ ආත්මයක් හැටියට 'මමය' මාගේය' කියල අරගෙන මුළාවක දැවටිලා ඉන්නවා - මුලු මහත් ලෝකයාම. ඔය 'සක්කායදිට්ඨි' ආදි වචනවලින් කියන්නෙ. මේක 'ආත්මය' හැටියට සළකනවා. රූපය මගේ ආත්මයයි කියල හිතනව. වේදනාවත් පිළිබඳවත් එහෙමයි. වේදනාවත් එකක් හැටියට අපි ගන්නවා. අපිට පේන්නෙ එක පාරටම මේක එකක් හැටියට. නමුත් විදර්ශනා යෝගියා මේකට අර මනසිකාරය යොදන කොට අන්න පුපුරුගැසීම් රාශියක් මෙතන තිබෙන්නෙ. ඇතිව නැතිවෙන මහා පුපුරු ගැසීම් රාශියක් වගේ වේදනාව. රූපය පිළිබඳව අර කළය පිළිබඳ උපමාව ආදියෙන් තේරුම් ගන්නත් පුලුවන්. ඒ වගේ, පඨවි ආපො තෙජො වායො කියන ඒ ධාතූන් රාශියක් මගින් හැදුනු දෙයක් රූපය. ඊළඟට වේදනාවත් අර වගේ. ස්පර්ශය අනුව ඉතාමත්ම ශීඝ්‍රයෙන් වෙනස්වන, පොපියන, යම්කිසි සිදුවීමක්. දැනීම් රාශියක් එතන තියෙන්නෙ - වෙදනා ස්කන්ධය කියල කියන්නෙ වේදනා ගොඩක්. එකක් නොවෙයි. එතකොට ගොඩකට 'මමය' කියල කියන්නෙ කොහොමද? ඒවා ඇතිවීම් - නැතිවීම්වලින් පෙළෙනව. ඊළඟට සංඥාව හැඳිනීම. ඒකත් හැඳිනීම් ගොඩක්. සාමාන්‍යයෙන් අපි එක පාරටම අඳුනාගත්තා කියල කියනවා. 'එකපාරටම මම හඳුනාගත්ත 'කියල සාමාන්‍ය ව්‍යවහාරයේ තියෙනව. එකපාරටම නොවෙයි, ඉතාම ශීඝ්‍රයෙන් එතන ඒ හැඳිනීම් රාශියක් තුළිනුයි අපි යමක් හඳුනාගන්නෙ. ඒ හැඳිනීම් රාශියම අපි, ගොන්න, එකක් හැටියට ගන්නවා. ඒ වගේ තමයි චේතනාව කියන එක. චේතනාවත් ඉතාම ශීඝ්‍රයෙන්. චේතනාරාශියක් එතන තියෙන්නෙ. චේතනා ගොඩක්. ඒකට සංස්කාර කියල කියනව අපි. වේදනා සංඥා සංස්කාර චේතනා ඇතුළු ඒ සියලුම දේවල් සංස්කාර. සකස් කිරීම් ගොඩක්. හිත ඇතුළෙ තියෙන සකස්කිරීම් ශක්තියක්. අන්න ඒ විදියෙ සකස්කිරීම් ගොඩක් මේක මමය මාගේය කියල හිතනව. ඊටත් වඩා බරපතල මුළාව තමයි මේ හිත - විඥානය. මේ "මමය' කියන හැඟීම හැංගිලා හිටින තැන. දැන් අපි දන්නවා සතුරාගෙ බලකොටු බිඳගෙන බිඳගෙන ගිහිල්ලා අන්තිම බල කොටුව තමයි, විජිත පුරය වගේ එක තමයි, විඥානය. මෙතන තමයි ලොකුම මායාව තියෙන්නෙ. ඒක නිසා බුදු පියාණන් වහන්සෙ වදාළා මේ විඥානය මායාවකට උපමා කරල. මායාවකින් ලේසියෙන් මිදෙන්න බෑ. අන්න ඒක නිසා බුදුපියාණන් වහන්සෙ මේ පඤ්චස්කන්ධය ගැන දක්වපු උපමා පවා එදිනෙදා ජීවිතයෙ කෙනෙක් ගැඹුරින් හිතනකොට ඒක තුළිනුත්

තිවන් දකින්න පුලුවන් කියල බුදුපියාණන් වහන්සෙ වදාළා. රූපය පෙණ පිඩකට උපමා කරල තියෙනවා වේදනාව දිය බුබුලකට උපමා කරල තිබෙනවා.

පෙණ පිඩක් කියන එක, පෙණ පිඩ, අපට එකක් හැටියට ඝන සංඥාවෙන් ගන්න හිතෙනවා දැක්කහම. ලස්සනට තියෙනවා. නමුත් එතන තියෙන්නෙ පෙණ රාශියක් - ඉතාම සියුම්. ඒ වගේම වැස්ස වෙලාවට අර වතුරක් මත වැහිවතුර වැටෙනකොට ඉතාම ශීඝ්‍රයෙන් ඇතිවෙල නැතිවෙන දිය බුබුලු රාශියකට බුදු පියාණන් වහන්සේ වේදනාව උපමා කරල තියෙනවා. වේදනාව කියන එක පුපුරු ගැසීම් රාශියක් වගේ. ඊළඟට සංඥාව - ඒක මිරිඟුවකට උපමා කරල තියෙනවා. අපි දැන් මේ අවසථාවේත් සඳහන් කළා මිරිඟුව. ඒ කියන්නෙ, හඳුනාගැනීම කියන එකේ කොනක් නෑ. මේක මොකක්ද කියල හොයාගන්ට යන ඒ දිවිල්ල - ඒක එහෙම පිටින්ම අර මිරිඟුව ඔස්සෙ යන මුවාගෙ දිවිල්ලක් වගේ. අන්තිමට එතන දෙයක් නෑ. ඒක ඇදගෙන යන මායාවක්. එතන අන්තිමට මායාවකින් කෙළවර වන්නෙ. ඔය ඉතින් සංඥාව.

ඊළඟට සංස්කාර කියන එක කෙසෙල් කඳකට උපමා කරල තියෙනවා. කෙසෙල් කඳක හරයක් නෑ, අරටුවක් නෑ. අරටුවක් නැති බව. එතන සකස්කිරීම් රාශියක්. සකස්කිරීම් රාශියක් එකක් හැටියට ගන්න ස්වභාවයක් ලෝකයෙ තිබෙනවා. එතකොට මේ හිතතුළින් කෙරෙන ඒ සංස්කාර, හිත තුළ යන විතර්ක ගොඩයි. අවසාන වශයෙන් කල්පනා කරල බලනකොට, හිතෙන්මයි මේව සකස් කරල ගන්නෙ.

"මනොපුබ්බඞ්ගමා ධම්මා - මනොසෙට්ඨා මනොමයා"

කියන ඒ බුද්ධ වචනයයි. හිතම පෙරටුයි. හිතෙන්මයි මේ ලෝකය අවසාන වශයෙන් බලනකොට මැවිල තියෙන්නෙ. ඒතරම් තත්ත්වයක්. මහා ආශ්චර්යවත් දෙයක් මෙතන තියෙන්නෙ. වෙන කිසිම ශාස්තෘවරයෙක් ප්‍රකාශ නොකළ ආකාරයට. අන්න එතකොට ඒ කියන මුළාවට හේතුව මොකද්ද? විඥානය මායාවකට උපමා කරල තිබෙනවා. මායා කාරයෙක් සතරමං සන්ධියක, ප්‍රසිද්ධ තැනක, මායාවක් දක්වනකොට දකින හැම කෙනාම, කට ඇරගෙන, හා හූ කියාගෙන, මේක මහා ආශ්චර්යයක් කියල රැවටිලා පුදුම වෙනවා. නමුත් මායාකාරයා විතරයි දන්නෙ මෙතන එහෙම පිටින්ම බොරුවක් කරන්නෙ. නැති දේවල් ගොඩක් පෙන්වන්නෙ. අන්න එබඳු දෙයක් එතකොට මේ. නැති දෙයක් ඇති හැටියට මවා පාන්නෙ පෙන්නුම් කරන්නෙ මේ අපේ හිතයි, විඥානයයි. මේ තත්ත්වය සාමාන්‍ය ලෝකයාට තේරුම් ගන්ට බෑ. තර්කයෙන් තේරුම් ගන්න බෑ. උගතුන්ට උපාධිවලින් තේරුම් ගන්ට බෑ. මේක තේරුම් ගන්ට ඕන "පච්චත්තං වෙදිතබ්බො විඤ්ඤූහි" කියන ආකාරයට තම තමන්ම

තමන්ගෙ ප්‍රඥාවෙන්. "විඤ්ඤූහි" කීවෙ නියම ප්‍රඥාව ඇති අය - නිකම්ම පණ්ඩිතයින් නොවෙයි. අන්න ඒ විදර්ශනා ප්‍රඥාවෙන් තම තමන්ම තේරුම් ගතයුතු දෙයක්. වෙන කෙනෙකුට මේක කරන්නට බෑ. බුදුරජාණන්වහන්සෙටවත් කරන්නට බෑ. තමන් අර කියාපු යම්කිසි ශීලයක පිහිටලා සමාධියක් සමාධිමට්ටමක් - ඇතිකරගෙන ඊළඟට අර මනසිකාරයෙන් - නියම ගුරුහරුකම් ඇතිව විදර්ශනා භාවනාවට බැහැල, ඒ මනසිකාරය තුළින් තමයි මේ විඥාන මායාවෙ යථා තත්ත්වය තේරුම් ගන්න පුලුවන් වෙන්නෙ. මේ මායාවෙන් මිදෙන්න පුලුවන් වෙන්නෙ. මේ කියාපු පංචස්කන්ධය අතහරිනව කියල කියන්නෙ ඕකයි. අතින් අල්ලා විසිකරන දේවල් නොවෙයි. මේ ප්‍රඥාවෙන් යම් අවස්ථාවක රූපස්කන්ධය රූපස්කන්ධයක් හැටියට වටහා ගත්තා නම්, මෙතන අල්ලගන්න දෙයක් නැති බව එතනම තේරුම් යනවා, අහුවෙන්නෙ නෑ. මේක අල්ලගන්න අහුවෙන්නෙ නෑ. ඊළඟට වේදනාව පිළිබඳවත් එහෙමයි. අර දිය බුබුලු උපමාව තමන්ට වැටහෙනකොට මෙහි හරයක් නැතිබව, මෙහි ගතයුත්තක් නැති බව. තේරෙනවා. නිස්සාරත්වය. සංඥාව - මිරිඟුව, ඊළඟට සංස්කාර කෙසෙල් කඳ.

කෙසෙල් කඳේ අරටුවක් තියෙනවා කියල හිතාගෙන අල්මාරියක් හදන්න ඕන කියල හිතාගෙන පළවෙනි වරට කෙසෙල් කඳ උස්සාගෙන ගිහිල්ල ගෙදර - බලනකොට, ටිකක් අතගාල බලනකොට, මේක යට තව කට්ටුවක් තියෙනවා. ඔන්න ඔය විදියට දැන් එතකොට මේ බුදු පියාණන්වහන්සෙ වදාළ මේ කාරණය විදර්ශනා යෝගියා තේරුම් ගන්නෙ අර සම්මර්ෂණය කියන වචනයෙන්. සම්මර්ෂණය කියන්නෙ හෙමින් අතගාල බැලීම වගේ දෙයක්. ලෝකයා කරන්නෙ පරාමර්ෂණය කියල කියන දැඩිව අල්ලා ගැනීමයි. මෙන්න මේ දැඩිව අල්ලාගැනීමේ ගතිය අත හැරලා සම්මර්ෂණය කියල කියන ඉතාමත්ම සියුම් ආකාරයෙන් මෙනෙහි කිරීමයි එතකොට විදර්ශනාවට උපකාරී වෙන්නෙ. දැන් අපි දන්නවා සාමාන්‍යයෙන් දැලි පිහියක් එහෙම මදිනකොට මදින්න අල්ලන්නෙ විසි කරන්න පුලුවන් විදියට වගෙයි. එහෙම අල්ලගෙන දැලි පිහිය කරගලේ ඉහළට පහළට අතුල්ලනකොට අර මුවහත මොට්ට නොවන ආකාරයටයි ඒක කරන්න ඕනෙ. මට්ටම් කිරීම කරනවා මිසක් මොට්ට වෙන ආකාරයට නොවෙයි. දැඩිව අල්ලා ගත්තොත් ඒ දැලි පිහිය මොට්ට වෙනවා. ඒ වෙනුවට අර සියුම් ආකාරයෙන් අල්ලාගෙන එහාට මෙහාට ඇකිල්ලීම තුළින් තමයි දැලි පිහියක් මුවහත් කරගන්න පුළුවන් වෙන්නෙ. අන්න ඒ විදියටම මනසිකාරයක් අර එකකටවත් බැඳෙන්නෙ නැතිව, සංඥාවලටවත් චේතනා ආදී ඒ කිසිවකටවත් බැඳෙන්නෙ නැතිව, එන එන ආකාරයට ඒ ඒ හැටියටම සාඩු හරඹයක් වගේ මෙනෙහි කරල එකනින්ම නතර කරනවා. ඔය විදියට ගිහිල්ල තමයි මේ විදර්ශනා මාර්ගයෙන් අර

සෝවාන්, සකදාගාමී, අනාගාමී, අර්හත් කියන මාර්ගඵල ප්‍රතිවේධයෙන් ඒ සංස්කාරයන්ගේ සමථය කියල කියන - "සබ්බසංඛාරසමථ" කියල කියන - සියලු සංස්කාරයන් සමනය කිරීමෙන් ලැබෙන පරම ශාන්ත නිර්වාණ සුඛයත් ප්‍රත්‍යක්ෂ කරගන්ට පුලුවන් වෙන්නෙ. එතකොට ඒ බුද්ධ දේශනාව අනුව මේ පින්වතුන්ට භාවනාවට නැඹුරුවීමට උපකාර වන උපදෙස් රාශියක් අඩංගු ගාථා ධර්මයක් අද මේ පෝය දවසෙ අසන්නට ලැබුනා. මේ ඇසීම් මාත්‍රයෙන් නවතින්නෙ නැතිව, තමනුත් මේකට - මේ මාර්ගයට - බැහැලා ඒවාට උපදෙස් ගුරු හරුකම් දෙන්න පුලුවන් අය ඇසුරු කරගෙන ඒවා ලබාගෙන මේ අතිභයානක සංසාර දුක්ඛයෙන් මිදීමට උත්සාහවත් විය යුතුයි කියල හිතාගන්ට ඕන. ඒ වගේම මේ අවස්ථාවෙ හොඳ ශීලයක - යම්කිසි ශීලයක - පිහිටලා, මේ ධර්මශ්‍රවණය කරන අවස්ථාවෙත් සමාධිමත්ව යම්කිසි සිත තැන්පත් කරගැනීමක් ඇතිව, වැටහීම් බුද්ධියට ඉඩ දෙමින්, ශ්‍රවණය කිරීම තුළින් ශීල සමාධි ප්‍රඥා යම්කිසි තරමකට දියුණු වෙන්න ඇතෙයි කියල හිතනවා. අන්න ඒ ශීල සමාධි ප්‍රඥා මාර්ගයේ ගමන් කරමින්, හැකිතාක් ඉක්මණින් මේ ධර්ම ශ්‍රවණ ආනිශංසය වශයෙන් සළකන සද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා කියන ඒ ඉන්ද්‍රිය ධර්මයන් බල ධර්මයන් තම තමන්ගේ චිත්ත සන්තානය තුළ දියුණු පවුණු කර ගැනීමෙන් අර බුදුපියාණන් වහන්සෙ දක්වා වදාළ මේ සංසාර දුඃඛයෙන් එතෙරවීමට උපකාර වන පරම ශාන්ත නිර්වාණ අවබෝධය ලබාගැනීමට මේ ධර්ම ශ්‍රවණය උපකාරවත් වේවා කියා එහෙම අධිෂ්ඨාන කරගන්නට ඕන, ප්‍රාර්ථනා කරගන්නට ඕන. ඒ වගේම, දැන් මෙතෙක් වෙලා අපි ධර්ම දේශනාමය වශයෙනුත් ධර්ම ශ්‍රවණමය වශයෙනුත් ඇතිකර ගත්තු යම් කුශල සම්භාරයක් ඇතොත් ඒවා පිළිබඳව අනුමෝදන් වෙන ඒ ශාසනාරක්ෂක දේව මණ්ඩලය ඇතුළු අවීචියේ සිට අකනිට්ඨාව දක්වා වූ යම්තාක් සත්ත්වයින් සිටිනවා නම් ඒ හැම දෙනෙක්ම අප විසින් අද දින මේ අවස්ථාවේ රැස් කරගත්තාවූ කුශල සම්භාරය අනුමෝදන් වෙත්වා. අනුමෝදන් වී ඒ තම තමන්ගේ ප්‍රාර්ථනීය බෝධියකින් උතුම් අමාමහ නිවන සාක්ෂාත් කර ගනිත්වා කියල ප්‍රාර්ථනා කරන්ට ඕන. ඒ වගේම තම තමන්ගේ නාමින් නැසී මිය පරලොව ගිය සදාතීනුත් මේ කුශල සම්භාරය අනුමෝදන් වෙලා දුක් කෙළවර කර ගැනීමට ශක්තිය ලබත්වා! ඒ විදියට ප්‍රාර්ථනා කරගන්නට. දැන් එතකොට මේ අවස්ථාවෙ මේ ගාථා කියල පින් පමුණුවන්න.

"එත්තාවතා ච අම්හෙහි.........."

# 3 වන දේශනය

නගරං යථා පච්චන්තං - ගුත්තං සන්තරබාහිරං
එවං ගොපෙථ අත්තානං - ඛණො වෙ මා උපච්චගා
ඛණාතීතා හි සොචන්ති - නිරයම්හි සමප්පිතා

-නිරය වග්ග, ධ.ප.

ශ්‍රද්ධාවන්ත පින්වතුනි,

අපේ තිලෝගුරු සම්මාසම්බුදු පියාණන් වහන්සේ අවුරුදු හයක් දුෂ්කර ක්‍රියා කරල සොයා ගත්ත නිර්වාණ මාර්ගය, එනම්, චතුරාර්‍ය සත්‍යය පළමුවෙන්ම දෙව් මිනිසුන් සහිත ලෝකයාට හෙළි කොට වදාළේ ඇසළ පුර පසළොස්වක පෝය දවසකයි. ඒක නිසා අද ඉතාමත්ම වටිනා පෝය දවසක්. ඒ වගේම තවත් පැත්තකින් බලන කොට මේ ශාසනික වටිනාකමක් ඇති දවසක් හැටියට සලකන්නට පුළුවනි. සංඝයා වහන්සේලාගේ වස් විසීම පිළිබඳ ආරම්භක එක්තරා සීමාවක් පෙන්නුම් කරන පෝය දවසක් හැටියට ගත්තහම මේ ඇසළ පුර පසළොස්වක පෝය දවස ඉතා වැදගත් දවසක්. දැන් බුද්ධ ශාසනය කියල කියන එකට අතීතයේ පොතපතේ සඳහන් වෙන වචනය "ධම්ම විනය" කියන එකයි. "ධර්ම විනය". ශාස්තෘ ශාසනය හඳුන්වන්න "ධම්ම විනය" කියලා යොදනවා. මොකද, ධර්මයත් විනයත් දෙකම මේකට අදාල නිසා. වස් කාලය ගැන සිතනකොට විශේෂයෙන්ම සංඝයා වහන්සේලාගේ විනය නීති සමූහයක් හා සම්බන්ධව තිබෙන නිසා මේ වස් කාලය විනය පැත්තෙන් බොහොම වැදගත් දවසක් හැටියට සලකනව. නමුත් බුද්ධ කාලයේ, ඒ වගේම වස් කාලය ධර්මය පැත්තෙනුත්, ධර්මය කියන අංශයෙනුත් ඉතාම වටිනා දවසක් හැටියට සැළකූ බවයි අපට ඒ පුරාණ කථාන්තරවලින් පෙනෙන්නේ. මොකද බුද්ධකාලයේ චාරිත්‍රයක් තිබුණා, බුදුපියාණන් වහන්සේ වැඩ වාසය කරන කාලයේ, සංඝයා වහන්සේලා වස් කාලයට කලින් බුදු පියාණන් වහන්සේ හමුවෙන්න ගිහිල්ලා කමටහන් ලබාගෙන ඈත විවේක ප්‍රදේශයකට ගිහිල්ලා, සුදුසු තැනක වස් වසමින් ඒ කර්මස්ථානය අනුව භාවනා කරල වස් කාලය තුළ කෙසේ හෝ නිවන් දැකල බුදුපියාණන් වහන්සේ ළඟට ඒ සතුටුදායක ආරංචිය රැගෙන එන්න බොහොම මහන්සියක් ඒ සංඝයා වහන්සේලා තුළ තිබුණා. ඒ අනුව බලනකොට, ඒ කාලයේ ඥානවන්ත සංඝයා වහන්සේලා, දූරදර්ශී සංඝයා වහන්සේලා, වස් කාලයක කළ යුතු උතුම්ම ඉහළම පින්කම හැටියට - වස් පින්කම හැටියට -

සැළකුවේ නිවන් දැකීමයි. හැකිතාක් දුරට උත්සාහ කරල ඒ තුන් මාසය තුළ වීර්යය වඩලා එහෙම නිවන් දකින්නට බැරි වුනොත් ඒ සංඝයා වහන්සේලා තුළ යම් කිසි සංවේගයක් ඇතිවෙනවා. මොකද, නැවත වස් කාලයෙන් පස්සෙ බුදුපියාණන් වහන්සේ හමුවෙන්න වැඩියහම බුදුපියාණන් වහන්සේ බොහෝ විට අසන ප්‍රශ්නය තමයි, ඉස්සෙල්ලා සුවදුක් විචාරලා, සාමාන්‍යයෙන් අර පිළිසඳර වශයෙන්, ඊළඟට අහනවා මහණෙනි, පැවිදි වීමේ පරමාර්ථය ඉෂ්ට කරගත්තද කියල. ඒකට හරියාකාරව පිළිතුරු දෙන්න බැරි වුනොත් ඒ සංඝයා වහන්සේලාට ඒක හිතට බොහොම මදිකමක්. කොටින්ම කියනවා නම් ඒක බුදුපියාණන් වහන්සේ දකින්නට හිස් අතින් ගියා වගේ ගමනක් වෙනවා. අන්න ඒක නිසා සංඝයා වහන්සේලා බොහොම උත්සාහ කළා වස් කාලය තුළ නිවන් ප්‍රත්‍යක්ෂ කරගන්නට. එතකොට, ඒ කාරණා අපට පැහැදිලි වන කථාන්තරයක් තමයි අපි මේ මාතෘකා කළ ගාථාවට අදාලව තිබෙන්නේ. බුදුපියාණන් වහන්සේ ජේතවනාරාමයේ වැඩ වාසය කරන කාලයක සංඝයා වහන්සේලා පිරිසක් ඈත පිටිසර ගමකට - පිටිසර කියල අපි වචනයෙන් කිව්වට එතන කියවෙන්නේ දේශ සීමාවල පිහිටි ගමකට - ගියා වස් වසන්නට. පළමුවෙනි මාසය තුළ ඒ සංඝයා වහන්සේලාට හොඳට භාවනා කටයුතු කරගන්නට ලැබුණා. ඒ දායක පිරිසගේ උපස්ථාන ආදිය හොඳට ලැබුණා. නමුත් දෙවැනි මාසයේදී ඒ ගමට කඩා වැදුණු හොරු පිරිසක් - හොරමුලක් - ඒ ගමේ මිනිසුන් සිරභාරයට අරගෙන ගියා. ඊට පස්සේ මේ ගමේ අය ආරක්ෂා සංවිධාන යොදන්නට පටන් ගත්තා. නැවතත් ඒ සොරමුල ඇවිල්ලා මේ විදියට පහර දෙයි කියලා බයේ ආරක්ෂා සංවිධාන යොදන්න පටන් ගත්තා. නොයෙකුත් විදියේ ප්‍රාකාර බඳිමින්, කොටු කාප්ප බඳිමින්, ඒ විදියට යම් යම් ආරක්ෂා සංවිධාන යෙදුවා. ඒක නිසා සංඝයා වහන්සේලාට ඉන් පීඩාව ඇති වුනා. ඒනිසා කොහොම නමුත් මේ සංඝයා වහන්සේලාට ඒ බලාපොරොත්තු වුනු පරමාර්ථය ඉෂ්ට කරගන්න බැරිවුනා. මේ සංඝයා වහන්සේලා වස් කාලයෙන් පස්සෙ බුදුපියාණන් වහන්සේ දකින්න වැඩම කරහම බුදුපියාණන් වහන්සේ ඇහුවා "කොහොමද මහණෙනි, වස් කාලය හොඳට සුවසේ වාසය කළාද" කියල. එතකොට මේ සංඝයා වහන්සේලා පැමිණිලි කරනවා "භාග්‍යවතුන් වහන්ස, අපි පළමුවෙනි මාසයේ නම් කරදරයක් නැතිව හොඳට හිටියා. ඊට පස්සේ හොරු කඩා වැදිලා ගමේ ඇතිවුනු තත්ත්වය නිසා ගම්වාසීන් - ඒ දායක පිරිස - ආරක්ෂා සංවිධාන යෙදීමට හිත යෙදුව නිසා අපට එයින් යම් යම් අඩු පාඩු සිද්ධ වුනා. හරියට වස් කාලයේ බණ භාවනා කරගන්න බැරිවුනා." ඒකට ඒ නිදහසට කාරණා වශයෙන් ප්‍රකාශ කළා. බුදුපියාණන් වහන්සේ ඒ අවස්ථාවේ වදාළා, "මහණෙනි එහෙම තමයි, හොඳ පහසු විහරණය කියන එක හැමදාම ලැබෙන දෙයක් නොවෙයි. නිතර බලාපොරොත්තු විය යුතු දෙයක් නොවෙයි. ඒක සාමාන්‍ය

ස්වභාවයක්. නමුත් තුඹලා විසින් කළයුත්තේ මොකක්ද? අර ඒ මනුෂ්‍යයින් නගරය ආරක්ෂා කළා වගේ තමා ආරක්ෂා කරගත යුතුයි. ඒ ගම ආරක්ෂා කර ගැනීමට ඒ මනුෂ්‍යයින් අප්‍රමාද වුනා වගේ, තමන්නුත් තමන්ගේ ආරක්ෂාව සළසා ගතයුතුව තිබුණා කියලා එහෙම ප්‍රකාශ කරමින් අපි අර කලින් මාතෘකා කළ ඒ ගාථා ධර්මය වදාළා.

නගරං යථා පච්චන්තං - ගුත්තං සන්තරබාහිරං
එවං ගොපෙථ අත්තානං - ඛණො වෙ මා උපච්චගා
ඛණාතීතා හි සොචන්ති - නිරයම්හි සමප්පිතා

මේකෙ අදහස, දේශ සීමාවක පිහිටි යම්කිසි නගරයක, ඇතුළතින් පිටතින් - අභ්‍යන්තර බාහිර වශයෙන් - හොඳට ආරක්ෂා සංවිධාන යොදල තිබෙන්නේ යම්සේද, ඒ කියන්නේ, හොඳට අභ්‍යන්තර බාහිර ආරක්ෂාව යෙදූ දේශ සීමාවක පිහිටි නගරයක් යම්සේද - අන්න ඒ අන්දමින්ම - "එවං ගොපෙථ අත්තානං" - ඒ වගේම තමාම තමාගේ ආරක්ෂාව සළසා ගත යුතුය. "එවං ගොපෙථ අත්තනාං - ඛණො වෙ මා උපච්චගා" - එහෙම අප්‍රමාදව ඒ කටයුතු කළයුතු බව අඟවන පදයයි ඊළඟට කියවෙන්නේ - "ඛණො වෙ මා උපච්චගා" - ලැබූ මොහොත - තිසි මොහොත - ඉක්ම යා නොදෙවූ. මොහොත ඉක්මෙන්න - අවස්ථාව ඉක්මෙන්න - අරින්න එපා. "ඛණො වෙ මා උපච්චගා" ඊළඟට එහෙම අවවාදය හරියාකාරව නොකිරීම නිසා ඇතිවන ආදීනව පිළිබඳවයි, ඊළඟ පද දෙකෙන් ප්‍රකාශ වෙන්නේ - "ඛණාතීතා හි සොචන්ති - නිරයම්හි සමප්පිතා" එහෙම මොහොත ඉක්ම යන්න දුන්නොත් එබඳු අයට වෙන්නෙ මොකක්ද? "ඛණාතීතා හි සොචන්ති" ඒ අයට අඬන්න සිද්ධ වෙනවා. වැළපෙන්න සිද්ධ වෙනවා, කණගාටුවෙන්න සිද්ධ වෙනවා, ශෝක කරන්න සිද්ධ වෙනවා. "නිරයම්හි සමප්පිතා" - මොකද නිරයෙහි වැටිලා - නිරයට වැටිලා දුක්වෙන්න සිද්ධවෙනවා. ඔන්න ඔය විදියට බුදුපියාණන් වහන්සේ උපදේශාත්මක, අවවාදාත්මක, යම්කිසි ගාථාවක් ප්‍රකාශ කළා. ඒ ගාථාව අහල අර ස්වාමීන් වහන්සේලා රහත් වූ බවත් එතන කියවෙනවා. එතකොට දැන් මේ ගාථාව ආශ්‍රයෙන් අපි කල්පනා කරල බලනකොට මේක තුළ තිබෙන ගැඹුරු ධර්මය - සංඝයා වහන්සේලා බණට භාවනාවට හිත යොදාගෙන ඒ කටයුතු සඳහා යම්කිසි වෙහෙසක් දරනවා, ඒවායේ යම්කිසි අඩුපාඩුවක් සම්පූර්ණ කරන්නා වගේ බොහෝ අවස්ථාවල බුදුපියාණන් වහන්සේ මේ විදියට මේ ගාථා ධර්මයක් දේශනා කරන්නේ. ඒක නිසා අපට හිතාගන්න පුලුවන් ඒ සංඝයා වහන්සේලාගේ ඒ කටයුතු වල අවසානයට උපකාර වෙනවා, කර්මස්ථාන සම්පූර්ණ කර ගැනීමට,

බුදුපියාණන් වහන්සේගේ ධර්ම පාඨයක්, ගාථාවක්, පවා. ඒක නිසා වෙන්න පුළුවන්, සමහර විට සංඝයා වහන්සේලා ඒ ගාථාව අහලම රහත් වුනා කියල සඳහන් වෙන්නේ. කෙසේ හෝ වේවා! මේ ගාථා ධර්මයේ තිබෙන ගැඹුර අපේ ප්‍රමාණයෙන් අපි කල්පනා කරලා බලමු. දැන් මේ උපමාව බොහොම හොඳයි. අපි මේ අවස්ථාවල උපමාවක් ඔසසේ යන්නේ මොකද මේ ධර්මකාරණා හිත ඇතුළට බහින්න උපකාර වෙන නිසා උපමාව. 'නගරං යථා පච්චන්තං - ගුත්තං සන්තරබාහිරං' - මේ උපමාව මේ කාලයටත් බොහොම ගැලපෙනවා කියල හිතාගන්න පුළුවන්. එතකොට, දේශ සීමාවක පිහිටි යම්කිසි නගරයක්, මේක ඇතුළතින් පිටතින් ආරක්ෂා කිරීමක් ගැන මෙතන කියවෙනවා. ඒ වගේම සංඝයා වහන්සේලාට කියනවා "එවං ගොපෙථ අත්තානං' මේ විදියට ආත්මාරක්ෂාව යොදාගන්න කියලා. දැන් මේ කාලයෙත් යොදන වචනයක් නේ ආත්මාරක්ෂාව කියන එක. නමුත් මේ කාලෙ නම් ආත්මාරක්ෂාව කියලා කියන කොට කායාරක්ෂාවයි ගැනෙන්නේ. කය රැක ගැනීම. කායාරක්ෂක භටයින් යොදල කය රැක ගැනීම. හිත නම් සමහර විට - ඒක යකාට මාරයාට බාර දුන්නත් වරදක් නැහැ කියන සංකල්පය ලෝකයේ පවතින්නේ. නමුත් බුදුපියාණන් වහන්සේ මෙතන ආත්මාරක්ෂාව කියලා ප්‍රකාශ කළේ හිත රැක ගැනීමයි. මොකද මේ සංසාරයේ අපි ගෙනියන්නේ මේ හිත - චිත්ත සන්තානයයි. මේ ශරීරය, මේ ශරීර කූඩුව නම් අතහැරලා යනවා. ඒක නිසා වැඩි තැන දුන්නේ බුදුපියාණන් වහන්සේ ඇත්ත වශයෙන්ම මේ සිත රැක ගැනීමටයි. මෙතනත් අදහස වශයෙන් ගන්න කියෙන්නේ අර කය රැක ගැනීමම නොවේ. හිත රැක ගැනීම. සිත රැක ගැනීම සඳහා යම්කිසි ප්‍රමාණයකින් කය පිළිබඳව උනන්දුවක් ඇති වෙන්න ඕන. නමුත් බොහෝ දෙනා කරන්නේ හිතට කුමක් හෝ වේවා ඒක ගැන තැකීමක් නැතිව කය  රැක ගැනීම. එතකොට මෙතන මේ ගැඹුරු අර්ථය අපි ගත්ත නම් තමන්ගේ සිත රැක ගැනීම කියලා, ඊළඟට මෙන්න මේ ආරක්ෂා සංවිධානය ගැනත් අපි හිතලා බලමු - ආරක්ෂාව ගැන මෙතන කියවෙන දේ ගැන.

ධර්මානුකූලව කල්පනා කරලා බලනවා නම් හිතට ඉන්න ආරක්ෂක භටයා කවුද? සතිය, සිහිය. ධර්මානුකූලව 'සති ආරක්ඛසාරථී' කියලා එහෙම දක්වලා තිබෙනවා. සිත හික්මවීම, සිත ආරක්ෂා කර ගැනීමේ කටයුත්ත, ඒ කාර්ය භාරය, උසුලන්නේ සති කියන මුර භටයයි. එතකොට මේ සිහිය කියන මුර භටය, හොඳට නිල ඇඳුම් දාගත්තහම අපට කවත් මේක පුළුල් අන්දමින් තේරුම් ගන්න පුළුවන් සති සම්පජඤ්ඤය කියලා. සම්පජඤ්ඤය කියන එකට අපි සමහර අවස්ථාවලදී, මේක සිංහල වචනයක් කරගන්න ඕන නිසා 'දැනුවත් බව' කියල ප්‍රකාශ කළා. එහෙම නැත්නම්, මනා දැනුම

ඇතිව, සිහි ඇතිව සිටීම. සිහියත් එක්කම යන මහා දැනුම. ඉතින් මෙන්න මේ දැනුවත් බවත් ඇති සිහියයි, මෙතන මේ ප්‍රකාශ කෙරෙන්නේ. එතකොට ලෝකයේ ඔය ආරක්ෂක භටයින් යොදන කොට, දැන් නගරයක වගේ නැනක ඇතුළතත්, පිටතත් ආරක්ෂාව ගැන ප්‍රකාශ කරනවා. නගරයක සාමාන්‍යයෙන් ඇතුළත දොරටුව, ඇතුල්වන දොරටුව, ඊළඟට ඒ කොටු කාප්ප ආදිය, ප්‍රාකාර ආදිය, ඊළඟට පිටත බලනවා නම්, අට්ටාල, මුර ගෙවල්, කට දිය අගල් ආදී ඔය අතීතයේ නගරවල් ආරක්ෂා කරගන්න නොයෙකුත් විධිවිධාන - ආරක්ෂා විධිවිධාන - යොදලා තිබුනා. මේ කාලයේ උනත් දැන් අර මුර භටයෙක් සාමාන්‍යයෙන් නවත්වන්නේ දොරටුවක් ළඟ. දොරටුවක් ළඟ නවත්වන කොට ඒ දොරටුව බොහොම පටු දොරටුවක් වෙන්න ඕන. ලොකු දොරටුවක් නම් අර එන පිරිසට කඩා වදින්න පුළුවන්. එතකොට මේ සිහිය කියන එකත් අපි ධර්මානුකූලව කල්පනා කරලා බලනවා නම් - සතිය කියන එක - සතිය කියන කොට ඒ 'සති' කියන වචනයේ මතකය කියන අදහසත් තිබෙනවා. නමුත් ධර්මානුකූලව සම්මා සතිය ගැන කියන කොට මේක තිතරම එළඹ සිටි සිහිය. මේක වර්තමානයට අදාල දෙයක්. මොකද අතීතයට දුවන්න පටන් ගත්තොත්, අනාගතයට පනින්න පටන් ගත්තොත්, එතන අර දොරටුව පළල් වෙනවා. එතකොට අපිට රකින්න තියෙන දොරටුව මොකක්ද? ධර්මානුකූලව බලන කොට මේ ඉන්ද්‍රිය දොරටු හයයි. ඇස, කණ, නාසය, දිව, කය, සිත. සිතත් ඇතුළත්ව මෙන්න මේ ඉන්ද්‍රිය හය, ඉන්ද්‍රිය දොරටු හය. බාහිර ඉන්ද්‍රිය පහ තමයි ඇස, කණ, නාසය, දිව, කය කියන ඒවා. ඊළඟට සිත. මනින්ද්‍රිය. මෙන්න මේ ඉන්ද්‍රිය දොරටු හයයි රැක ගන්න තිබෙන්නේ. මේ දොරටු හය රැක ගැනීමේදී මේ දොරටු හයට හැම තිස්සෙම කඩා වදින්න බලාගෙන ඉන්නවා, මාර සේනාව, සතුරු සේනාව. කෙලෙස් සේනාව. කඩා වදින්න බලාගෙන සිටින ඒ සේනාව තමා අරමුණු. ඇසට නම් රූප අරමුණු. කණට නම් ශබ්ද අරමුණු, නාසයට නම් ගඳ සුවඳ. ඔය විදියට මේ සිත කලඹන, සිත ඇලීම් වලට ගැටීම් වලට, මෝහයට, මුළාවට, පත් කරන සතුරු සේනා කඩා වදින්න බලාගෙන ඉන්නවා. බොහොම ශීඝ්‍රයෙන් ඒවගේම එන්නේ. එබඳු අවස්ථාවක දැන් විශාල පිරිසක් එනකොට ඒ දොරටුව ළඟට, ඉස්සෙල්ලාම ඒ අයට දන්නනවා "එන්න ඕන පෝලිමේ". පෝලිමේ එන්න ඕන. එක්කෙනා පස්සේ එක්කෙනා. එහෙම නැතිව රැකගන්නට බැහැ මේක. අන්න ඒ විදියට මේක පටු දොරටුවක් කරගම ඒක තමයි පහසුව වර්තමානයේ හිත රඳවා ගන්නට. වර්තමානයේ හිත රඳවා ගැනීම තුළින් අතීතයට දුවන්නේ නැතිව, අනාගතයට පනින්නේ නැතිව, එහෙම ඒ එන එන හැම එකකටම සිහිය යොමු කිරීමයි මෙතන ප්‍රකාශ කෙරෙන්නේ. එතකොට ඒ සිහියත් එක්කම ඊළඟට ඒ සිහිය තුළින් කරන්නේ මොකක්ද? යම්කිසි ක්‍රියාත්මක වීමකුත් අවශ්‍ය වෙනවා. අර දැනුවත්

බව උපකාරී කරගෙන මෙනෙහි කිරීමක් කරනවා. එක්තරා මනසිකාරයක්, මෙනෙහි කිරීමක්. මෙනෙහි කිරීමක් යොදනවා.

අපි හිතමු දැන් ඔය ආරක්ෂක භටයෙක් ඉන්නවා නම් ඒ තැනැත්තාට අයිති කාර්යය නිදා ගැනීම නොවෙයි. හොඳට අවදිමත්ව ඉඳගෙන, එන එන පුද්ගලයා පිළිබඳව යම්කිසි විමසුම් ඇසක් යොමු කරනවා. ඒක ඒ තැනැත්තාගේ දක්ෂතාව අනුවයි. බොහොම ශීඝ්‍රයෙන් ඒක කරන්නට සිද්ධ වෙනවා. එහෙම එක්කෙනෙක් හුඟක් වෙලා රඳවා ගෙන ඉන්නත් බැහැ එතන. එනවා. ඊළඟට විමසුම් ඇසට භාජනය කරලා එයාව ඇතුල් කරගත යුතු කෙනා නම් ඇතුල් කරගන්නවා. එහෙම නැත්නම් පිට කරන්න ඕන කෙනා නම් පිට කරනවා. ඔය දෙකයි තියෙන්නේ. එතකොට මෙතනදී උවමනා කරන්නේ ඒ දක්ෂතාවයි, ඒ මෙනෙහි කිරීම මෙතන දීර්ඝ වශයෙන් කරන්න බැහැ. දැන් මේ කාලයේ නම් පින්වතුන් හොඳට දන්නවා ඒ විදියෙ තැන්වලදී හැඳුනුම්පතක් කියලා එකක් තියනවා. එතකොට, ඒ හැඳුනුම්පත විදියට නැතත්, අතීතයෙත් යම් යම් ආකාරයෙන් කෙනෙක් ආවාම හඳුනාගන්න ක්‍රම තිබෙන්න ඇති. ඒ හැඳුනුම්පතක නමක් තිබෙනවා. රූපයක් තිබෙනවා. එතකොට මේ නමින් තමයි මේ තැනැත්තා හඳුන්වන්නේ. මේ හැඳිනීමට අනුකූල වුනු යම්කිසි රූපයකුත් අරගෙනයි මේ තැනැත්තා එන්නේ. නමුත් බොහෝවිට කෙරෙන්නේ මොකක්ද? ඒ සතුරු කඳවුරු එනව නම්, ඔත්තුකාරයින් එනවා නම්, වෙස් වළාගෙනයි එන්නේ. නියම ආකාරයෙන් නෙවෙයි. එතකොට ඒ අය හඳුනගන්න ඕන. ඉතාමත් දක්ෂ මුර භටයෙක් නම්, ඒ අය අර අනම් මනම් කථාවලට යන්න නොදී අර හැඳුනුම්පත ඉදිරිපත් කරලා, තමන්ට ඇතුළු වෙන්නට සුදුසුකම් ඔප්පු කරන්නට කියන්න ඕන. අන්න ඒ විදියට, අපි ධර්මානුකූලව කල්පනා කරලා බලනවා නම්, මේ එන අරමුණු - මේ සතුරු සේනා - අර විදියේ හඳුනා ගැනීමේ පොදු ක්‍රමයක් තිබෙනවා. ඒකට කියනවා 'නාම-රූප' කියලා. නාම රූප වශයෙනුයි මෙනෙහි කරලා හඳුනා ගන්නේ. දැන් අපි හිතමු රූපයක් එනවා ඉදිරියට. මොකක් හරි රූපයක් එනවා. මේ විදර්ශනා භාවනායෝගියාට සිද්ධ වෙන දෙයක්. එතකොට මේ එන රූපය වෙස් වළාගෙනයි එන්නේ. වර්ණ සණ්ඨාන කියලා කියන්නේ. ඒවායේ පාට, නොයෙකුත් විදියේ පාට. ඊළඟට තව නොයෙකුත් සටහන්. ඔව නිසා සිත විසම්පත වෙන්න ඉඩ තියනවා. ඒවට සිත යොමු කරන්නේ නැතිව - 'මේක රූපයක්'. එතකොට අර භාවනා යෝගියා මේ කොයි විදියේ රූපයක් ආවත් ඒක 'රූපයක් රූපයක්' කියලා මෙනෙහි කරනවා. ඊට වඩා ඈතට යන්නේ නැහැ. මොකද ඒකට හේතුව බුදුපියාණන් වහන්සේ දක්වා තිබෙන්නේ ඊට වඩා ඈතට යන්ට හිටියොත් ඒ හිත නවත්වා ගන්න බැරි වෙනවා. කෙලෙස් වලට ඇදිලා යනවා. ඒවට කියන්නේ නිමිති. නිමිති අනුව්‍යඤ්ජන ගන්නවා

කියලා කියනවා. ඒ කියන්නේ නිමිතිත්, නිමිති අනුව ගන්නා වූ අනිකුත් ලක්ෂණයන්. ඒ නැතැත්නා ඒ දකින රූපයේ - යම්කිසි කෙනෙකු හෝ යම්කිසි දෙයක් හෝ දැක්කහම - ඒක පිළිබඳව නව නොයෙකුත් සිතිවිලි - කෙලෙස් සිතිවිලි - රාශියක් කඩා වදින්න පුලුවන් නිසා ඒක කෙටියෙන් මෙනෙහි කරනවා 'රූපයක්' කියලා.

ඒ වගේම ඒකට අදාලව මෙතන තිබෙන්නේ, කොටින්ම සලකා ගන්න තිබෙන්නේ, ලකුණු තුනයි. අනිත්‍ය, දුඃඛ, අනාත්ම කියන ලකුණු තුනයි. ඒ ලකුණු තුන දාලා තමයි මේ හැම එකක්ම පාස් කරන්නේ. එතකොට ඒ ලකුණු තුන දාන්න උපකාර වෙන්නේ - මේක හඳුනා ගන්නව මෙතන තිබෙන්නේ වෙන දෙයක් නෙවෙයි. දැන් නාම ධර්ම කියන එක, ඒ ධර්මානුකූලව පෙන්නුම් කරන්නේ වේදනා සඤ්ඤා චේතනා, ස්පර්ශ මනසිකාර. දැන් මේක ධර්මයට සමාන්තර කරලයි දක්වන්න උත්සාහ කරන්නේ. නාම ධර්ම කියන ඒවා සාමාන්‍යයෙන් හිත හා සම්බන්ධ දේවල්. ඉතින් මෙතන හිතට සම්බන්ධ දේවල් තමයි වේදනාවල්. කෙනෙක් යම්කිසි දෙයක් හඳුනාගන්නේ, දැන් කුඩා දරුවෙක් උනත් බොහෝ විට බහ තෝරන්න දන්නෙ නැති කෙනෙක් නම් මේවා හඳුනාගන්නේ - ඔන්න ඔය විදියේ දේවල් වලින්. යම්කිසි වින්දනයක්. එහෙම නැත්නම් තමන්ට දුන්න දෙයක් පිළිබඳව වින්දනය, ඒකෙ ඇති වේදනාව ආශ්‍රයෙන්. එහෙම නැත්නම් ඒක තුළින් යම්කිසි සංඥාවක්. ඊළඟට ඒවා පිළිබඳව ඇති වන සිතිවිල්ලක්, ඒවායේ ස්පර්ශය. ඒවා පිළිබඳව අපි මෙනෙහි කරන ආකාරය. ඔන්න ඔය විදියට මේවා ගැඹුරු වශයෙන් බලනකොට විදර්ශනාවට උපකාර වෙන ඒ නාම ධර්ම ටික. ඊළඟට රූප ධර්ම හැටියට ගන්න කොටත් අර කලින් කියාපු ඒ වර්ණ සංස්ථාන - වර්ණ සටහන් - ආදිය ගැන නොවෙයි හිතන්නේ. මේ හැම එකක්ම, ලෝකයේ තිබෙන තාක් දේවල්, අපේ ශරීරයත්, බාහිර දේවලුත් හැදිලා තිබෙන මූල ධාතු මොනවද? පඨවි. ආපෝ, තේජෝ, වායෝ. මේ මහ පොළොවත්, අපේ ශරීරයත් හැදිලා තිබෙන්නේ අර පඨවි කියලා කියන තද ගතිය ඇති යම්කිසි දෙයක්. ඊළඟට ආපෝ, ගලන ස්වභාවය ඇති ජලය - ජලයෙන් පෙන්නුම් කරන එක. ඊළඟට තේජෝ කියලා කියන ගින්න. ඊළඟට වායෝ කියලා කියන හුළඟ. ඔය හතරට අදාල දේවල්වලින් තමා අපේ ශරීරත්, බාහිර දේවලුත් හැදිලා තිබෙන්නේ. ඔන්න ඕක නිසා ධර්මානුකූලව කල්පනා කරලා බලනකොට, අර 'සති' කියන මුරකරුවාට මනසිකාරය ඔස්සේ තේරුම් ගන්න තිබෙන්නේ ඔන්න ඔය ටික විතරයි. නව නොයෙකුත්, ඉඳ්‍රියට එන රූපයේ තිබෙන බාහිර නිමිති ඔස්සේ හිත දුවවන්නේ නැහැ. එතකොට අර කෙලෙස් ගලාගෙන එන නිසා. ඒ විදියට නාම රූප කියලා අපි ගත්තොත්, දැන් මේක තමයි හැඳුනුම්පත. මේ හැඳුනුම්පත බලලයි අපි මේවා පාස් කරන්නේ. ඔන්න දැන් අරමුණක් ආවා.

ඒක නවත්තගන්නේ නැහැ. ඒක ගියා. ආවා ගියා, ආවා ගියා. ඒක තුළින් අපි අනිත්‍යතාව, මේවායේ හැම එකකම ඇති අනිත්‍ය ස්වභාවය, එන යන ස්වභාවය, වටහා ගන්නවා. ඔය විදියට තමයි ඉතින්, ඇස්. කන්, නාසාදිය. දැන් ශබ්දයක් - අපි වචනයක් නවත්වන කොට ඒක එක්කම කනට යම්කිසි ස්පර්ශයක් එනවා. දැන් ඔය රබානක, බෙරයක, වාගේ දේක නම් යමක් වැදුනට පස්සේ හුහක් වෙලා දෝංකාරයකුත් තියනවා. රබානකට වගේ දෙයකට ගහනකොට ඉබේටම දෝංකාරයක් එනවා. ඒවගේම වචනය තුළින් හිතේ ඇතිවන සිතුවිලි, ඒවා පිළිබඳවත් යම්කිසි දෝංකාරයක් එනවා. ඒක නිසා තමයි නැවත මතක් කරගන්න පුලුවන් වෙන්නේ. මතක් වෙන්නේ. ඔය විදියට ඉතින් කණ පිළිබඳව. ඔය එක එකක් ගැන හිතාගන්න පුලුවන්. දිව පිළිබඳව ඉතාමත් පහසුවෙන් හිතා ගන්න පුලුවන් කුඩා දරුවෙකුට පවා. ඉතින් ඔය හැම එකකම මේ අරමුණු ගලාගෙන එනවා. ඉතාම ශීඝ්‍රයෙන් එන්නේ. දැන් භාවනායෝගියා නම් ඒවා ඔස්සේ ඇදිලා ඇලීම් වලට හේතු නොවන ආකාරයට, ගැටීම්වලට හේතු නොවන ආකාරයට, ඔන්න ඔය විදියේ මධ්‍යස්ථ ප්‍රමාණයකින් හඳුනා ගන්නවා. හඳුනා ගැනීම තුළ, අර මෙනෙහි කිරීම තුළ, ප්‍රඥාව ක්‍රියාත්මක වෙනවා. එතකොට තිවත් දැකීමට නම් සතියයි, ප්‍රඥාවයි කියන දෙක දියුණු කරගන්න ඕන. මේ ප්‍රඥාව කියන එක ඔන්න ඔය මෙනෙහි කිරීම තුළින් ඒ අවස්ථාවේ ක්‍රියාත්මක වෙනවා. ඒ කියන්නේ අර සිහිය යොදලා මේක හඳුනා ගැනීමක් කරනවා. ඉතාම ශීඝ්‍රයෙන් කරන්ට ඕන. මොකද ඒකට හේතුව, බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරලා තියෙනවා මේ ලෝකයේ අපේ ඉන්ද්‍රියයන්ට ගලාගෙන එන අරමුණු ඉතා ශීඝ්‍රයෙන් එන්නේ. එක් අවස්ථාවක අජිත කියන බ්‍රාහ්මණ තරුණයාට බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කළා,

යානි සොතානි ලොකස්මිං - සති තෙසං නිවාරණං
සොතානං සංවරං බ්‍රෑමි - පඤ්ඤායෙතෙ පිථීයරෙ
(සුත්ත නිපාත, ගා. 1039)

කියලා. යම් තාක් ලෝකයේ ගලාගෙන එන දිය පහරවල් තිබේද අන්න ඒ දිය පහරවල් වලට සතිය තමයි - මේ සති කියලා කියන සිහිය තමයි - මේවා වළක්වන මාර්ගය. වැළැක්වීම - 'සති තෙසං නිවාරණං', 'සොතානං සංවරං බ්‍රෑමි' මේ ගලාගෙන එන දිය පාරවල් වැළැක්වීමේ ක්‍රමයයි මම මේ ප්‍රකාශ කළේ. 'පඤ්ඤායෙතෙ පිථීයරෙ' නමුත් ඇත්ත වශයෙන් මේ ඔක්කොම වසන්න පුලුවන් වෙන්නේ, දිය පහරවල් සම්පූර්ණයෙන් වසා දමන්න පුලුවන් වෙන්නේ, ප්‍රඥාවෙන්. එතකොට මේ කියන සතියෙන් - අර දැන් යම්කිසි වේගයකින් ගලාගෙන එන ගඟක ඉස්සෙල්ලාම එකපාරටම වේල්ලක් බඳින්න

බැහැ. ගලාගෙන එන වතුර ටිකක් වළක්වා ගන්න යම්කිසි උපක්‍රමයක් යොදන්න සිද්ධ වෙනවා. දැන් අර කඩා වදින පිරිසත්, අර ආරක්ෂක භටයා ඔහොම පොඩ්ඩක් ඉන්න කියලා නවත්ත ගන්නවා වාගේ. ඊළඟට පරීක්ෂණයට භාජනය කරනවා. පරීක්ෂණයට භාජනය කිරීම තුළින් අර තැනැත්තාගේ යථා තත්ත්වය වටහා ගන්නවා. කෙලෙස් අරමුණක් නම් එහෙම පිටින්ම ඒක කල්ලූ කරලා දානවා. ඔන්න ඔය විදියට දැන් වතුරක් උනත්, වේල්ල බැන්දට පස්සේ තමයි මේක සම්පූර්ණ වෙන්නේ. ප්‍රඥාව තමයි වේල්ල. ප්‍රඥාව, ගැඹුරු අවබෝධය, ධර්මාවබෝධය. මේක පිළිබඳ යථා තත්ත්වය.

එතකොට මෙතන මේ තියෙන්නේ භාවනාවට අදාල වන කාරණයක්. ඒක ඇසුරින් තේරුම් ගැනීමෙන් තමයි සංඝයා වහන්සේලා රහත් වෙන්න ඇක්කේ. ඉතින් මෙතන මේ කියන්නේ සිත ආරක්ෂා කරගැනීම, සිත නමැති නගරය. මේකට දොරටු හයක් තියනවා. මේ දොරටු හයෙන් සිත කියලා කියන්නේ සිතට එන සිතුවිලි. ඒ ඇරුණහම අනිකුත් බාහිර අරමුණු. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන ඒවා. ඔන්න ඕවා ගලාගෙන එන අවස්ථාවේදී අර සිහිය යොදවලා, සිහිය සහිත දැනුවත් බව යොදවලා, එක එකක් පාසා මෙනෙහි කරන්න ඕන. ඒ මෙනෙහි කිරීමත් ඉතාමත්ම ශීඝ්‍රයෙන් කරන්න වෙනවා. දිගට කිය කියා ඉන්නවත් නෙවෙයි. ඒක රූපයක්, නම් රූපයක්, රූපයක්. ශබ්දයක් නම් සද්දයක්, සද්දයක්, කියලා දෙවරක්. 'රූපයක් රූපයක්, සද්දයක් සද්දයක්' ඒ විදියට 'ගඳක් ගඳක්', 'රසක් රසක්' හිතට දෙනවා ඒ හැඳින්වීම. හඳුන්වා දීම තුළින් ඒක අවබෝධ කරලා එතනින් කෙළවර කරනවා. ඔන්න ඔය විදියේ හික්මීමක් තමයි ඒ භාවනාවේදී, විදර්ශනා භාවනාවේදී, කෙනෙක් යොදා ගන්නේ. මේ අදහසයි එතකොට මෙතන මේ ගාථාවෙන් බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරලා තියෙන්නේ. කොටින්ම නිවන පිළිබඳවයි මෙතන ප්‍රකාශ කෙරෙන්නේ. නිවනට උපකාර වෙන ධර්ම. ඒක නිසා තමයි ඊළඟට 'ඛණො වෙ මා උපච්චගා', මේ නිවන් දැකීමට ඇති අවස්ථාව - මේක 'ඉක්ම යා නොදෙවූ' කියලා බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරනවා. මේ ක්ෂණය කියන එක - ක්ෂණ සම්පත්තිය කියන එක මේ ධර්මයේ දක්වලා තිබෙන්නේ - බුදු පියාණන් වහන්සේ ප්‍රකාශ කරලා තිබෙන්නේ, බුද්ධෝත්පාද කාලයක ලබන මනුෂ්‍යාත්මභාවය - ඒ මුලු ජීවිතයම - එක ක්ෂණයක් හැටියටයි සලකන්න ඕන කියලා. බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරනවා. මහණෙනි, මේ ලෝකයා නිතරම 'ඛණ කිච්චො ලොකො' 'ලෝකය කියන එක වෙලාවට වැඩ කරන තැනක්. ක්ෂණයට වැඩ කරන තැනක්' කියන කතාව කියනවයි. නමුත් නියම මොහොත මොකක්ද? නිසි මොහොත මොකක්ද? අනිසි මොහොත මොකක්ද? කියන එක ලෝකයා දන්නෙ නැත, කියලා ඊළඟට බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරනවා මේ

ධර්මයේ ක්ෂණය කියන එක, මේ ක්ෂණ සම්පත්තිය කියන එක විස්තර සහිතව එක් අවස්ථාවක.

දැන් ඔන්න මහණෙනි බුදුකෙනෙක් ලෝකයේ ඉපදිලා ඉන්නවා. ධර්මයක් දේශනා කරනවා. නමුත් යම්කිසි පුද්ගලයෙක් නිරයේ ඉපදිලා ඉන්නවා. එතකොට ඉතින් අර බුදු කෙනෙක් උපන්නට තමන්ට නිවන් දකින්නට අවස්ථාව ලැබෙන්නේ නැහැ. ඒක අන්න අර කියාපු අනිසි මොහොත. ඒ කියන්නේ වෙලාව වරදින්න පුලුවන් අවස්ථාවල් අටක් බුදුපියාණන් වහන්සේ දක්වනවා - මොහොත නොවන අවස්ථාවල්. අටකින් පෙන්නුම් කරලා, ඒ අටෙන් මිදුන කෙනෙක් බුද්ධෝත්පාද කාලයක නියම මොහොත ලබා ගන්නවා කියලා. එතකොට පළමුවෙන් කිව්වේ බුදුකෙනෙක් ඉපදිලා ඉන්නවා. ධර්මයක් දේශනා කරනවා. නමුත් මේ අවාසනාවන්ත පුද්ගලයා නිරේ ඉපදිලා ඉන්නවා. එතකොට බෑ මේ ධර්මයෙන් වැඩක් ගන්න. දුක් කෙළවර කර ගන්න. ඒ පළමුවෙනි එක. ඊළඟට ප්‍රකාශ කරනවා - ඒකත් ඒ වගේමයි. බුදුකෙනෙක් ඉපදිලා ධර්මයක් දේශනා කරනවා. නමුත් ඒ නැතැත්තා ප්‍රේත ලෝකයේ ඉපදිලා ඉන්නවා. ඊළඟට තවත් තුන්වෙනුව දක්වනව. බුදුකෙනෙක් ඉපදිලා ධර්මයක් දේශනා කරනවා. මේ නැතැත්තා තිරිසනෙක්. තිරිසන් ලෝකයේ. එබඳු අවස්ථාවකත් බැහැ මේ අනුව නිර්වාණ මාර්ගයේ ගමන් කරලා සසර දුකින් මිදෙන්න. ඊළඟට එවගේම බුදුකෙනෙක් ඉපදිලා ධර්මයක් දේශනා කරනවා. යම්කිසි කෙනෙක් බොහොම දීර්ඝායුෂ්ක දේව නිකායක - දිව්‍ය ලෝකයක ඉපදිලා ඉන්නවා. ඒ දෙව්ලොව සැප සම්පත් ආදියට යෙදිල ඉන්න අවස්ථාවක ශාසන බ්‍රහ්ම චරියාව රකලා මේ ත්‍රිලක්ෂණය - අනිත්‍ය. දුඃඛ, අනාත්ම ත්‍රිලක්ෂණය වඩලා සසර දුක් කෙළවර කරගන්න ලැබෙන්නේ නැහැ. ඒක අපහසුයි. එවායේ සැප සම්පත් ආදී නොයෙකුත් හේතූන් නිසා. මනුෂ්‍ය ලෝකය තමයි නිවන් දැකීමට හොඳම තැන. ඊළඟට තවත් සමහර විට බුදුකෙනෙක් ඉපදිලා ඉන්නවා. ධර්මයක් දේශනා කරනවා. නමුත් යම්කිසි පුද්ගලයෙක් ඉපදිලා ඉන්නවා ඈත ප්‍රදේශයක. සාමාන්‍යයෙන් බුදුවරු උපදින්නේ දඹදිව මධ්‍යම ප්‍රදේශයෙයි කියලයි කියන්නේ. එතකොට ඒ මධ්‍ය ප්‍රදේශයේ උපන් කෙනා තමයි වාසනාවන්ත උත්පත්තිය ලැබුවේ. ඒ කියන්නේ ධර්මය අසන්න වගේම ධර්මය අනුව හැසිරෙන්නත් පුලුවන් විදියේ තත්ත්වයක් බුද්ධ කාලයේ ඒ ප්‍රදේශයේ තියෙනවා. ඉතින් එබඳු කාලයක යම්කිසි කෙනෙක් ඉපදිලා ඉන්නවා නම් ඉතාමත් ඈත, ඒ ධර්මය අසන්නටවත් නොලැබෙන, ඒ වගේම භික්ෂු භික්ෂුණී. උපාසක උපාසිකා කියන සිවුවණක් පිරිස නොයන විදියේ ප්‍රදේශයක ඉන්නවා නම්, එබඳු කෙනෙකුටත් මේ ධර්මයෙන් ප්‍රයෝජන ගන්න බැහැ. අන්න එතකොට ඒ අවස්ථාවත් නියම අවස්ථාවක් නොවෙයි. ඒකත් අවාසනාවන්ත වෙලාවක්. ඊළඟට, තවත් සමහරවිට බුදුකෙනෙක්

ඉපදිලා ඉන්නවා. ධර්මයත් දේශනා කරනවා. යම්කිසි පුද්ගලයෙක් මධ්‍යම ප්‍රදේශයේම, ඒ ප්‍රදේශයෙමත් වාසය කරනවා. නමුත් ඒ තැනැත්තා තදින්ම මිථ්‍යාදෘෂ්ටිකයි. දැඩි මිථ්‍යාදෘෂ්ටියකින් අන්ධ වෙලයි ඉන්නේ. එබඳු තැනැත්තාට ධර්මයෙන් ප්‍රයෝජන ගන්න බැහැ. එබඳු අවස්ථාව අන්න අවාසනාවන්ත අවස්ථාවක්. ඊළඟට දක්වනවා බුදුකෙනෙක් ඉපදිලා ඉන්නවා. ධර්මයත් දේශනා කරනවා. මේ තැනැත්තාට යමක් කියලා තේරුම් කරන්න බැහැ. ප්‍රඥාව නැහැ. ඒ කියන්නේ නුවණ මෝරපු නැති කෙනා. එහෙම කෙනාට ධර්මයෙන් ප්‍රයෝජන ගන්නට බැහැ. ඔය විදියට ඒ අවස්ථාවත් අවාසනාවන්ත අවස්ථාවක්. ඊළඟට අන්තිමට කියන අවස්ථාවේ යම්කිසි කෙනෙක් ඉන්නවා හොඳට ප්‍රඥාවන්තයි. දඹදිව මධ්‍යම ප්‍රදේශයේ ඉපදිලා තිබෙන්නේ. ඒ ඇසිනුත් ඔක්කොම සම්පූර්ණයි. නමුත් බුදුකෙනෙක් ඉපදිලා නැහැ. ධර්මය දේශනා කරන්නේ නැහැ. ඔය අටවෙනි අවස්ථාව.

ඔන්න ඔය විදියට බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරනවා. නිසි මොහොත නොවන අවස්ථා අටක් තියනවා. ඔය අවස්ථා අටෙන් බේරිලා බුද්ධෝත්පාද කාලයක ධර්මය අසන්නට පුළුවන්, ධර්මය අනුව හැසිරෙන්න පුළුවන්, භූමි ප්‍රදේශයක උත්පත්තියක් ලබනවා නම් යම්කිසි කෙනෙක් ඉන්ද්‍රිය විකල භාවයක් නැතිව, ප්‍රඥාව ඇතිව, අන්න ඒක ඉතාමත් දුර්ලභ මොහොතක්, ක්ෂණයක්, හැටියට බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරනවා. එතකොට තම තමන් ගැන හිතන්න තිබෙන්නේ අන්න ඒ විදියේ උතුම් අවස්ථාවක් ලබාගත්තු හැටියටයි. ඒ ක්ෂණ සම්පත්තියයි මේ අපගේ දාන්න එපා කියලා බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරන්නේ. ඒ ක්ෂණය අත හැරුනොත්. ඒ වෙලාව අත හැරුනොත්, බුදුපියාණන් වහන්සේ උපමාවක් දක්වනවා, හරියට යම්කිසි වෙළෙන්දෙකුට ලාභයට බඩුවක් ගන්න පුළුවන් අවස්ථාව ආවා. ඒකෙන් ප්‍රයෝජනයක් ගන්නේ නැතිව අන්තිමට පසුතැවෙනවා. අන්න ඒ වගේ පසුතැවෙන්න වෙනවා, අර ධර්මයෙන් ප්‍රයෝජන ගන්න පුළුවන් අවධියක ඉතාමත්ම දුර්ලභ අවස්ථාවක, මේ අති දීර්ඝ සංසාරයේ එබඳු අවස්ථාවකුත් ලබාගෙන, ඉන් ප්‍රයෝජන ගන්නේ නැහැ. ප්‍රයෝජනය කියලා කියන්නේ මොකක්ද? නිවන් දැකීමයි. සසර දුක් කෙළවර කර ගැනීමයි. යටත් පිරිසෙයින් අර කියාපු හැටියට අපායෙන් මිදීමට උපකාර වන ඒ සෝවාන් මාර්ග ඥානයෙන් ලෝකෝත්තර තත්ත්වයක් ලබා ගැනීමයි. ඔන්න ඔය විදියට අපට මේ ගාථාව තේරුම් ගන්න වෙන්නේ.

ඒ නිසා තමයි 'ඛණාතීතා හි සොචන්ති, නිරයම්හි සමප්පිතා' - කියාපු උතුම් මොහොත අතහැරී ගියොත් ඒ තැනැත්තන්ට වෙන්නේ නිරයෙහි වැටිලා දුක් විඳින්නයි. ශෝක වෙන්නයි. ඇත්ත වශයෙන්ම අපි අර කලින් කියපු

ආකාරයට කය රැක ගන්න කොයෙකුත් උත්සාහ යොදනවා මේ කාලයේ, නමුත් සිත රැක ගැනීම ගැන උනන්දු නොවන නිසා මේ කෙටි ජීවිත කාලය, අර විදියට නොයෙකුත් ආරක්ෂා සංවිධාන යොදලා, සමහරවිට ඒ ආරක්ෂකයින් නිසාම මරුමුවට පත්වෙලා, අන්තිමට ගිහින් උපදින්නේ කොහේද? ප්‍රේත ලෝක වල, යක්ෂ ලෝකවල, නරක තැන්වල, එහෙම නැත්නම් නිරයේ. එබඳු තැන්වල උපදින කතාන්තර නොයෙකුත් ආකාරයෙන් අපට අසන්නත් ලැබෙනවා. අන්න එබඳු ඒ ඉතාමත් අවාසනාවන්ත යුගයකයි අපි ජීවත් වෙන්නේ. නමුත් නුවණින් කල්පනා කරන පින්වතුන් හැම තිස්සෙම හිතන්න ඕන බුදුපියාණන් වහන්සේගේ අවවාදය අනුව, මෙතන මේ ආත්මාරක්ෂාව තිව්වේ හිත රැක ගැනීමයි. හිත රැක ගැනීම කියල කියන්නේ අන්න අර හිතට එන දොරටු - හිත හා සම්බන්ධ දොරටු හය - සතියෙන්, ඒ සති කියන ධර්මය යොදලා තම තමන්ගේ භාවනාවට අදාළ අන්දමින් මුරකරුවාට අයිති වැඩේ පවරන එකයි. සතිය එක්ක යන සම්පජඤ්ඤය කියන දැනුවත් බව පිළිබඳව ධර්මයේ දැක්වෙන්නේ - ඒ දැනුවත් බව සතර ආකාරයෙන් පෙන්නුම් කරලා තියෙනවා. යම්කිසි කර්මස්ථානයක් පුරුදු කරන කෙනෙකුට ඒ කර්මස්ථානය අනුව ඒ දැනුවත් බව යොදන්නට සිද්ධ වෙනවා. ඒ කියන්නේ යම්කිසි අරමුණක් ආවම, ඒ අරමුණ තමන් කරන කර්මස්ථානයට උපකාරවත් වෙන දෙයක්ද? ප්‍රයෝජනවත් වෙන දෙයක්ද? ඒක අර්ථවත් ද? කියලා ඒ විදියට කල්පනා කරන්ට වෙනවා. ඊළඟට තමන්ගේ භාවනාවට සප්පායද, ඒකට සුදුසුද? යෝග්‍යද? ඒ විදියටත් හිතන්න වෙනවා. නමුත් ඒ වගේම ඒ හැම අරමුණක් තුළින්ම හැම අවස්ථාවකම කර්මස්ථානයක් රැකගන්ට පුලුවන් ද කියල ඒක ගැනත් බලන්ට ඕන. ඊළඟට මේ අරමුණ පිළිබඳව මුළාවන ස්වභාවය - ඒක නැතිව ඒ අරමුණ දිහා බලන්න හැකියාවකුත් ලබාගන්න ඕන. ඔය විදියට ගැඹුරින් කල්පනා කරලා බලනකොට. අර ආරක්ෂක භටයා තමන්ට අයිති කාර්යය, ඒ කාර්යභාරය, ඉෂ්ට කිරීමේදී සැහෙන දැනුවත් බවක් තියාගන්නවා වගේ යෝගාවචරයත්, භාවනාවට යෙදුනු කෙනාත්, ඒ තමන්ගේ කර්මස්ථානය රැක ගන්නවා. කර්මස්ථානයයි තමන්ට අයිති රැකගන්න තියෙන එකම දේ. ඒ කමටහන් පැවැත්වීම තුළින් තමයි කෙනෙකුට තිවන් දකින්නට පුලුවන් වෙන්නේ. ඒක නිසා තමයි අර සම්පජඤ්ඤය කියන එක, දැනුවත් බව - මනා දැනුම කියන එක - ඉතාමත් පුළුල් අන්දමින් තේරුම් ගත යුතුව තිබෙන්නේ. එතකොට මෙන්න මේ විදියට මේ සතිය රැක ගැනීමට උපකාර වන අරමුණු තමයි සතර සතිපට්ඨානය හැටියට බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරලා තියෙන්නේ. ඒ කියන්නේ, වෙන දේවල්, බාහිර දේවල්, නොවෙයි මෙතන කියන්නේ. තමන්ට ලැබිච්ච ශරීරයම - මේ කය - අනුව සිහිය පිහිටුවනවා. ඊළඟට වේදනාවල් අනුව. ඊළඟට සිත, සිතේ ස්වභාවය. ඒක ඒ ඒ ආකාරයෙන් තේරුම් ගන්නවා.

ඊළඟට සිතට එන සිතුවිලි. කයත්, වේදනාවත්, සිතත්, සිතුවිලිත්, කියලා ගන්න පුළුවන් පොදුවේ. මෙන්න මේවා පිළිබඳව - මේවායේ - සිහිය පිහිටුවා ගැනීම කියන්නේ නිතරම වර්තමානයේම ජීවත් වීමයි. සාමාන්‍යයෙන් ලෝකයා ජීවත් වෙන්නේ එක්කෝ අනාගතයේ එහෙම නැත්නම් අතීතයේ. අනාගතයට කරන්න තියෙන දේ ගැන සිතමින්, එහෙම නැත්නම් අතීතයේ සිදුවුන දේවල් ගැන සිතමින්, මළ අතීතයේ සහ නූපන් අනාගතයක් එක්කයි, ලෝකයා සාමාන්‍යයෙන් ජීවත් වෙන්නේ. මෙන්න මේ ස්වභාවය ඉවත් කරලා හැකිතාක් දුරට වර්තමානයේ ජීවත් වීමට උත්සාහ කරන හැටියටයි, බුදුපියාණන් වහන්සේ අවවාදය දී තිබෙන්නේ.

එතෙනදීත් අපට සිතාගන්න පුළුවන් අර මුරභටයා පිළිබඳව. ඒ මුර භටයා තමාගේ මුර දොරටුව ඉක්මවූ තැනැත්තා ඔස්සේ දුවන්න ගියොත් ඒ තමාගේ නිලයට අයිති කාර්යභාරය කරගන්න ලැබෙන්නේ නැහැ. සුළු මොහොතක් ඇතුළත පූර්ණ අවධානයක් යොමුකරලා පරීක්ෂා කිරීම තුළින් තත්ත්වය වටහාගෙන ඒ කෙනාට යන්න දෙනවා. ඊළඟ කෙනාට ලෑස්ති වෙලා ඉන්නවා. හොඳ හුරුබුහුටි දක්ෂ මුර භටයෙක් හැම තිස්සෙම එන එන කෙනාට සූදානම්. ඒවගේ අර හොඳට සිහිය පිහිටවපු තැනැත්තා එන එන අරමුණු හැම එකක්ම ඒවායේ යථා තත්ත්වය අනිත්‍ය, දුඃඛ, අනාත්ම වශයෙන් යථා තත්ත්වය - තේරුම් අරගෙන, ඒවාට යන්න අරිනවා. යන්න අරින්නේ මොකද? ඒවා හැම තිස්සේම එන යන ස්වභාවයක් ඇති දේවල්, අනිත්‍ය ස්වභාවයක් ඇති දේවල්, නිසා. අනිත්‍ය දේ අනිත්‍ය හැටියට තේරුම් ගැනීමයි එතකොට මේ - ප්‍රත්‍යක්ෂය තුළින්ම. මේ විදියට සතිය පුරුදු කිරීම තුළින් ක්‍රමක්‍රමයෙන් අර ප්‍රඥාව දියුණු වෙනවා. ප්‍රඥාව කියලා කියන්නේ අවබෝධය. මුලු මහත් ලෝකයේම තිබෙන හැම දෙයක්ම අනිත්‍ය ස්වභාව බව ගැඹුරින් වටහා ගැනීම තුළින් තමයි කෙනෙකුට නිවන් දකින්න පුළුවන් වෙන්නේ. මොකද, ලෝකය තුළ තිබෙනවා විපරීත අදහස්. 'විපල්ලාස' කියලා කියන්නේ - විපරීත අදහස් හතරක් තියනවා. අනිත්‍ය දේ නිත්‍ය කියලා හිතා ගන්නවා. අසුභ දේ සුභ හැටියට හිතා ගන්නවා. දුක් සහිත දේ සැප හැටියට හිතා ගන්නවා. තමාගේ නොවන අනාත්ම දේ, තමාගේ හැටියට හිතා ගන්නවා. ඔය විදියට විපරීත දෘෂ්ටි හතරක් තුළයි ලෝකයා ජීවත් වෙන්නේ. මේ සංසාරයේ සත්ත්වයා දිගට යන්නේ ඔය විපල්ලාස කියන විපරීත ධර්ම හතර නිසා බව බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරනවා. මේ විපරීත තත්ත්වයෙන් ඉවත් වෙලා, මුළාවෙන්, මෝහයෙන් ඉවත් වෙලා, අවිද්‍යාවෙන් ඉවත් වෙලා, ප්‍රඥාව අනුව ජීවත් වීමේ මාර්ගයයි, ඔය සතර සතිපට්ඨානය කියලා කියන්නේ. මේකට වැඩි වියදමක් යන දෙයක් නොවෙයි. කොහෙත්ම වියදමක් යන දෙයක් නොවෙයි. හැබැයි යම්කිසි පරිත්‍යාගයක් කරන්න සිද්ධ වෙනවා.

එදිනෙදා ජීවිතයේ සාමාන්‍යයෙන් වැදගත් හැටියට, වටිනා හැටියට, ලෝකයා - එහෙමත් නැත්නම් ආටෝප සාටෝප ලෝකයා - හිතන දේවල් පිළිබඳව, තමන්ම ඒවාට දෙන වටිනාකම් පිළිබඳව, නැවත සළකා බලලා, ඒවා පිළිබඳව ධර්මානුකූලව තමන් යම්කිසි නිගමනයක් ගතයුතුව තිබෙනවා, තමන්ගේ ජීවිතය ගෙවියන ආකාරය ගැනත්. දැන් සාමාන්‍යයෙන් ලෝකයා, අර බුදු පියාණන් වහන්සේ එකම ක්ෂණයක් කියලා මේ ජීවිත කාලය හැඳින්වුවත්, මේ ජීවිතය, මේ එක පොඩි ක්ෂණය, මේක බෙදාගෙන මගේ ජීවිතයේ අවසාන කාලය කියලා ඒ විදියට වෙන්කර ගන්නවා. සමහරවිට බණ භාවනාදිය, සිල් රැකීම ආදිය ජීවිතයේ අවසාන කාලයෙයි කියලා. නමුත් බුදුපියාණන් වහන්සේ නිතරම මතක් කර දෙන්නේ අප්‍රමාද බව. ඒවගේම මරණය කොයි වෙලාවෙද කියලා නැති බව. බුදු පියාණන් වහන්සේ එක්තරා අවස්ථාවක සංවේගය උපදවන අන්දමින් එක ගාථාවක් වදාළා.

අජ්ජෙව කිච්චං ආතප්පං
කො ජඤ්ඤා මරණං සුවෙ
න හි නො සංගරං තෙන
මහාසෙනෙන මච්චුනා

(භද්දෙකරත්ත සු., මජ්ඣිම නිකාය)

ඒක අපි සිංහලයට නැගුවොත්

කළයුතු කිස කරව අද ම
මරණය විය හැකි හෙට ම
නැහැ නොවැ කළහැකි ගිවිසු ම
මහසෙන් ඇති මරු සහ ඒ ම

මහාසේනා ඇති මාරයාත් එක්ක ගිවිසුමකට එළඹෙන්නට බැහැ නේද? "මට ටිකක් කල් දෙන්න මගේ දූ දරුවන්ගෙන් නිදහස් වෙනකං. රස්සාවෙන් විශ්‍රාම ගන්නකං, අනිකුත් පින්කම් ඒ කියන්නේ බණ භාවනාදිය කරගන්න බැරි වුනා" කියලා, "මට කාලය වෙන්කර ගන්න බැරිවුනා" කියලා. ඒ විදියට මාරයාත් එක්ක ගිවිසුමක් කරගන්න බැහැ. ඔය තත්ත්වයයි ලෝකයේ පවතින්නේ. අන්න ඒක නිසා අර අතිදීර්ඝ සංසාරයේ මේ ලබන බුද්ධෝත්පාද කාලයක ධර්මය ශ්‍රවණය කරන්න පුලුවන්, ධර්මය අනුව හැසිරෙන්න පුලුවන්, ප්‍රදේශයක උත්පත්තිය ලබන භාග්‍යවන්ත මනුෂ්‍යයකු මේ මුලු ජීවිතයම එක ක්ෂණයක් හැටියටයි සලකන්න ඕන.

එතකොට ඒ ක්ෂණය - අන්න ඒකට තමයි අර 'ඛණකිච්චො ලොකො - ඛණකිච්චො ලොකො' කියල ලෝකයා කියනවයි කිව්වේ. මේ ලෝකය වෙලාවට වැඩ කරන තැනක්ය කියලා හැමෝම කියනවා. මේ කාලෙත් නගරයක නම් හැමකිස්සෙම ඒක කියනවා ඇහෙනවා අපට. කාර්යාලවලදී, ඒ වගේම අනිත් තැන්වලදී. ලෞකික වැඩ කෙරෙන තැන්වල නම් නිතරම අප්‍රමාදයයි කතාව. වාහන වල ගමන නම්, ඒත් අප්‍රමාදයයි කතාව. නමුත් ධර්මයේ ගමන නම්, ශාසන ගමන නම්, බණ භාවනා පිළිබඳව නම්, එතන අප්‍රමාදයක් නැහැ. ඔය විදියේ තත්ත්වයක් ලෝකෙ තියෙන්නේ. බුදුපියාණන් වහන්සේගේ දර්ශනය ඊට වඩා වෙනස්. දැන් කොටින්ම කියනවා නම්, අර කියාපු සතිය පිහිටුවීම සඳහා සමහරවිට එදිනෙදා ජීවිතයේ කරගෙන යන ක්‍රියා පවා අපට සෙමින් කරන්න සිද්ධ වෙනවා. අප්‍රමාදය කියලා කියන්නේ ධර්මානුකූලව මේවා පිළිබඳව සතිය මතුකර ගැනීමයි. එතකොට සතිය මතුකර ගැනීම සඳහා විශේෂයෙන්ම ආරම්භයේදී සමහරවිට ලෙඩෙක් හැටියට ඉරියවු පවත්වන්නට සිද්ධ වෙනවා. ඒ කටයුතු කරන්න සිද්ධ වෙනවා. මොකද, ශීඝ්‍රයෙන් අරමුණු ගලාගෙන එනවා. මේවා අර පටු දොරටුවක් තුළට ගත්තහම, එකතින් පාස් වෙන්න සැලැස්සුවහම, පාලනය කිරීම පහසුයි. ඒක නිසා මේ හැම එකක්ම හෙමි හෙමිහිට කරලා, සමහරවිට, මේවා පිළිබඳව ගැඹුරු අවබෝධයක් ලබන්නට සිද්ධ වෙනවා. නමුත් එදිනෙදා ජීවිතයේ සාර්ථක ජීවිතය කියලා ලබාගත්තු ඔය ලොකු තිලකල ඇති මහ ධනවත් අයගේ ජීවිත කතාවලින් බලනවා නම් ඒ අය සමහරවිට එහෙම නොවෙයි, ජීවිතය ගතකරලා තියෙන්නේ. මහා වැඩ රාශියක් බදාගෙන, නිදි මරාගෙන, නොයෙකුත් අපරාධ ආදියක් කරගෙන, ධනය රැස්කරගෙන තියෙන්නේ. නමුත් එබඳු දෙයක් නොවෙයි මේ ධර්මයේ කියන්නේ. අර කියාපු අර මහා ධන සම්භාරය අතහැරලා චාම් ඇඳුමකට යොමුවෙලා 'චාම් දිවි පැවතුම් උසස් සිතුම් පැතුම්' කියන ඒ න්‍යායයට අනුව, අමාරුවෙන් නමුත් පෝය දවසක හෝ නිවාඩු දවසක හෝ මේ විදියට සිල් සමාදන් වෙලා. ඒ වෙනුවෙන් වෙන්වෙලා, බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කළ ධර්මයේ සත්‍යතාව තමන්ම උරගා බලන්න ඕන. තමන්ම ක්‍රියාත්මක කරලා බලන්න ඕන. ඒ විදියට දවසක් හෝ ගතකරා නම් අර ජීවිත කාලයක්ම ලබපු ඒ අත්දැකීම් වලට වඩා අමුතු අත්දැකීමක් එදාට කෙනෙකුට ලබාගන්ට පුලුවනි. ඒකා නිසයි බුදුපියාණන් වහන්සේ වදාළේ මේක 'පච්චත්තං වෙදිතබ්බො විඤ්ඤූහි' කියලා. මේ ධර්මය නුවණැත්තන් විසින් තම තමන්ම තේරුම් ගතයුතු දෙයක්. මේ ධර්මය ගැන ප්‍රකාශ කරන පද හයක් මේ පින්වතුන් නිතර අහලා තියෙනවා. 'ස්වාක්ඛාතො' ස්වාක්ඛාත වූ ධර්මයක් - ස්වාක්ඛාත කියලා කියන්නේ මොකද. මේ ධර්මය හරියට ප්‍රකාශ කරලා තිබෙනවා කියන්නේ බුදුපියාණන් වහන්සේගේ ධර්මය මිහිරි නිසා පමණක් නොවෙයි. ඒ වචන, ඒ දේශනාව, ඉතාමත් අංග

සම්පූර්ණ නිසා පමණක් නොවෙයි. ඒ ධර්මය ක්‍රියාත්මක කිරීමෙන් ප්‍රතිඵල නෙළාගන්න පුළුවන් නිසයි ඒක ස්වාක්ඛාතො වෙන්නේ ගැඹුරු අර්ථයෙන්. දුරක්ඛාත කියලා කියන්නේ වැරදි විදියට දේශනා කරපු. වැරදි විදියට දේශනා කරපු ධර්මයක, ශාසනයක, ආගමක, කුසීතයයි සැපයෙන් ඉන්නෙ කියල බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කළා. 'ස්වාක්ඛාතව' හරියාකාර දේශනා කරපු ධර්මයක වීර්යවන්තයයි සැපයෙන් ඉන්නේ කියලා බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරනවා. මේක ගැඹුරු අදහසක්. ඒ කියන්නේ වැරදි ආකාරයෙන් මිථ්‍යාදෘෂ්ටි වශයෙන් දේශනා කළ ධර්මයක නම් ඒ තැනැත්තා හරියට ජීවත් වුනොත් ඒ තැනැත්තා අපායට යන්නේ. ඒක නිසා කුසීතයා එතන සැපෙන් ඉන්නේ. නමුත් මේ ස්වාක්ඛාත ධර්මයෙ වීර්යවන්තයටයි සැපෙන් ඉන්න පුළුවන් වෙන්නේ. සැපෙන් ජීවත් වෙන්නේ. කුසීතයා දුකසේ ඉන්නේ. කළයුතු දේ, අර කියාපු කළයුතු කිස, අදම කරගන්නේ නැති කෙනා කණගාටුවට පත්වෙනවා. මේ ජීවිතයේදීත්. මරණ මංචකයෙදිත් දුක් වෙනවා. ඊළඟට, ඊට වඩා භයානක අන්දමින් අර 'නිරයම්හි සමප්පිතා' කියලා කියපු ආකාරයට නිරයට වැටිලා දුක්විඳින්න සිද්ධ වෙනවා. ආයි, ජීවත් වෙන ඥාතීන්ගෙ පිහිට ඉල්ලන්න වෙනවා, පෙනී, නොපෙනී, නොයෙක් ආකාරයෙන්. ඔය විදියේ තත්ත්වයක් සංසාරයේ, ලෝකයේ, පවතින නිසා තමයි බුදුපියාණන් වහන්සේ බොහෝ අවස්ථාවල මෙබඳු මේ දේශනා ප්‍රකාශ කොට වදාළේ. එතකොට ඒ ධර්මයේ ස්වාක්ඛාත ගුණය එහෙමයි.

සන්දිට්ඨික කියලා කියන්නේ අන්න අර මෙලොව අත්දුටු වශයෙන් තමන්ට මේ ධර්මය පුරුදු කරලා මේකේ සාර්ථකත්වය තමන්ටම උරගා බලන්නට පුළුවන්. සන්දිට්ඨික වශයෙන්. ආයි පරලොවක ලබන නිවනක් නොවෙයි, මෙතන ප්‍රකාශ කරන්නේ, බුදුපියාණන් වහන්සේගේ ධර්මයේ. අනිකුත් හැම ධර්මවලම පරමාර්ථය කියලා කියන දේ, ඉහළම දේ මරණින් මතු ලැබිය හැකි තත්ත්වයක් හැටියටයි දක්වලා තියෙන්නේ. අපේ බුදුපියාණන් වහන්සේ පමණයි, මෙලොව - 'දිට්ඨෙව ධම්මෙ' කියලා කියන්නේ මෙලොව - මේ නිවන් සුව ප්‍රත්‍යක්ෂ කරගත හැකි බව, සසර දුක් කෙළවර කිරීම මෙලොවදී කරගත හැකි බව, ප්‍රකාශ කළේ. එතකොට ඒ ඉහළ අර්ථයෙන් අර සෝවාන් ආදී මාර්ග ඵල ප්‍රත්‍යක්ෂ කරගැනීමම පමණක් නොවෙයි, එදිනෙදා අර කියපු විදියට, අපි අර කලින් සඳහන් කරපු ආකාරයට, එක දවසක් හෝ වෙන්වෙලා ඉරියවු හෙමින් පවත්වමින් චරිතානුකූල යම්කිසි කර්මස්ථානයක් පරිහරණය කරමින් කර්මස්ථානයට අනුව ඒ ධර්මයන්ගේ සත්‍යය උරගා බලන පුද්ගලයට එක දවසින්ම බුදුපියාණන් වහන්සේ කෙරෙහි ශ්‍රද්ධාවක් ඇතිකරගන්න පුළුවන්. පොතපතේ තියන ශ්‍රද්ධාව නොවෙයි, තමා තුළින්ම. බුදුපියාණන් වහන්සේ මේ තරම් ධර්මයක් දේශනා කරලා තියෙනවා නේද කියලා. අන්න සන්දිට්ඨිකයි.

ඊළඟට අකාලික කියලා කියන්නේ මේ ධර්මයාගේ කල් නොයවාම විපාක දෙන ස්වභාවයක් තියෙනවා. මේක නැගිදෙන දෙයක් හැටියට නොවෙයි. යම්කිසි දේකට, ඔය සමහර කෙනෙක් යම්කිසි තත්ත්වයක් ලැබුවම ඒකට තෑග්ගක් දෙනවා. ඒකට තමන්ගේ සුදුසුකම ඉදිරිපත් කරලා තෑග්ග දෙනකල් බලා ඉන්න ඕන. එහෙම එකක් නැහැ මේකේ. මේවා සම්පූර්ණ කරනවත් එක්කම ප්‍රතිඵලය. දැන් බුදුපියාණන් වහන්සේ ඒක ඉතාමත් සරල අන්දමිනුත් දැක්වුවා, ගැඹුරු අන්දමිනුත් දැක්වුවා. සරල අන්දමින් ප්‍රකාශ කරලා තියෙනවා. එක්තරා බ්‍රාහ්මණයෙක් විමසූ අවස්ථාවක. 'මොකක්ද භාග්‍යවතුන් වහන්ස මේ සන්දිට්ඨික අකාලික එහි පස්සික කියන එකේ තේරුම', කියලා බුදුපියාණන් වහන්සේගෙන් ඇහුවා. බුදුපියාණන් වහන්සේ ඒ බමුණට ඒ බමුණු තත්ත්වයේ ඉඳගෙනම උනත් තේරුම් ගන්න පුලුවන් අන්දමට ඒක තේරුම් කරල දුන්නා. ඔන්න දැන් බ්‍රාහ්මණය, තුඹට තියෙනවා යම්කිසි දෙයක් පිළිබඳ ලෝභයක්. ඒ ලෝභය, මොකක් හරි උත්සාහයක් යොදලා පරිත්‍යාගශීලීත්වයේ අගය තේරුම් අරගෙන, ඒ විදියට ලෝභය ඉවත් කරා කියමු. ඒ වෙලාවෙම තුඹට තේරෙනවා හෝද අර ලෝබය නිසා අර තරම් මම දුක් වින්දා. දැන් ලෝභය අතහැරිය නිසා මට මේ තරම් සැනසීමක් ලැබුණා. අන්න සන්දිට්ඨික අකාලික කියලා කියන්නේ ඒකට. එතනම ප්‍රතිඵල ලැබෙනවා. ආයි මේක බලාගෙන ඉන්න ඕනැ. ඊළඟට ද්වේෂය ගැනත් එහෙමයි. දැන් ඔන්න තුඹ කවුරුවත් එක්ක තරහ වෙනවා. ද්වේෂය ඇතිකර ගන්නවා. ඒ ද්වේෂය ඇතිවුන වෙලාවේ එහෙම පිටින්ම මුහුණත් වෙනස් වෙලා, විකෘති වෙලා, ඒවා පිළිබඳව යම්කිසි දුකක් දොම්නසක් තුඹ විඳිනවා ද්වේෂය නිසා. ඒ ද්වේෂය, මෛත්‍රී ආදී සිතුවිලි වලින් ඉවත් කරගත්තොත්, කරුණාවෙන් ඉවත් කර ගත්තොත්, අන්න ඒ අවස්ථාවේ ලොකු සැනසීමක් ලැබෙනවා. එතකොට තුඹට එතනදීම අත්දකින්න ලැබෙනවා. මෝහය පිළිබඳවත් එහෙමයි. මෝහය ඇතිවුන අවස්ථාවෙ අර විදියට සතිය පිහිටුවා ගෙන කටයුතු කළා නම්. ඒ අවස්ථාවේ මෙනෙහි කිරීම හරියට කරා නම්, ඒ ප්‍රඥාවේ ආනිසංසය එතනම තියෙනවා. එතකොට සාමාන්‍ය වශයෙන් එහෙමයි. ගැඹුරු අර්ථයෙන් බැලුවම ආර්ය අෂ්ටාංගික මාර්ගය සම්පූර්ණ කරනවත් එක්කම සෝවාන් ඵලය ලැබෙනවා. ආයි බුදුපියාණන් වහන්සේ ඇවිල්ලා ඔන්න මම සෝවාන්කම දෙනවා කියලා කියන්න ඕන නැහැ. "හොඳට භාවනා කළ නිසා මම අද ඔන්න තුඹට සෝවාන් කම දෙනවා, සකදාගාමී කම දෙනවා". එහෙම එකක් නැහැ. ඒක ධර්මයේම තියෙන බවයි, ධර්මය ක්‍රියාත්මක කිරීමෙන් ලැබෙන බවයි, ප්‍රකාශ කරන්නේ එතන. 'අකාලික' - කල් නොයවාම විපාක දෙනවා.

එහිපස්සික කියල කියන්නේ එව, බලව කියන එකයි. ඇවිල්ල බලන්න කියලා කියනවා. බුදුපියාණන් වහන්සේ නෙවෙයි ඇවිල්ලා බලන්න කියන්නේ

ධර්මයමයි. මේ ධර්මය හඬගා කියනවා මාව ක්‍රියාත්මක කරලා බලන්න කියලා. එතකොට ධර්මයයි මෙතන ඒහිපස්සික වෙන්නේ. 'එව - බලව' "ඇවිල්ලා බලන්න, ක්‍රියාත්මක කරලා බලන්න". ඒ විදියට ආරාධනාවක් කරනවා. "ඔපනයික" කියලා කියන්නේ මේ ධර්මයේ ස්වභාවය එකකට එකක් පුදුම අන්දමින් සම්බන්ධ වෙලා තියනවා, හේතු ප්‍රත්‍ය සම්බන්ධතාවක් අනුව. දැන් ඒක හොඳට හිතා ගන්න පුලුවන් යම්කිසි කෙනෙකුට. මිථ්‍යාදෘෂ්ටිය තිබ්බ පුද්ගලයෙක් සම්‍යක් දෘෂ්ටිය ඇති කරගන්ට බුදුපියාණන් වහන්සේගෙන් ධර්මය අහල හොඳ නරක තේරුම් අරගෙන, කුසල් අකුසල් තේරුම් අරගෙන, චතුරාර්‍ය සත්‍යය පිළිබඳ යම්කිසි අවබෝධයක් ඇතිකර ගත්තා නම් ඒ පුද්ගලයාට අන්න එතනදී සම්‍යක් දෘෂ්ටිය ඇති වෙනවා, යම්කිසි ප්‍රමාණයකට. ඒ සම්‍යක් දෘෂ්ටිය එක්කම ඒ තැනැත්තාට හොඳ සංකල්පනා ඇති වෙනවා. මහණ වීම හොඳයි. නෙක්ඛම්ම - අත්හැරීම හොඳයි. අවිහිංසාව හොඳයි. මෛත්‍රිය හොඳයි කියලා ඒ පැත්තට මෛත්‍රී සිතුවිලි, ඒ විදියේ හොඳ සිතුවිලි ඇතිවෙනවා. අන්න සම්‍යක් සංකල්පය. ඒකට තමයි බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරන්නේ 'සම්මාදිට්ඨිස්ස සම්මාසංකප්පො පහොති' සම්‍යක් දෘෂ්ටිය ඇති පුද්ගලයාට ඉබේම, නිරායාසයෙන්ම, නිතැතින්ම, සම්‍යක් සංකල්ප - හොඳ සංකල්පනා ඇති වෙනවා. ඒ විදියට අර ගිහි ගෙවල්වල මඩුරුබවින් ඇඳී සිටීම නොවේ, පැවිදි වීම - ඒ නෙක්ඛම්මය - කොයි තරම් වටිනා දෙයක් ද? ඊළඟට ඒවගේම හිංසාවෙන් ඉවත්වෙලා අවිහිංසා සිතුවිලි, කරුණා සිතුවිලි පැවැත්වීම කොයිතරම් වටිනා දෙයක් ද? ද්වේෂයෙන් ඉවත් වෙලා මෛත්‍රී සිතුවිලි. ඒ විදියට සිතුවිලි වලින් ඒ තැනැත්තා ඒ අවස්ථාවේම ආනිසංස නෙලා ගන්නවා. ඔතන තියෙනවා 'ඔපනයිකො' - එකකින් එකකට ඇදගෙන යනවා. සම්‍යක්දෘෂ්ටිය ඇති කෙනාට සම්‍යක් සංකල්ප පහළ වෙනවා. සම්‍යක් සංකල්පනාවල් ඇති කෙනාට ඒ අනුව හොඳ වචන පිටවෙනවා කටින්. සත්‍ය වචන, ඒ වගේම අනුන් සමගි කරවන වචන, මුදු මොළොක් වචන, ධර්මානුකූල වචන, ඒ තැනැත්තාගේ මුවින් පිටවෙනවා. අන්න එතකොට 'සම්මා සංකප්පස්ස සම්මා වාචා පහොති' - හොඳ සිතුවිලි, හොඳ සිතුම් පැතුම් ඇති කෙනාට, හොඳ සිතුම් පැතුම් නිසාම හොඳ වචන ඒ තැනැත්තා තුළින් පිටවෙනවා. 'ඊළඟට සම්මාවාචස්ස සම්මාකම්මන්තො පහොති' - හොඳ වචන පාවිච්චි කරන තැනැත්තා කල්පනා කරනවා මම මේ විදියට මේ නෙක්ඛම්ම සිතුවිලි, මෛත්‍රී සිතුවිලි, අවිහිංසා සිතුවිලි පවත්වනවා. සිතුවිලි පාවිච්චි කරන්නේ එහෙමයි. වචනත් පාවිච්චි කරන්නේ එහෙමයි. ඒ නිසා මේ විදියට සතුන් මැරීම, සොරකම් කිරීම, කාමමිථ්‍යාචාරය ආදී දේවල් මට ගැලපෙන්නේ නැහැ කියලා එයින්නුත් ඉබේටම වැළකීමක් වෙනවා. ඊළඟට ඒ විදියට දවසක් දෙකක් කිරීම පමණක් නොවෙයි සම්‍යක් ආජීවය - තමාගේ ජීවිකාවත් ජීවන රටාවත් ඒ අනුව හැඩගස්ස ගන්නවා, යම්කිසි පරිත්‍යාගයක්

කරන්ට සිද්ධ වුනත්. 'මේවා ඉඳහිටලා පෝය දවසට විතරක් රැකිය යුතු දේවල් නොවෙයි. මගේ ජීවිකාවම, මුලු ජීවන රටාවම හරිගස්සගන්න ඕන, මේ කියාදුනු ප්‍රතිපදාව අනුව', කියලා ඒ තැනැත්තා උත්සාහවත් වෙලා, සම්‍යක් ආජීවය සකස් කර ගන්නවා. හරි දිවි පැවැත්ම. අන්න හරි දිවි පැවැත්ම ඇතිවුන පුද්ගලයා තමා දරණ උත්සාහය තුළින් ඊළඟට සම්මා වායාම කියලා කියන හරි වෙර දැරුම දරනවා. නියම වෙර දැරුම කියන එක හොඳට දාඩිය දානකල් යම්කිසි වැඩක යෙදීම නොවෙයි. නියම වීර්යය කියලා කියන්නේ මොකක් ද? අර හිත පිළිබඳව හොඳට සැළකිල්ලෙන් සිටිමින් සිතට ගලාගෙන එන්න සූදානම් වන අකුසල් වළක්වාලීමත්, හිත තුළ ඇති අකුසල් නෙරපා ඇරීමත්, කුසල් ධර්ම ළංකර ගැනීමත්. තමා තුළ තිබෙන ඒ හොඳ කුසල් ධර්ම තහවුරු කර ගැනීමත් කියන හතර ආකාර වීර්යයයි. තමාගේ දිවිපැවැත්ම සඳහා යම්කිසි පරිත්‍යාගයක් කරලා ධාර්මික දිවි පැවැත්මක් සකස් කරගන්නා පුද්ගලයා තුළ ඇතිවන වීර්යය ඕකයි. එතකොට මේ තැනැත්තා ඒ වීර්යය තුළින්ම, ඔන්න ඊළඟට ඒ වීර්යය යෙදීමේදී අර කියදුනු සතිපට්ඨානයට ඉබේටම වැටෙනවා. සතර සතිපට්ඨානය සම්පූර්ණ වෙනවා. මොකද, ඒ තැනැත්තා නිතරම සෙවිල්ලෙන් ඉන්නේ තමාගේ සිත ගැන. ඒ හිත අනුව ක්‍රියා කරන කය ගැන. කයත් සිතත් එකිනෙකට සම්බන්ධවයි ක්‍රියා කරන්නේ. සාමාන්‍ය පුද්ගලයා කයට යටවෙලා හිත ගැන නොතකා හරිනවා. බුදුපියාණන් වහන්සේ 'මනො පුබ්බංගමා ධම්මා' කියන ඒ ධර්මයට අනුව සිතම මුල් වෙනවා කියලා පෙන්වනවා. දැන් ධම්ම පදය කියන පොතේ බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කළ ගාථා රාශියකටම මුල හැටියට දක්වලා තිබෙන්නේ, ඒ රුවන් ගබඩාවේ දොර හැටියට තිබෙන්නේ - 'මනො පුබ්බංගමා ධම්මා - මනො සෙට්ඨා මනොමයා' මේ හැම දෙයකටම සිතම පෙරටු වෙනවා. සිතම ශ්‍රේෂ්ඨයි. සිතෙන්මයි මේ හැම දෙයක්ම හැදෙන්නේ කියලා. කිසිකෙනෙකුට මේක බොරුය කියලා බොරු කරන්න බැහැ. මේක භෞතික විද්‍යාඥයෙකුටවත් බොරු කරන්න බැහැ. අන්න ඒ විදියේ පුදුම දේශනාවක්. ඒක නිසා බුදුපියාණන් වහන්සේ හිතටයි මුල්තැන දුන්නේ. 'චිත්තෙන නීයති ලොකො' කියලා බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කළා. මුළු ලෝකයම ඇදගෙන යන්නේ හිතෙන්. දැන් සාමාන්‍යයෙන් හිතෙන් නේ මේ දේවල් ලෝකයා කල්පනා කරන්නේ. ඒ විද්‍යාඥයා විද්‍යාගාරයේදී ඒවා කරන්නෙ හිතෙන්. එතකොට හිතෙනුයි මේ ඔක්කොම ඇදගෙන යන්නේ. හඳට යන්නෙත් හිතෙන්. මේ හැම එකක්ම කරන්නේ හිතෙන්. මේවා සාමාන්‍යයෙන් වැරදියට වටහා ගෙන විපරීත විදියට තේරුම් කරන්නත් පුළුවන් සමහර කෙනෙක්. නමුත් මෙතන තිබෙන්නේ හැම එකකටම හිත ප්‍රධාන බව. බුදුපියාණන් වහන්සේ ඒ කළ ප්‍රකාශය කවදත් සත්‍යයක්.

'චිත්තෙන නීයති ලොකො', ඒකනිසා තමයි බුදුපියාණන් වහන්සේ මෙතන හිතටම මුල්තැන දෙන්නේ.

අර සම්‍යක් දෘෂ්ටිය කියලා කියන හරි දැක්ම කෙනෙකු තුළ පහළ වුනා නම්, එතන ඉඳලා ඇතිවන ධර්ම පරම්පරාවයි ආර්ය අෂ්ටාංගික මාර්ගය කියලා කියන්නේ. මේ ප්‍රතිපදාව මේ මුලු ලෝකයේම ඇති හැම මාර්ගයකටම වඩා ශ්‍රේෂ්ඨයි කියලා බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරලා තියෙනවා. නොයෙකුත් විදියේ පළල් මාර්ග, හොඳ සැප පහසු වාහනවලට යන්න පුළුවන් මාර්ග, නොයෙකුත්, විදියේ මාර්ග ලෝකයේ තිබෙනවා. නමුත්, 'මග්ගානට්ඨංගිකො සෙට්ඨො' කියලා බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරලා තියනවා. මේ අංග අටකින් යුක්ත මාර්ගය තමයි ශ්‍රේෂ්ඨ කියලා. අන්න ඒ විදියට, එතකොට සතර සතිපට්ඨානයෙන් මේ සතිය සම්පූර්ණ වුනා නම් එබඳු පුද්ගලයා තුළ ඉබේම සමාධියත් වැඩනවා. එක අරමුණකට හිත යෙදීම තුළින්ම, අර මුර කරයා එක එක දේට හොඳට සතිය යොදන කොට ඒ කැනැත්තා තුළ සමාධියක් ඒ සුළු වෙලාවෙ නමුත් ඇතිවෙනවා. ඒ කැනැත්තාට පුලුවන් ඊට පස්සේ ඒක දීර්ඝ කාලයක් පවත්වන්න. ඔන්න ඔය ආර්ය අෂ්ටාංගික මාර්ගය සම්පූර්ණ කර ගැනීම තුළිනුයි කෙනෙකුට මේ උතුම් නිර්වාණ ධර්මය ප්‍රත්‍යක්ෂ කරගෙන සියලු සංසාර දුකින් අත් මිදිලා ඒ අමා මහ නිවන් සුවයෙන් සැනසීම ලබාගන්න පුළුවන් වෙන්නේ. ඒක නිසා අද දින මේ වටිනා පෝය දවසක්. බුදුපියාණන් වහන්සේ ධර්ම චක්‍රය පෙරලූ දවසක්. එතකොට මෙන්න මේ ධර්ම චක්‍රය තම තමන්ගේ චිත්ත සන්තානය තුළ පෙරළලා මේ කියපු දුක් කඳෙන් මිදීමට උත්සාහ ගතයුතුව තිබෙනවා. අද එතකොට මේ වටිනා දවසේ තමන්ට අයිති ශීලයෙන් හෝ එහෙම නැත්නම් වටිනා ශීලයක හෝ පිහිටලා මේ විදියට මේ ධර්ම ශ්‍රවණය කළා පැයක් පමණ වේලාවක් තුළ. මේ අවස්ථාව තුළ අර කියපු ධර්මයන් යම් යම් ප්‍රමාණයකට මේ පින්වතුන්ගේ පුණ්‍ය ශක්තිය, ඥාන ශක්තිය, අනුව සමහර විට ප්‍රත්‍යක්ෂ කරගන්න පුළුවන් වෙන්න ඇති. කොටින්ම කියනවා නම් මේ අවස්ථාව වෙන දේවල් වලට, ලෞකික දේවල් වලට, යොදලා හිටියා නම් මෙබඳු සැනසිලිදායක පිරිසිදු සිතුවිලි සමූහයක් ඇතිවෙන්නේ නැහැ. අන්න සන්දිට්ඨික අකාලික වශයෙන් ධර්මයේ වටිනාකමත් ඒ අනුව තේරුම් ගන්න ඕන.

දැන් එතකොට මෙතෙක් වේලා ධර්ම ශ්‍රවණය කිරීමෙන් මේ පින්වතුන් රැස්කරගත්ත පුණ්‍ය සම්භාරයක්. ආනිසංස වශයෙන් අර බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කළ අන්දමට ශ්‍රද්ධාව, වීර්ය, සතිය, සමාධිය, ප්‍රඥාව කියලා කියන ධර්ම මේ පින්වතුන්ට මේ අවස්ථාවෙම ප්‍රත්‍යක්ෂකර ගන්න පුලුවන්. යම්කිසි ප්‍රමාණයක ශ්‍රද්ධාවක් ඇතුව ඊළඟට ඒක අනුව ගිය වීර්යයක් ඇතිව මේ

කාලය තුළ මේ ඉරියව්වේ ඉඳගෙන ඊළඟට ඒ අනුව සතිය පිහිටුවා ගෙන ධර්ම ශ්‍රවණය කරලා යම්කිසි සමාධියකුත් අත්දැක්කා. ඊළඟට යම්කිසි ධර්ම වැටහීමක් ඇති වුනා නම් ඒකෙන් ප්‍රඥාව දියුණු වෙනවා. ඔය විදියට කල්පනා කරලා බලනකොට ක්‍රම ක්‍රමයෙන් ටිකෙන් ටික හෝ මේ ධර්ම මාර්ගයේ ගමන් කරලා මේ මනුෂ්‍ය ජීවිතයෙන් ගතහැකි උපරිම ප්‍රයෝජනය, අර ක්ෂණ සම්පත්තියෙන් ගතහැකි උපරිම ප්‍රයෝජනය, ගැනීමට හොඳට අධිෂ්ඨාන කරගන්නට ඕන. එහෙම අධිෂ්ඨාන කරගෙන මෙතෙක් මේ ධර්ම ශ්‍රවණ වශයෙන් රැස්කරගත්තු කුසල් රාශියේ ආනිසංස වශයෙන් මොලොවදීම, හැකිතාක් ඉක්මනින්, සෝවාන්, සකදාගාමී, අනාගාමී, අර්හත් කියන මාර්ග ඵල තුළින් අමා මහ නිවන් සාක්ෂාත් කර ගැනීමට ශක්තිය, බලය ලැබේවා කියලා ප්‍රාර්ථනා කරගන්න ඕන. ඒ වගේම දැන් මෙතෙක් රැස්කරගත්තු කුශල සම්භාරය - අපි දෙගොල්ලම මේ ධර්ම ශ්‍රවණමය. ධර්ම දේශනාමය වශයෙන් රැස්කර ගත්තු කුශල සම්භාරය - ශාසනාරක්ෂක දිව්‍ය මණ්ඩලයත්, ඒ වගේම මේ පූජනීය ස්ථානයට අරක් ගත් යම් දෙවි දේවතා පිරිසක් ඇත්නම් ඒ හැම දෙනාමත් සතුටු සිතින් අනුමෝදන් වෙත්වා! හැමදෙනෙක්ම තම තමන්ගේ ප්‍රාර්ථනීය බෝධියකින් උතුම් අමා මහ නිවන් සාක්ෂාත් කරගනිත්වා! අපටත්, ශාසනයටත් ආරක්ෂා සළසත්වා! කියලා දෙවියන්ටත් අනුමෝදන් කරන්න ඕන. ඒ වගේම තම තමන්ගේ නමින් නැසී මිය පරලොව ගිය ඥාතීන් ඇතුළුව අවීචියේ පටන් අකනිටා දක්වා වූ යම්තාක් සත්ත්ව කෙනෙක් පින් කැමතිව, නිවන් කැමතිව සිටිත් නම් ඒ හැම දෙනෙක්මත්, අපගේ ධර්ම දේශනාමය ධර්ම ශ්‍රවණමය කුශලය අනුමෝදන් වෙත්වා! අනුමෝදන් වී සියලු දුගති තත්ත්වවලින් අත්මිදී. සුගති තත්ත්වවලට පත්වී හැකිතාක් ඉක්මණින් බණ භාවනා කරලා උතුම් අමා මහ නිවනින් සැනසෙත්වා කියන ප්‍රාර්ථනාව ඇතිව මේ ගාථා කියලා පින් පමුණුවන්න.

'එත්තාවතා ච අම්හෙහි......"

# 4 වන දේශනය

යොගා වෙ ජායතෙ භූරි
අයොගා භූරිසංඛයො
එතං ද්වෙධාපථං ඤත්වා
භවාය විභවාය ච
තථත්තානං නිවෙසෙය්‍ය
යථා භූරි පවඩ්ඪති

-මග්ග වග්ග, ධ.ප.

සැදැහැවත් පින්වතුනි,

අප තිලෝගුරු බුදුපියාණන් වහන්සේ දේශනා කළ ශ්‍රී සද්ධර්මය - ඒ බුද්ධ දේශනාව - ඇත්ත වශයෙන්ම කියනවා නම්, සසර දුකින් මිදීමට උපකාරවන, නිර්වාණය ප්‍රත්‍යක්ෂ කරගැනීමට උපකාරවන, ප්‍රතිපත්ති මාර්ගයක්. එතකොට. බුද්ධ දේශනාව කොයිතරම් සවිස්තරව. අටුවා ටීකා සහිතව, හැදෑරුවත්, කටපාඩම් කරගත්තත්, සීල-සමාධි-පඤ්ඤා කියල කියන ඒ ප්‍රතිපත්ති මාර්ගයේ ගමන් කරන්නෙ නැත්නම්, ඒ බුද්ධ දේශනාවේ පරමාර්ථය ඉෂ්ට වෙන්නේ නෑ. නිවන් ප්‍රත්‍යක්ෂ කරගන්නට පුළුවන් කමක් නෑ. නිවන් ප්‍රත්‍යක්ෂ කරගැනීමට විශේෂයෙන්ම අවශ්‍යවෙනව භාවනාව. භාවනාවෙන් තොරව නිවන ලබාගන්නට බෑ, කිසිම කෙනෙකුට. මේ භාවනාවේ යෙදීම කියන අර්ථය තියන වචනයක් තමයි 'යෝග' කියල කියන්නේ. වෙන නොයෙකුත් ආගම්වල, වෙන වෙන අර්ථවල යෙදෙන්න පුළුවන් 'යෝග' කියන වචනය. නමුත් අපේ ධර්මයේ 'යෝග' කියල කියන්නෙ භාවනා මනසිකාරයයි. භාවනානුකූල මෙනෙහි කිරීමයි. 'අයෝග' කියල කියන්නෙ භාවනාවේ නොයෙදීමයි. එතකොට, 'යෝග' කියන්නෙ භාවනාවෙ යෙදීම, 'අයෝග' කියන්නෙ භාවනාවෙ නොයෙදීම. මෙන්න මේ දෙක අතර ඇති වෙනස පෙන්නුම් කිරීමට බුදුපියාණන් වහන්සේ වදාළ ගාථා ධර්මයක් තමයි අපි මාතෘකා හැටියට අද තබාගත්තෙ.

මේ ගාථාවට අදාළ නිදාන කථාව බොහොම ආදර්ශවත් කථාන්තරයක්. බුදුපියාණන් වහන්සේ ජේතවනාරාමයේ වැඩවාසය කරන කාලයේ, එක මහතෙර නමක් හිටිය පෝඨිල කියන නමින්. මේ පෝඨිල හාමුදුරුවො ත්‍රිපිටකය පිළිබඳ විශාරද, එහෙම පිටින්ම ඒවා කටපාඩම් කරගෙන පන්සියයක් ගෝලයින්ට ධර්මය උගන්වන ආචාර්ය කෙනෙක්. මේ කාලයේ හැටියට බලනවා නම් මේ පින්වතුන් දන්නවානේ ඔය නොයෙකුත් විදියේ උපාධි තියනවානේ

- ත්‍රිපිටකාචාර්‍ය, ත්‍රිපිටක වාගීශ්වරාචාර්‍ය ආදි ලොකු සම්මාන වලින් පුදන්න තරම් වටින ස්වාමීන් වහන්සේ කෙනෙක්. නමුත් එහෙම වුනාට මොකද, මේ පෝඨිල හාමුදුරුවෝ උගත්කමින් පිරුනට මොකද, භාවනාව ගැන සිත් යොමු කරන්නෙ නෑ. තමන්ගෙ නිවන ගැන, තමන්ගෙ සසරින් මිදීම ගැන, හිතන්නෙ නෑ, කොයිතරම් ගෝලයින්ට ඉගැන්නුවත්. බුදුපියාණන් වහන්සේට මේ හාමුදුරුවො ගැන හිතිල සංවේගයක් ඇතිවුනා. 'අපොයි මේ තරම් දැන උගත්කම් ඇති කෙනෙක් උනත් තාම තමන්ගෙ නිවන ගැන හිතුවෙ නෑ නේද' කියල. මේ හාමුදුරුවන්ට සංවේගයක් ඇති කරවන්නට බුදුපියාණන් වහන්සෙ යොදා ගත්තු උපාය මොකක්ද, තමන් වහන්සේ ළඟට වඳිනා කරන්න එනකොට මේ පොඨිල හාමුදුරුවන්ට ආමන්ත්‍රණය කරන්නේ 'තුච්ඡ පෝඨිල' කියලා. 'තුච්ඡ' කියන වචනය සමාජයෙ කොයි අන්දමට භාවිතා වුනත්, ඒකෙ තේරුම 'හිස්' කියන එකයි. එනකොට "තුච්ඡ පෝඨිල මෙහෙ එන්න. තුච්ඡ පෝඨිල වඩින්න. තුච්ඡ පෝඨිල ඉඳගන්න. හා! හොඳයි, තුච්ඡ පෝඨිල යන්න. අන්න තුච්ඡ පෝඨිල ගියා". ඔය විදියට බුදුපියාණන් වහන්සෙ මේ පෝඨිල හාමුදුරුවන් එන එන වෙලාවට ඔහොම වචන පාවිච්චි කරනවා. 'තුච්ඡ' කියන වචනෙ. මේ හාමුදුරුවන්ට ලොකු සංවේගයක් ඇතිවුනා. 'අනේ අපොයි මේ බුදුපියාණන් වහන්සේ - මේ මගේ ශාස්තෘන් වහන්සේ - මේ තරම් දැන උගත්කම් ඇති, මේ තරම් විශාල ගෝල පිරිසකට උගන්වන මට මේ 'තුච්ඡ' කියන වචනය යොදනව නේද? කියල. ඉතින් මේ විදියෙ මේ 'අවනම්බුනාමයක්' බුදුපියාණන් වහන්සේ මහා කරුණාවෙන් දී වදාළෙ මොකටද? අර හාමුදුරුවන්ට මේ සසරින් මිදීම පිළිබඳව සංවේගය ඇතිකිරීමටත්, ඒ වගේම අර උගත්කම නිසා ඇතිවෙච්ච, ගෝල පිරිස නිසා ඇතිවෙච්ච මාන්නය බිඳීමටත්.

මේ ශාසනයේ ගුණධර්ම පුරන කෙනෙකුට, භාවනා ආදී ඒ කටයුතු කරන කොට, ගුරුවරයකුගේ ඇසුරින් නොයෙකුත් උපදෙස් ගන්න සිද්ද වෙනවා. ඉතින් ඒ විදියෙ උපදෙස් ගන්න නම්, නිහතමානීත්වය තියෙන්ට ඕන. මේ හාමුදුරුවො හිතාගෙන ඉන්න ඇති, දැන් ඉතින් මං ඔක්කොම දන්නවා කියල. පිරිච්ච කලේකට ආයි පුරවන්න බෑ. ඒක හිස්කරල ඕන පුරවන්න. අන්න ඒ හිස්කිරීමෙ අදහසිනුත්, මාන්නය බිඳීමේ අදහසිනුත්, තමයි බුදුපියාණන් වහන්සෙ මේ හාමුදුරුවන්ට 'තුච්ඡ' කියල ආමන්ත්‍රණය කරන්න පටන් ගත්තෙ. ඉතින් මේ හාමුදුරුවො ඒකෙන් තරහ ගත්තෙ නෑ. 'මට අගෞරව කරනව' කියල බුදුපියාණන් වහන්සෙ එක්ක ද්වේෂයක් වෛරයක් ඇතිකරගත්තෙ නෑ. තමන්ගේ තත්වය තේරුම් අරගෙන ඊළඟට තීරණය කළා, 'දැන් ඉතින් මේ ඔක්කොම ගෝල පිරිස අත හැරල මම යන්න ඕන. ගිහිල්ල - කොහේ හරි ආරණ්‍යයකට ගිහිල්ල, දුර බැහැර කැලේකට ගිහිල්ල භාවනා කරන්න ඕන'

කියල. එහෙම අධිෂ්ඨාන කරගෙන, පසේනදි උදේසන තමන්ගෙ ගෝල පිරිසට අවසාන වශයෙන් උගන්නල, ඒ ගෝලයින්ගෙන් අවසාන ගෝලයා නික්මෙනවත් එක්කම. කාටවත් නොපෙනෙන නොතේරෙන ආකාරයෙන් - වෙස්වළාගෙන වගේ - වෙස් වළාගෙනම නොවෙයි කාටවත් නොපෙනෙන ආකාරයට, හරියට එළිය වැටෙන්නත් කලින්ම වගේ පිටවුනා. පිටවෙලා, යොදුන් සියගණන් ඈතට ගිහිල්ල යම්කිසි ආරණ්‍යයකට වැඩම කළා. ඒ ආරණ්‍යයේ සිටිනවා තිස් නමක්. තිස් නමක් රහතන්වහන්සේලා සිටින ආරණ්‍යයක්. මේ ස්වාමීන්වහන්සේ එතන නායක ස්වාමීන්වහන්සේ ළඟට ගිහිල්ලා ඉල්ලා හිටියා 'අනේ ස්වාමීන්වහන්ස. මට පිහිට වෙන්න' කියල. ඒ කියන්නේ, නිවනට පිහිට වෙන්න කියන එකයි. මේ ස්වාමීන් වහන්සේ ඉස්සෙල්ලාම කිව්වා, 'අපොයි ඔබවහන්සේ මේ තරම් දැන උගත්කම් ඇති කෙනෙක් නේද? අපටත් යමක් ඉගෙන ගන්න තියෙන්නේ ඔබ වහන්සේ වැනි අයගෙන් නේද" කියලා, 'අපොයි, එහෙම කියන්න එපා ස්වාමීනි, මම මේ ආවේ පිහිටක් බලාපොරොත්තුවෙනුයි, මට නිවනට කමටහන් දෙන්න. නිවන් දැකීමට උපකාර වන භාවනා කර්මස්ථාන දෙන්න' කියලා. අර මානය බිඳින්න දෙවැනි ස්වාමීන් වහන්සේ ළඟට ඇරියා. ඒ ස්වාමීන්වහන්සේ, ඊළඟ ස්වාමීන්වහන්සේ ළඟට යැව්වා. ඔහොම ඔහොම ගිහිල්ල අර මුළු සඟපිරිසෙම කෙළවර සිටින අළුතෙන් පැවිදිවෙච්ච හත් හැවිරිදි සාමණේරයන් වහන්සෙ කෙනෙක් ළඟට යැව්වා. ඒ සාමණේරයන් වහන්සේත් සුළුපටු කෙනෙක් නොවෙයි. රහත් කෙනෙක්. ඉතින් අර පෝඨිල ස්වාමීන්වහන්සේ වඩින අවස්ථාවේ මේ කුඩා සාමණේර නමුත් මහරහතන් වහන්සේ සිවුරක් මහමින් සිටිනවා, විවේක ස්ථානයක. පෝඨිල හාමුදුරුවෝ මේ සාමණේරයන් වහන්සේ ළඟට ඇවිත් වැඳගෙන ඉල්ලා සිටියා, 'සත්පුරුෂයාණන් වහන්ස, මට පිහිට වෙන්න, මට උපකාර කරන්න' කියලා. එතකොට මේ ස්වාමීන් වහන්සේත්, 'අපොයි, ඔබවහන්සේ බොහොම මහළු දැන උගත්, බහුශ්‍රැත ස්වාමීන්වහන්සේ කෙනෙක් නේ. අපිත් ඔබවහන්සේලාගෙන් යමක් ඉගෙන ගන්න ඕන එකේ ඇයි මෙහෙම කියන්නේ"? කියලා. 'නෑ, නෑ, එහෙම කියන්න එපා. මා ආවේ නිවන් දැකීමේ බලාපොරොත්තුවෙනුයි. මට පිහිට වෙන්න. මම ඕන නම්, කියනවා නම්, ගින්නට වුනත් පනින්න සූදානම්' කියලා තමන්ගේ කීකරු කමත් ප්‍රකාශ කළා. මේ පොඩි ස්වාමීන්වහන්සේ එතකොට මාන්නය නැතිකිරීමටත් කීකරුබව මැනීමටත් ඒ ළඟ තිබුන විලක් පෙන්නල කියනවා 'එහෙම නම් ස්වාමීන්වහන්ස අන්න අර විලට බහින්න'. හොඳ වටින සිවුරු එහෙම පොරවාගෙන හිටපු පෝඨිල හාමුදුරුවොත් ඒ සිවුරු පිටින්ම අර විලට බැස්සා. බහිනවත් එක්කම, යන්නම් සිවුරු කොන තෙමෙනවත් එක්කම, ආයෙත් අර කුඩා රහත් සාමණේරයන් වහන්සේ 'වඩින්න, ස්වාමීනි" කියලා කතා කරල ඔන්න ඊළඟට ඉතින් පාඩම දෙනවා.

ටිකක් හිතන්න පුළුවන් මේ පින්වතුන්ටත්, කොයි විදියට ඇද්ද කියලා. හත් අවුරුදු සාමණේරයන්වහන්සේ කෙනෙක් - හුරුබුහුටි සාමණේරයන් වහන්සේ කෙනෙක් කොහොමද - හැබැයි රහත් කෙනෙක්. අර හාමුදුරුවෝ මහ උගත්, හිස පැහුණු, බොහොම බරපතල විදියෙ පෙනුමක් ඇති හාමුදුරුවෝ. නමුත් ඒ හාමුදුරුවො උක්කුටිකයෙන් ඉඳගෙන දැන් මේ පාඩම ඉගෙන ගන්නවා. තිවන් දකින්න. මෙච්චර කාලයක් ඉගෙනගන්න බැරිවුන පාඩමක් මේ හත් හැවිරිදි සාමණේරයන් වහන්සේගෙන් ඉගෙන ගන්නයි සූදානම. මේ රහත් සාමණේරයන් වහන්සේ දෙන පාඩම මොකක්ද? ඕනෑම කෙනෙකුට හිතල ගැඹුරින් ගන්නත් පුළුවන්, සරලව ගන්නත් පුළුවන්, විදියෙ උපමාවක් දෙනවා. 'එහෙනම් ස්වාමීනි ඔන්න අපි හිතමු, හුඹහක් තියෙනවා, ඒ හුඹහෙ සිදුරු හයක් තියෙනවා. ඔය සිදුරු හයෙන් එක සිදුරකින් තලගොයෙක් ඇතුල්වුනා. මේ තලගොයා අල්ලගන්න ඕන නම් මොකක්ද කරන්න ඕන? අර සිදුරු පහක් වහලා ඒ තලගොයා ඇතුල්වුනු සිදුර ළඟම රැක සිටින්න ඕන. රැක සිටින කොට එකනින් පුළුවන් ඒ තලගොයා අල්ල ගන්න. අන්න ඒ වගේ, ස්වාමීනී, මේ ඉන්ද්‍රිය හයක් අපට තියෙනවා - හුඹහ වගේ අපේ මේ ශරීරයේ. මේ ඉන්ද්‍රිය දොරටු හයෙන් නොයෙකුත් අරමුණු, ඇතුල්වෙනවා. ඒ ඇතුල්වෙච්ච අරමුණු 'අල්ලගන්න' ඕන නම් - මෙතන 'අල්ලගන්න' ඕනෙයි කියල කියන්නෙ, ගැඹුරු අර්ථයෙන් අවබෝධ කරගන්න. 'අල්ලගන්නවා' කියන එක. මේ කාලෙත් පාවිච්චි වෙනවා නේ - 'මට ඒ කියන දේ අල්ලගන්න බැරිවුනා' කියල එහෙම කියන්නෙ. අන්න ඒ විදියෙ අල්ලගැනීමක් මෙතන කියන්නෙ. තලගොයා අල්ලගන්නවා කියල කියන්නෙ අර අරමුණ - නොයෙකුත් අරමුණු, අපි යම් යම් දේවල් ගැන හිතනකොට ඒවට කියන්නෙ 'අරමුණු' කියලා. අරමුණේ නියම ස්වභාවය හරියාකාර අවබෝධ කරගැනීමයි අරමුණ අල්ලා ගැනීමෙයි කියල කියන්නෙ. තලගොයා අල්ලගන්න අර සිදුරු පහ වහන්න වගේ, මේ ඉන්ද්‍රිය හය අතුරින් බාහිර ඉන්ද්‍රිය හැටියට සලකන ඇස, කණ, නාසය. දිව, කය කියල කියන මෙන්න මේ ඉන්ද්‍රිය දොරටු පහ වහල, 'මන' කියල කියන - 'හිත' කියල කියන මෙන්න මේ දොරටුවේ රැක්මේ යෙදෙන්ට ඕන. ඒකයි අදහස. එච්චර විස්තර කරන්ට අවශ්‍ය වුනේ නෑ. අර කුඩා ස්වාමීන්වහන්සේ මේ උපමාව කියනවාත් එක්කම, අර පෝඨිල ස්වාමීන්වහන්සේගේ පින මතුවෙලා, ඒක ගැඹුරින් අවබෝධවුනා. ඊළඟට ඒ අවබෝධ වෙනවාත් එක්කම, බුදුපියාණන් වහන්සේ යොදුන් සිය ගණනක් ඈත ඉඳලා මේ සිද්ධිය බලාගෙන ඉඳලා, තමන්වහන්සේගේ බුද්ධ ඥානයෙන් ඒ අවස්ථාවේ පෝඨිල ස්වාමීන්වහන්සේ තවත් උත්සාහවත් කිරීමට - අර කමටහනේ යෙදීමට උත්සාහවත් කිරීමට - අපි කලින් මාතෘකා කළ ගාථා ධර්මය වදාළා.

යොගා වෙ ජායතෙ භූරි
අයොගා භූරිසංඛයො
එතං ද්වෙධාපථං ඤත්වා
භවාය විභවාය ච
තථත්තානං නිවෙසෙය්‍ය
යථා භූරි පවඩ්ඪති

'යොගා වෙ ජායතෙ භූරි' - යෝගය කියල කියන්නෙ භාවනාවේ යෙදීමයි. භාවනා මනසිකාරයයි. ඒ භාවනා මනසිකාරයෙන් පොළොව තරම් මහා ප්‍රඥාවක් කෙනෙකුට ලබාගන්න පුළුවන්. ලොකු ප්‍රතිඵලයක් ලබාගන්න පුළුවන්. අයොගා භූරි සංඛයො - නමුත් ඒ විදියේ භාවනා මනසිකාරයක් නැත්නම්, යෙදීමක් නැත්නම්, එතනදී වෙන්නෙ ප්‍රඥාවේ පරිහානියයි. ප්‍රඥාව විනාශවෙලා යනවා. නුවණ නැතිවෙලා යනවා. 'එතං ද්වෙධාපථං ඤත්වා - භවාය විභවාය ච' මෙන්න මේ මාර්ග දෙක - මේ මං සන්ධිය -තේරුම් අරගෙන, මේ දෙපැත්තට විහිදුනු පාරවල් දෙක හරියට තේරුම් අරගෙන, 'තථත්තානං නිවෙසෙය්‍ය-යථා භූරි පවඩ්ඪති' - 'යම් ආකාරයකින් ප්‍රඥාව වැඩෙනවා නම්, අන්න ඒ ආකාරයට පිළිපදින්න, ඒ මාර්ගයේ ගමන් කරන්න, ඒ මාර්ගයට හැරෙන්න', කියන එකයි බුදුපියාණන් වහන්සේ මේ ගාථාවෙන් පෝඨිල ස්වාමීන්වහන්සේට අනුශාසනා කළේ. ඒ වගේම, ඒ අනුශාසනාවටත් අනුව එයිනුත් ධෛර්යවත් වෙලා, අර පෝඨිල ස්වාමීන්වහන්සේ ඉතාම ශීඝ්‍රයෙන් භාවනා මනසිකාරය යොදලා රහත්වුනු බව සඳහන් වෙනවා. එතනින් අපට හිතාගන්න පුළුවන්, අර ගාථාව තුළ තිබෙනව රහත්වීමට තරම් උපකාරවන ගැඹුරක්. මොකද ඒ් තමන් ප්‍රත්‍යක්‍ෂ කරගත්තු ධර්මයක් අර සාමණේරයන් වහන්සේ ඒ පොඩි උපමාවෙන්-තලගොයාගෙයි හුඹහෙයි උපමාවෙන්-කමටහනක් හැටියට ඉදිරිපත්කළ නිසා.

දැන් එතකොට අපට මේ කථාන්තරයෙනුත් හුගක් ආදර්ශ ගන්න පුළුවනි. අපි ඉස්සෙල්ල ඒක ගැන හිතල බලමු. පළමුවෙන්ම, මේ කථාන්තරයෙන් අපට පෙනෙනවා දැනුමත් ප්‍රඥාවත් අතර වෙනස, දැන් මේ කාලේ බොහෝ දෙනා කවලම් කරගන්න දෙයක් මේක. දැනුම කියන එක ඉහවහා යන යුගයක් මේ කාලය. විද්‍යාවෙයි කියාගෙන නව නොයෙකුත් ශිල්ප ශාස්ත්‍ර - පුස්තකාලයක් බැලුවාම පිරිලා පොතපත. ඒ විදියේ දැනුම් සම්භාරයක් ඉහවහා යන තරමට තිබෙනව ලෝකෙ. නමුත් ප්‍රඥාව කියල කියන්නෙ ඒක නොවෙයි. ප්‍රඥාව කියල කියන්නේ සියුම් වැටහීම. ඒක බොහෝදෙනාට

අඩුයි. විශේෂයෙන්ම මෙතන ප්‍රඥාව කියල කියන්නෙ නිවන් දැකීමට උපකාරවන ගැඹුරු වැටහීම - චතුරාර්‍ය සත්‍යය පිළිබඳ ගැඹුරු වැටහීම. ඒක බොහෝදෙනාට නෑ. ප්‍රඥාව සඳහා වෙහෙසෙන්නෙත් නෑ. ඒ වෙනුවට දැනුම් සම්භාරයක් කරගහගෙන, ඒකෙ බරින් මිරිකිල ජීවිතය ගෙවල, අන්තිමට මිය ගිහිල්ල, සමහරවිට නරක, තිරිසන්, ප්‍රේත ආදී ලෝකවල උපදිනවා. මොකද? අර දැනුම් සම්භාරයෙන් කෙනෙකුට සසරින් මිදෙන්න බෑ. ප්‍රඥාව සඳහා, ශීල-සමාධි-ප්‍රඥා කියන ඒ මාර්ගයෙ ගමන් කරල, ඒකෙ ශික්ෂණයක් ලබන්නට ඕන. එහෙම නැත්නම් තවත් විදියකින් කියනව නම් - යම්කිසි භාවනා කර්මස්ථානයකින් හිත එකඟකරගෙන, අනිත්‍ය, දුඃඛ, අනාත්ම කියන ත්‍රිලක්ෂණය වඩල, මාර්ග ඵල අවබෝධ කිරීමටයි මේ ප්‍රඥාව කියල කියන්නෙ. මෙන්න මේ දෙකේ වෙනස හොඳට පෙන්නුම් කරනවා එතකොට අර මහතෙරුන්වහන්සේ හැටියට හිටිය පෝඨිල ස්වාමීන්වහන්සේ, නොයෙකුත් උපාධි වගේ තත්ත්ව ලබාගන්ට තරම් සුදුසුකම් තිබුණත්, බුද්ධ දේශනාවෙ තියෙන පරමාර්ථය වන නිවන ප්‍රත්‍යක්ෂ කරගත්තේ නෑ. යටත් පිරිසෙයින් සෝවාන් වෙලාවත් නෑ. නමුත් අර සත්හැවිරිදි සාමණේරයන්වහන්සෙ, ඒ ළඟදි පැවිදිවුන නවක හාමුදුරුවෝ - 'පොඩි හාමුදුරුවෝ' කියල අපි කියන්නෙ - නමුත් පොඩි කෙනෙක් නෙවෙයි මහරහතන්වහන්සේ කෙනෙක්. ඔන්න ඔය විදියෙ විශාල පරතරයක් තියෙනව දැනුමත් ප්‍රඥාවත් අතර.

ඊළඟට, ඒ වගේම, අර බුදුපියාණන්වහන්සේ කළ නිග්‍රහයක් වගේ පෙනෙන 'තුච්ඡ' කියන වචනය ගැන හිතන කොට අපට තේරුම් ගන්න පුළුවන්, මේ භාවනා කර්මස්ථානයක් පරිහරණය කරන්න, ඒකට අනුව හික්මෙන්න, ඕන කරන මූලික දේ තමයි නිහතමානිත්වය. දැන් අර පෝඨිල ස්වාමීන්වහන්සේ, මුලදී ඒ විදියෙ අඩු පාඩුකම් තිබුණත් කොයිතරම් නිහතමානීවද අර අවස්ථාවෙ සාමණේරයන් වහන්සේගෙන් පිහිට ඉල්ලා සිටියෙ. ඒක කාටත් ආදර්ශවත්. විත්‍රයක් අඳින්න තරම් වටින අවස්ථාවක්. ඉතින් ඒ විදියට නිහතමානී ගුණයක් පෙන්නුම් කරනවා. ඒක ආදර්ශයක් ලෝකයාට. මහ දැන උගත්කම් තිබුණත් ලෝකෝත්තර ප්‍රත්‍යක්ෂය ඇති කැනැත්තා ළඟ ඒ විදියට යටහත් පහත්ව, ගෞරව පූර්වකව උපදෙස් ලබාගත්ත. හොඳ ආදර්ශයක් පෝඨිල ස්වාමීන්වහන්සේ දුන්න.

අනික් අතට බලනකොට, අර දුන්න උපමාව, ඒ වගේම අර සාමණේරයන්වහන්සේගේ යෝජනා පෙන්නුම් කරන විදියෙ ශික්ෂණය. පෝඨිල ස්වාමීන්වහන්සේට කිව්වා විලට බහින්න කියල. ඒ යෝජනාවට කීකරු වුනා. ඊළඟට කුඩා ස්වාමීන්වහන්සේ දුන්න උපමාව, හුඹහට ඇතුල්වුන තලගොයකු පිළිබඳ උපමාව. මේ හුඹහ කියන එක ගැඹුරු අදහසක්. ධර්මයේම පෙන්නුම්

කරල තියෙනව මේ හුඹහෙ උපමාව. මවුපියන් නිසා ඇතිවෙලා ආහාරපානවලින් පෝෂණය වන, පඨවි, අපො, තෙජෝ, වායො කියන මේ ධාතු හතරෙන් නිර්මාණය වුනු - පොළොව, වතුර, ගින්න, හුළඟ කියන මේ ධාතු හතරෙන් ඇතිවුනු - මේ ශරීර කූඩුව උපමා කරල තියෙනව හුඹහකට. මේ ශරීර කූඩුවෙ තියන සිදුරු හයක් තමයි ඔය කිව්වෙ. බාහිර සිදුරු පහ වගේ තමයි ඒ බාහිර ඉන්ද්‍රියයන් - ඇස, කණ, නාසය, දිව. කය කියන ඒවා. මේවාට 'සිදුරු කියල කියන්නෙ මොකද - 'දොරටු'. මේ දොරටුවලින් යම් යම් අරමුණු අපි ගන්නවා. ඇහැට රූප පෙනෙනව. කණට සද්ද ඇහෙනවා. නැහැයට ගඳ සුවඳ දැනෙනව. දිවට රස දැනෙනව. කයට ස්පර්ශ දැනෙනව. ඒවගේම සීතට සිකිවිලි එනවා. ඉතින් මේ විදියට අරමුණු ගලාගෙන එනව මේ දොරටු හයෙන්, නමුත් මෙතනත් විශේෂත්වයක් තියෙනවා. අර බාහිර ඉන්ද්‍රිය පහ කියල කියන ඇස, කණ. නාසය, දිව, කය කියන ඒවායින් ගන්න අරමුණු - ඒ ගලාගෙන එන අරමුණු - භුක්ති විඳින්නෙ, ඒවා අනුභව කරන්නෙ, හිතයි. මේක හරියට චිත්‍රයක් වගේ සලකනව නම්, අර බාහිර ඉන්ද්‍රිය පහ වටේට තියෙනවා. මැදින් හිත තියෙනව. අර පහෙන් ගේන ඔක්කොම පංචවිධ - සංඥා පංචවිධ - හිතේ තැන්පත් කෙරෙනව. දැන් අර හුඹහ ගැන හිතුවත් අපට හිතාගන්න පුළුවන්, හුඹහෙ උඩින්ම තියෙන හිල වගෙයි මේ මනස. ඒකයි ප්‍රධාන. වටේට තිබෙන සිදුරු පහ වගෙයි අර බාහිර ඉන්ද්‍රිය පහ. ඔය විදියටත් අපට හිතාගන්න පුළුවන් ටිකකට. අපි සාමාන්‍යයෙන් හිතන්නේ ඇසින් අරමුණු ගන්නා කියලා. කණින් අරමුණු ගන්නා කියලා. නමුත් මේ කොහෙන් ගත්තත් මේවා ගිහිල්ල තැන්පත් වෙන්නෙ හිතේ.

හිත ප්‍රධානයි. බුද්ධ දේශනාවෙ විශේෂම, ශ්‍රේෂ්ඨම, කියමනක් තමයි ඒක. සමහරවිට නවීන විද්‍යාවේ ඒක එතරම්ම සැලකිල්ලට ගන්නෙ නැතත් බුද්ධ දේශනාවේ මනසට ප්‍රධාන තැන දීලා තිබෙනවා. 'මනො පුබ්බඞ්ගමා ධම්මා - මනො සෙට්ඨා මනොමයා' කියන පද දෙකෙන් ධම්ම පදයේ මුල් ගාථා දෙකත් ආරම්භ වෙන්නෙ. ඒ බුද්ධ දේශනාවෙ මූලික සිද්ධාන්තයක් වගෙයි. 'මනො පුබ්බඞ්ගමා ධම්මා - ධම්මා කියල කියන්නේ එතන, හිතට අරමුණු වන දේවල්. අපිට 'දේවල්' කියල කියන්න පුළුවන්. අපි දේවල් කියල සළකන හැම දේකටම මනස පෙරටු වෙනවා. හිත තමයි මේවාට ප්‍රධාන වෙන්නෙ. 'මනො සෙට්ඨා' - මනස ශ්‍රේෂ්ඨයි. 'මනොමයා' - හිතින්මයි, ඇත්ත වශයෙන් කල්පනා කරලා බලනකොට, හිතින්මයි මේව සකස් වෙලා තියෙන්නෙ. 'රූපයක්' 'ශබ්දයක්' ආදී වශයෙන් ගන්න දේවල්වල මේ හිත හා සම්බන්ධ කොටසයි බුදුපියාණන්වහන්සේ වැඩියෙන් මතුකරල දක්වන්නෙ. මේවා හිතින්ම වගේ සකස්වෙල තියෙන්නෙ. ඒක නිසා මනසින්මයි මේ ප්‍රශ්නය විසඳගන්න ඕනෙ. මේ මනසින්ම ප්‍රශ්නය විසඳගන්නවා කියල කියන්නෙ මොකක්ද? මේ

එන අරමුණු මෙනෙහි කිරීමෙන්. මේ අරමුණු මෙනෙහි කිරීම තුළින් ඒවායේ නියම ස්වභාවය - ධර්මානුකූලව නියම ස්වභාවය - වටහා ගැනීමයි. සාමාන්‍ය ලෝකයා කරන්නේ මොකක්ද? ඇහැට එන රූපය වඩාත් හොඳින් බලන්න ඒ ඔස්සෙ දුවනවා. කණට එන ශබ්දය ඔස්සෙ දුවනවා. මේවා සංඥාවල්. 'සංඥා' කියන එක බුදුපියාණන් වහන්සෙ උපමා කරල තියෙනවා මිරිඟුවකට. මේ මිරිඟුව කියල කියන්නෙ මොකක්ද? පායන කාලෙ මුවා දේශගුණික, කාලගුණික හේතුන් නිසා පොළොවේ උඩින් පෙපියන නලියන සවභාවයක් දැකලා වතුරෙයි කියල රැවටිලා ඒක ඔස්සේ දුවනවා. දුවන්න දුවන්න ඒක ඈත් වෙනවා. ඒක නිසා ඒකට මිරිඟුව කියල කියනවා. 'මෘගතෘෂ්ණිකා' කියල කියනවා. පිපාසය ඇති මුවා ඒක ඔස්සෙ දුවනව. ඉතින් බුදුපියාණන්වහන්සෙ සංඥාවල් උපමා කරල තියෙන්නෙ ඔන්න ඔය මිරිඟුවට. එහෙම ගත්තොත්. අපට දැන් ඇහැට පෙනෙන රූපයක් හරියට දකින්න කියල අපි වෙහෙසෙන ප්‍රමාණය කොයි තරම්ද කියතොත් අන්තිමට අණු දක්නය් මඩි, දුරදක්නය්මඩි. ඒ තරමට මේවා විග්‍රහ කරගෙන, විග්‍රහකරගෙන යනවා. නමුත් එයින් ධර්මයට ළං වෙන්නෙ නෑ. බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කළ යථා තත්ත්වය දැකීමට ළං වෙන්නෙ නෑ එයින්. අනිත්‍ය, දුඃඛ, අනාත්ම කියන ත්‍රිලක්ෂණය අවබෝධ කරගන්න ඒක ඒකාන්තයෙන්ම උපකාර වන්නෙ නෑ.

ඒ වගේම තමයි ශබ්දය ආදියත්. මේවා ඔස්සේ බොහෝ දුරට දුවනවා. මේ දිවීමේ ආදීනවය මොකක්ද? දුවන්නෙ මක්නිසාද? මේවා පිළිබඳ ආශාවන් නිසා. ආශාව, වැඩෙන දෙයක්. තෘෂ්ණාව, ආශාව, ලෝභකම ආදී නොයෙකුත් නම්වලින් හඳුන්වන ඒ කෙලෙස් වැඩීමට හේතුවන දෙයක් මේ සංඥා ඔස්සේ දිවීම. ඒ වෙනුවට කරන්න තියෙන්නේ - විශේෂයෙන්ම විදර්ශනා භාවනාවේදි - මේ හැම දෙයක්ම කෙටියෙන් මෙනෙහි කිරීමයි. ඒ යෝගියා, යෝගාවචරයා, යන්නෙ නිවන්මග, නිවන් ගමනක්. දැන් අපි උනත් යම් කිසි දුර ගමනක් යනවා නම්, ඒ ගමන ඉලක්කය කරගෙන යනව නම්, ඒ අතරතුරෙදි තමන් යන වාහනේ හැම තැනම නවත්ත, නවත්ත මෙන්න හොඳ දර්ශනයක් තියෙනවා, හොඳ සින්දුවක් තියෙනව කියල ඒවා දැකල අහල එහෙම යන්න හිටියොත්, ගමන යන්න බැරි වෙනවා. ඒක ප්‍රමාදයට හේතුවක්. ඒක නිසා අප්‍රමාදීව නිවන බලාපොරොත්තුවන තැනැත්තා, ඒ යෝග කර්මයේ, භාවනාවේ, භාවනා මනසිකාරයේ, යෙදෙන කොට, දකින රූපයක් පිළිබඳව එළවලා යන්නෙ නෑ. ඒක ඔස්සේ දුවන්නෙ නෑ. ඒ වෙනුවට කරන්නෙ, හිතට දෙනවා 'රූපයක්' 'රූපයක්', මේක රූපයක් පමණයි" කියල දෙවරක් ඒ විදියට මෙනෙහි කරනවා. ඕකයි අර මෙනෙහි කිරීම කියල කියන්නෙ. භාවනා මනසිකාරය. 'රූපයක්, රූපයක්', ඊළඟට ශබ්දයක් පිළිබඳවත් - සිංදුවක්

නම්, මේක කවුරු කියාපු සිංදුවක්ද, කොහොම සිංදුවක්ද කියල විග්‍රහ කරන්නෙ නැතුව, භාවනාවට ඉඳගත්තු තැනැත්තා. 'සද්දයක්. සද්දයක්' කියල ඒක එතනින්ම කෙළවර කරනවා. 'සද්දයක්, සද්දයක්'. ඒ විදියටම ගඳ සුවඳ පිළිබඳවත්. ඒකත් යම්කිසි දැනීමක් - ගඳක් හෝ සුවඳක්. ඒක කෙටියෙන් මෙනෙහි කරල එතනින් කෙළවර කරනවා, ඔන්න ඔය විදියට. එහෙම නැත්නම්, සිහිවිල්ලක් ආවත් ඒ හිහිවිල්ල වැවෙන්න නොදී, වැඩෙන්න නොදී, හිහිවිල්ලක් හැටියට මෙනෙහි කරනවා. හිහිවිල්ලක් පමණයි මෙතන තියෙන්නෙ. ඒමගින් තමයි අර මිරිඟුව පස්සෙ දිවීම වෙනුවට හිත නතර කරගන්න පුළුවන් වෙන්නෙ. මේ දුවන හිත නතර කරගැනීම තමයි මෙතනින් කෙරන විශේෂ අභ්‍යාසය.

මේ සංසාරයේ දීර්ඝ කාලයක් අපි කළේ මොකක්ද? අර මුවා මිරිඟුව පස්සේ දුවන්නා වාගේ මේ අපේ ඉන්ද්‍රියයන්ගෙන් ලැබෙන සංඥා පස්සේ දිව්වා. කවදාවත් තෘප්තියක් නෑ. මුවා පිපාසය සන්සිඳුවා ගන්නයි දුවන්නේ, නමුත් පිපාසය වැඩිවෙනවා මිසක් ඒක කෙළවර කරගන්න වතුර හොයාගන්න බෑ. මොකද, මෙතන වතුරක් නැති නිසා. ඒ වගේම, අපි සාමාන්‍යයෙන් මේ අපේ ආශාවන් සන්සිඳුවා ගැනීමට හිතෙන් මවාගත්තු 'දෙයක්' පස්සේ දුවනවා. 'දේවල්' කියලා හිතාගන්න දේවල්, ඒ 'දේවල්' කියල කියන්නෙ ඔන්න ඔය අරමුණු. නමුත් ඒවා එකක්වත් අපට අහුවෙන්නෙ නෑ. ඒවායේ යථා ස්වභාවය අල්ලගන්න බෑ. ඇහෙන් බලලා, කණින් අහල, මේවායින් සෑහීමකට පත්වෙන්න බෑ. ඒ වෙනුවට බුදුපියාණන් වහන්සේ කියන්නේ අර දොරටු පහ වහලා, හිතට එන දේවල් අර කියාපු විදියට මෙනෙහි කරන්න. ඒ එන සිහිවිල්ල පවා සිහිවිල්ලක් හැටියට මෙනෙහි කරනවා - ඒ සිහිවිල්ලට යටවෙන්නේ නැතුව, ඒක වැඩෙන්න ඉඩ නොදී. 'සිහිවිල්ලක්', 'සිහිවිල්ලක්' කියල ඒක හඳුනාගෙන එතනින්ම කෙළවර කරනවා. ඔන්න ඔය විදියට අර 'ලත් තැන ලොප් කරනවා' වගේ ඒ විදර්ශනා මනසිකාරයයි මෙතන මේ කියන්නේ, 'කලගොයා අල්ලාගන්නවා' කියලා, මේ අරමුණේ යථා ස්වභාවය වටහා ගැනීමයි. මේ 'කලගොයා' - 'කලගොයා' කියල කියන මේ අරමුණු - දීර්ඝ කාලයක් තිස්සේ දීර්ඝ සංසාරයේදී සිතේ තැන්පත් වෙලා ඉන්නවා ඉතා සියුම් ආකාරයට. අතීත සංසාරයේ අපි මේ සිතට එන සංඥාවන් නිසා ඇතිකරගත්තු අරමුණු සිත තුළ නිදාගෙන වගේ ඉන්නවා. ඒවා අවදිවෙලා පැනල යන්න බලනවා අර බාහිර ඉන්ද්‍රිය පහෙන්. ඇහැට එන රූපය පිළිබඳව අතීතයේ ඇති කරගත්තු යම්කිසි සංඥාවක් මතුවෙලා - හිත තුළින් මතුවෙලා - ඒකට බාහිර රූපයක් අල්ලගෙන, 'අන්න ලස්සන රූපයක්' කියල ඒක පස්සේ දුවනවා. 'අන්න හොඳ සිංදුවක්', 'හොඳ මිහිරි නාදයක්' කියල ඒක පස්සේ දුවනවා. හිහිනුත් මේව මතුවෙනව. මතුවෙලා අර බාහිර ඉන්ද්‍රිය පහ පස්සේ

දුවන්න පටන්ගත්තට පස්සේ ආයි නවත්ත ගන්න බෑ. ඒ වෙනුවට කරන්නෙ මොකක්ද? අර දොරටු පහ වහල, භාවනායෝගිය, ඒවට ඉඩ නොදී, ඒව කෙටියෙන් සළකලා, ලත් තැන ලොප් කරල, හිත පිළිබඳව සෙවිල්ලෙන් සිටිනව. මෙන්න මේ සෙවිල්ලෙන් සිටීමට උපකාර කරගන්නේ මොකක්ද? ඒකට තමයි සති සම්පජඤ්ඤය කියල කියන්නෙ. සතිය කියල කියන්නෙ සිහියයි. සම්පජඤ්ඤයට 'මනා නුවණ', කියල කියන්න පුළුවන් 'දැනුවත් බව'. යමක් පිළිබඳව තේරුම් ගැනීමේ ශක්තිය, ඒ කියන්නේ අවබෝධ ශක්තියක්. එතකොට අපිට කියන්න පුළුවන් සිහියයි නුවණයි කියල. සිහි නුවණින් යුක්තව යමක් පිළිබඳව තමාම - අනුන් දැනුවත් කිරීම නොවෙයි - තමාම දැනුවත් වෙනවා. 'මේකෙ ස්වභාවය මෙහෙමයි' රූපයක් නම් ඒකත් මිරිඟුවක්. ඒකත් සංඥාවක්. ඒක නිසා ඒක ඔස්සේ දුවන්නේ නැතුව ඒක රූපයක් පමණයි, ඒක ශබ්දයක් පමණයි, කියලා එතනින්ම නතරවෙනවා.

ඔය විදියට මෙනෙහි කිරීම තුළින් තමයි ක්‍රමක්‍රමයෙන් සංඥාවෙන් මිදෙන්න පුළුවන් වෙන්නෙ කෙනෙකුට. සංඥාවෙන් මිදිලා තමයි ප්‍රඥාව මතුකරගන්න පුළුවන් වෙන්නෙ. අර ගැඹුරු වැටහීම. ඒ ගැඹුරු වැටහීම කියල කියන්නේ මොකක්ද? බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කළ ආකාරයට, මේ ලෝකෙ හැම දේකම අනිත්‍ය ස්වභාවයක් තියෙනවා. මේ අනිත්‍යතාව කෙනෙක් ප්‍රත්‍යක්ෂ කරගන්ට ඕන. මේ මෙනෙහි කිරීම තුළින් කෙනෙකුට ඒක ප්‍රත්‍යක්ෂ කරගැනීමේ ශක්තිය ඇති වෙනවා. අනිත්‍යතාව කියන එක අපි තව ටිකක් සවිස්තරව හිතුවොත්, හැම දේකම තිබෙනවා ඇතිවීමක් සහ නැතිවීමක්. ඇතිවීම්-නැතිවීම් දෙක තමයි මේ අනිත්‍යතාව කියලා කියන්නෙ. රූපය ගත්තත්, වේදනාව ගත්තත්, සංඥාව ගත්තත්, සංස්කාර, විඤ්ඤාණ කියල කියන මෙන්න මේ පඤ්චස්කන්ධයම අනිත්‍යයි. මෙන්න මේ පඤ්චස්කන්ධය කියන ගොඩවල් පහයි 'මමය' 'මාගේය' කියල අපි ව්‍යවහාර කරන්නේ. මේ රූප ගොඩක්. අපි සමහරවිට ඡායාරූපයක් අරගෙන 'මගේ රූපය' කියල ආඩම්බරයෙන් කියනවා. එතන සටහන්වුනෙ මොකක්ද? ඉතාම ශීඝ්‍රයෙන් වෙනස්වෙන රූප සමූහයක් - සන්තතියක්. මේක මිරිඟුවක් වගේ අර සංඥාවෙන් එකක් හැටියට පෙන්නුම් කරලා දෙනවා. එහෙම පෙන්නුම් කරන ස්වභාවයක් ලෝකෙ තියෙනවා. මේ ඉන්ද්‍රියයන්ගේ පිහිටීමේ දුර්වලතාව නිසා අපට අර ශීඝ්‍රයෙන් වන වෙනස්වීම පෙනෙන්නෙ නෑ. ඒකට කියනවා ඝන සංඥාවය කියලා. ලෝකෙ හැම දෙයක්ම 'ඝන දෙයක්' 'හැබෑ දෙයක්' 'ඇත්ත දෙයක්' 'නිත්‍ය දෙයක්' හැටියට පෙනෙන ස්වභාවයක් තියෙනවා. අර ඈතින් පෙනෙන මිරිඟුව වතුරය කියල හිතන්නෙ. නමුත් එතන මහ පොළියන වලන ගොඩක් තියෙන්නෙ. ඒ වගේම තමයි ඒ ඈත තියෙන දේ පමණක් නොවෙයි, මේ අපේ ළඟ තිබෙන ශරීරයත් ඉතාම ශීඝ්‍රයෙන් මොහොතක් පාසා වෙනස්වෙනවා. ඒ

රූපය. ඊළඟට වේදනාවක් එහෙමයි. 'අපොයි වේදනාව' කියලා කියන්නෙ ඒක එකක් හැටියට හිතාගෙන. නමුත් එතනත්, අර මනසිකාරය කියල කියන මෙනෙහි කිරීමේ විදියට සිහි නුවණින් යුක්තව මෙනෙහි කරනකොට පේනවා. එතනත් තියෙන්නෙ වේදනා රාශියක්-ගොඩක්. ඒ වගේම සංඥාව කියන එකත් තට්ටු ගොඩක්. සඤ්ඤා තට්ටු ගොඩකින් තමයි අපි මේ කෙනෙක් හඳුනගන්නෙත්. ඉතාම ශීඝ්‍රයෙන් ඒ තට්ටු ගොඩ එකක් හැටියට අපි ගන්නව ඝන සංඥාවෙන් - එක රූපයක් හැටියට. ඒ වගේම සංස්කාර කියල කියන අපේ චේතනාවල්. ඒවත් ඉතාම ශීඝ්‍රයෙන් ඇතිව, නැතිවෙනවා. විඤ්ඤාණය කියන එකත් 'හිතය' කියල කිව්වට. 'මගේ හිතය' කියල කිව්වට, ඉතාම ශීඝ්‍රයෙන් 'හිතා ගන්න බැරි තරම්' වේගයෙන් ඇතිව නැතිවෙනවා. ඔන්න ඔය විදියෙ තත්ත්වයක් ලෝකයේ තිබෙද්දී අපි සාමාන්‍යයෙන් මේවා ඝන සංඥාවෙන් එකක් හැටියට අරගෙන 'මමය' 'මාගේය' කියල වාක්කු කරගන්නවා. 'මමය' කියල කියන කොට, 'මමෙක්' ඉන්නවා නම්, මට අයිති දේකුත් තියෙන්න ඕන. ඉතින් ඔය දෙක බෙදාගන්න ඕනිල්ලයි මේ සංසාර ගැටළුව ඇතිකරගන්නෙ. 'මමයි' 'මගේ දේයි'. ඔය විදියට ඒ ඝන සංඥාව නිසා ඇතිවෙනාව මෝහයක්.

යම් කිසි කෙනෙක් අර භාවනා මනසිකාරයේ යෙදෙන කොට යම්කිසි සමාධි හිතක් ඇතිව සිත හැන්දක් කරගෙන, අර විදියට දුවන හිත නවත්තා ගන්නවා, පළමුවෙන්ම දුවන්න නොදී-හිත ගැන සැළකිල්ලෙන් සිටීමෙන්. ඊළඟට තවත් ගැඹුරින් මෙනෙහි කරගෙන යනකොට පේනවා මෙතන මේ ඇතිවීම් නැතිවීම් ගොඩක් පමණයි තියෙන්නෙ. ඇතිවෙන දේකුත් නැතිවෙන දේකුත් නෑ. අන්තිමට මේ 'දෙයක්' කියල ගත්තු දේ පවා-ඒකත් නෑ. මෙතන තියෙන්නෙ චලන රාශියක් පමණයි කියන හැඟීම එනවා. අපි සාමාන්‍ය ව්‍යවහාරයේ 'දෙයක්' කියල කිව්වට මොකද, මේ අරමුණු-මේ 'දෙයක්' කියල කියන අරමුණු පවා-මේවායේ අමුතුවෙන් එල්ලෙන්න තරම් 'දෙයක්' නැතිබව පෙනී යනව. මොකද, අර ඝන සංඥාව ඉවත්වෙලා රාශියක් හැටියට පේනව-හැම තැනම, බලන බලන තැන. යෝගාවචරයකුට ඒ ප්‍රත්‍යක්ෂය ළං වෙන කොට තමාගෙ ශරීරයත්, වේදනා සඤ්ඤා ආදී හැම දෙයක්මත් චලන ගොඩක් හැටියට වැටහෙනවා. ඒක වෙන කෙනෙකුට පෙන්නන්න බෑ. තමාටයි ඒක වැටහෙන්නෙ. ඒක තමයි 'ප්‍රත්‍යක්ෂය' කියල කියන්නෙ. එහෙම වැටහීම තුළින් තමයි ඊළඟට, මේ විදියෙ ඇතිවීම්-නැතිවීම් දෙකක් තියන දෙයක් නේද මම මේ 'මමය' 'මාගේය' කියල බදාගෙන ඉන්නෙ, ආසා කරන්නෙ, කියල කලකිරීමක් ඇතිවෙනවා. ඒවගේම, මේවා නැවත ඇති කරගැනීමට උත්සාහය නැතිවෙනකොට, වැඩියෙන් පේන්නෙ නැතිවන, බිඳීයන, ස්වභාවයයි. ඒ බිඳීම නිසා භයක් ඇතිවෙනවා. දැන් අපි යමක් අල්ලාගෙන ඉන්නව නම්, පිහිට සොයාගෙන යමක් බදාගෙන ඉන්නව නම්, ඒ අල්ලගෙන ඉන්න දේ, බදාගෙන

ඉන්න දේ, බිඳෙන කොට අපට යම්කිසි භයක් සංවේගයක් ඇතිවෙනවා. අන්න ඒ වගේ අර යෝගාවචරයට මේ පඤ්චස්කන්ධය පිළිබඳව මේ විදියට මෙනෙහි කරගෙන යනකොට, 'මෙතන ගන්න දෙයක් නෑ. අල්ලගන්න දෙයක් නෑ. මේක මහ භයානක තත්වයක්. මේ මුළු මහත් සංසාරයේ බිඳෙන පදනම් ගොඩක් උඩ ඉඳගෙනයි අපි මේ යකුටින් ගී ගයන්නෙ' කියල ඒ අවබෝධය එනවා. ඒක නිසා, ඇත්තවශයෙන්ම මෝහය නිසයි, අවිද්‍යාව නිසයි, සංසාරයේ අපි දීර්ඝ කාලයක් ගමන් කරන්නෙ, මිරිඟුව පස්සෙ දුවන මුවා වගේ. ඒ වෙනුවට මෙතන අර අවබෝධය මතුවෙන කොට, ප්‍රඥාව මතුවෙන කොට, පේනවා 'මමය', 'මාගේය'. කියල ගත්තු මේ රූපය, වේදනාව, සංඥාව, සංස්කාර, විඤ්ඤාණ කියන මේ හැම එකක්ම ඉතාම ශීඝ්‍රයෙන් වෙනස්වෙන බව, බිඳී යන බව. මේවා ඇතිවෙමින් නැතිවෙමින් යනවා. ඔය විදියට තමයි විදර්ශනා ඥාන මෝරලා යන්නේ.

එසකොට, මෙන්න මේ මනසිකාරය කියන එසේ ඇති වටිනාකම අපි කල්පනා කරන්න ඕන. මනසිකාරය කියන්නෙ හිත ඇතුළෙම කෙරෙන දෙයක්. භාවනායෝගියා සාමාන්‍යයෙන් අර බිත්තර රකින කිකිළියක් වගේ අමුතු වැඩක් කරන්නෙ නෑ ලෝකයේ. පෙනෙන්නෙ නෑ කරන දේ. නමුත් හිත ඇතුළෙ කෙරෙන මේ මනසිකාරය තුළින් තමයි ඒ තැනැත්තාගේ ප්‍රඥාව වැඩෙන්නෙ. සාමාන්‍ය ලෝකයාට මේක අවබෝධ කරගන්න අමාරුයි. මෙන්න මේ භාවනා මනසිකාරය තුළින් යම්කිසි කෙනෙකුට යම්කිසි අවස්ථාවක ක්‍රමක්‍රමයෙන් වැටහීගෙන යනවා, 'මුළු මහත් සංසාරයේ මා මේ නිෂ්ඵල ගමනකයි යෙදිල තිබෙන්නේ, අවිද්‍යාව නිසා, තෘෂ්ණාව නිසා. මේ බිඳෙන දෙයක්, ඉතාම ශීඝ්‍රයෙන් වෙනස්වෙන දෙයක්, 'මමය' 'මාගේය' කියල අරගෙන, ඒ නිසා ඇතිකරගත්තු කෙලෙස්ධාරාවකට, කෙලෙස් ගොඩකට යටවෙලයි මේ සංසාරය ගෙවන්නෙ. නොයෙකුත් විදියෙ ජාති අපි කර්මානුරූපව ලබන්නෙ, මේ අවබෝධය ගැඹුරුවෙන්න ගැඹුරුවෙන්න කෙනෙකුට මේක අතහරින්න පුළුවන් ශක්තියක් එනවා. දැන් අතහරිනවා කියල කියන කොට, අල්ලගෙන කියන දෙයක් අතින් ගිලිහිලා යනව කියන හැඟීමයි කෙනෙකුට එන්නෙ. නමුත් එහෙම බලනවා නම් කොහොමද මේ පඤ්චස්කන්ධය අතහරින්නෙ කියල කෙනකුට ප්‍රශ්නයක් එනවා. අපි මේ අතහරිනව කියල වචනෙන් කිව්වට මෙතන සිද්ධවෙන්නෙ අමුතුම දෙයක්. ඒ යෝගාවචරය අර විදියට මෙනෙහි කරගෙන යනකොට මේ ඇතිවීම් නැතිවීම් දෙකයි ඊළඟට මේක බිඳෙනවා පේනවා. ඇතිවෙනවාටත් වඩා ශීඝ්‍රයෙන් බිඳෙනවා වගේ වැටහෙන්ට පටන් ගන්නවා. ඊළඟට මේක නිසාම යම්කිසි භයක් ඇතිවෙනවා, සංවේගයක් ඇතිවෙනවා. ඒවගේම මේකෙ ඇති ආදීනව පක්ෂය, මේකෙ අල්ලගන්න දෙයක් නෑ කියන වැටහීම එනවා. ඊළඟට මෙයින් මිදෙන්නට ඕන කියන

අවබෝධයක් එනවා. මෙයින් මිදෙන්න ඕන කියන එක. ඒ මිදීමට මාර්ගය තමයි අර කලකිරීම. දැන් අපි දන්නවා හොඳට හැඩවැඩ ඇතිව ඉන්න කැමති කෙනෙක්, තරුණයෙක් හරි තරුණියක් හරි, ඔක්කොම ඇඳුම් ඇඳගෙන හොඳ උත්සවයකට යන්න ලෑස්තිවෙල ඉන්න අවස්ථාවක, කවුරුවත් බලුකුණක් හරි සර්ප කුණක් හරි මිනී කුණක් හරි ඇගේ දැම්මොත් කොයිතරම් ඉක්මනින් උරහිස් හොලවලා ඒක අහක් කරනවද? අන්න ඒ වගේ, අර වැටහීම එන්න එන්න, මේවායේ භයානක ස්වභාවය ගැන, හිත තුළින් යම්කිසි එපාවීමක් එනවා. කලකිරීමක් එනවා. ඒ කලකිරීම වෙන අයට කියන දෙයක් නොවෙයි. තමා තුළින්ම එන ඒ කලකිරීම උපකාර කරගන්නේ මේ සසරින් මිදීමටයි. මොකද, සසරේ බැඳීම තියෙන්නේ තණ්හාව උඩයි, ආශාව උඩයි, ඇල්ම උඩයි, උපාදාන කියලා කියන හිතින් අල්ලා ගැනීම උඩයි. මෙතන තියෙන්නෙ හිතෙන් අල්ලාගැනීමක්. දැන් අපි මේ අවස්ථාවෙ මොකක්වත් අතින් අල්ලගෙන නෑ. නමුත් සිතින් කොයිතරම් දේවල් අල්ලගෙන තියනවද කියන එක මේ පින්වතුන් හොඳට දන්නවා. මේ මුළු මහත් ලෝකය අයිති කරගන්නවා කියල කියන්නෙ මොකක්ද? හිතින් අල්ලගැනීම. මුළු ලෝකය ජයගත්තු රජවරු ලෝකය අයිති කරගත්තෙ කොහොමද? හිතින් අල්ලගත්ත, තණ්හාවෙන්. මේක මගෙයි කියල හිතාගත්ත. මේ අපේ ශරීර කුඩුවවත් අපිට අයිති නෑ, ඇත්ත වශයෙන්. මොකද, මේක ඇතුළෙ පණුවො අසූකුලයක් ඉන්නවා කියල කියනවා. හිසේ උකුණෝ. ඒ හැම දෙනාටම අයිතියි. ඒකට කියන්නෙ 'බහු සාධාරණ' කියල. මේ ශරීරය සාටත් අයිති දෙයක්. ඒ වගේම අපේ වතුපිටි ඉඩකඩම් සොර සතුරන්ටත් අයිතියි. වඳුරන්, රිලවුන් ආදී සතුන්ටත් අයිතියි. නමුත් 'අපේ' - හැම දෙයක්ම අපේ. රටත් අපේ, ගමත් අපේ, ලෝකයත් අපේ, මේ හැම එකක්ම අපේ කියල අපි සාමාන්‍යයෙන් ව්‍යවහාර කරනව. නමුත් මේකෙ යථා තත්වය බලනකොට මේ එකක්වත් අපේ නොවෙයි. බුදුපියාණන්වහන්සේ ඔන්න ඔය සාමාන්‍යයෙන් සිත්න හැටියට සැළකෙන සත්‍යයයි ප්‍රකාශ කළේ. තිත්ත නමුත් සත්‍යය නම් අපි පිළිගන්න ඕන.

ඔය විදියේ සත්‍ය දර්ශනයක් තුළින් තමයි, යම්කිසි කෙනෙකුට මේ සංසාරයෙන් මිදෙන්ට පුළුවන් වෙන්නෙ. ඒකට උපකාරවන මාර්ගය තමයි මේ භාවනා මනසිකාරය. එතකොට මේ පින්වතුන් අද දවසේ කල්පනා කරන්ට ඕන. මේ අපි උපමා හැටියට දක්වන කතාන්තර සාමාන්‍යයෙන් එදිනෙදා ජීවිතයේ ක්‍රියාවට නගන්න බැරි දේවල් හැටියට කෙනෙක් හිතන්න පුළුවන්. නමුත් අර හත් අවුරුදු සාමණේරයන් වහන්සේ අර තරම් උතුම් තත්වයක්, රහත් තත්වයක් ලබාගත්තෙ කොහොමද? පොතපත කියවලද? ලොකු දැනුමක් ලබාගෙනද? නැහැ. භාවනා මනසිකාරය තුළින්. අර හුඹහෙ ඉන්න තලගොයා හරියට අල්ලාගත්ත ඒ පොඩි හාමුදුරුවො. බාහිර ඉන්ද්‍රිය පහ කියන සිදුරු

පහ වහල, 'හිත' කියන ඒ සිදුරෙන් තලගොයා හරියට අල්ලගත්ත නිසා තමයි රහත් වුනේ. එතකොට එදිනෙදා ජීවිතයේ ඉතාමත්ම ප්‍රායෝගික පාඩමක් මෙතන මේ හත් අවුරුදු සාමණේරයන්වහන්සෙ අර පෝඨිල ස්වාමීන්වහන්සේට ඉගැන්නුවෙ. ඒක අපිත් ප්‍රයෝජනයට ගන්න ඕන. ප්‍රායෝගික එකක් කරගන්නට ඕන. එදිනෙදා ජීවිතයේදී. මේ කාලෙ බැහැයි කියල අපි බොහෝවිට කියනව. නමුත් මේ උපමාව තුළින් අපට පේනවා අපේ එදිනෙදා ජීවිතයෙ පවා මේ භාවනා මනසිකාරයට තැනක් ඇතිකරගන්නට පුලුවන් බව. සමහරෙකුට හිතෙන්න පුලුවන් අර කියාපු විදියට කොහොමද මේවා මෙනෙහි කිරීම් පමණකින් නතර වෙන්නෙ කියලා. මේව ඔස්සෙ දුවන්න ඕන නේද කියලා හිතෙන්න පුළුවන්, එදිනෙදා ජීවිතයේදි. නමුත් භාවනායෝගිය කල්පනා කරන්නෙ ඒ විදියෙ පටු දෘෂ්ටි කෝණයකින් නොවෙයි. මේ දීඝ කාලයක් අපි මේ මහා රැවටිල්ලකයි හිටියෙ. අවිද්‍යාව, මෝහය, කියල කියන මහා රැවටිල්ලක් මේ ඉන්ද්‍රිය පහ නිසා ඇතිවෙල තිබෙනව. මේවායේ සත්‍ය සවභාවය වටහාගන්න නම්, මේ බුදුපියාණන්වහන්සේ ප්‍රකාශකළ ආකාරයට යම්කිසි ශික්ෂණයක් අවශ්‍යයි. දැන් මේ අවස්ථාවෙ සමාදන්වුනා වගේ යම්කිසි ශීලයක් සමාදන්වෙලා කය වචනය හික්මවා ගන්ට ඕන, පළමුවෙන්ම. ඒ ශීලය මත පිහිටලා හිත සමාධිමත් කරගන්නව කියල කියන්නෙ හිත එකඟ කරගන්නව. එකඟවුන හිතටයි මේ යථාතත්වය පේන්නෙ. විසුරුණු හිතකට ලෝකයෙ යථාතත්වය වැටහෙන්නෙ නෑ. ඒක නිසා හිත වික්ෂිප්ත වන හේතූන් ඉවත් කරල සිත තැන්පත්කර ගන්ට ඕන, යම්කිසි කමටහන් අරමුණක.

ඒ විදියට හිත එකඟ කරගන්නට පස්සෙ ඔන්න ඊළඟට මේ මෙනෙහි කිරීම හරියාකාරව කෙරෙනව නම් කෙනෙකුට ක්‍රම ක්‍රමයෙන් වැටහෙන්නට පටන්ගන්නව, මේ අපි එකක් හැටියට ගත්තු - ඝන සංඥාවෙන් ගත්තු - දෙය පිළිබඳව, මෙතන රාශියක් තියෙන්නෙ, ගොඩක් තියෙන්නෙ. මේ ගොඩක් කියල කියන්නෙ මොකද? ගොඩක්ය කියල වැටහෙන්නෙ එක එකක් වෙන් ව වැටහෙන නිසයි. දැන් ඉදලක් දිහා බලල අපි මේක ඉදලක්ද කියල සැළකිල්ලෙන් බලනකොට පේනව මෙතන තියෙන්නෙ ඉරටුගොඩක් කියලා. එතකොට ඒ එක එක ඉරටුවක් වෙන් වෙන්ව පේනව. ඒ වෙන් වෙන්ව පෙනීම තුළ තිබෙනවා අර නාම රූප ධර්ම. නාම රූප ධර්ම කියල කියන යම්කිසි ගැඹුරු ධර්ම කාරණයක් වැටහෙන අවස්ථාවක් ඒක. දැන් බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කළ ධර්මයට අනුව. ඇත්ත වශයෙන්ම තිබෙන්නෙ මෙතන නාමරූප දෙකක් පමණයි. මමය කියල කෙනෙක් නෑ මෙතන. ඒකයි බුද්ධ දේශනාව. නාමය කියල කියන්නෙ, අපි සාමාන්‍යයෙන් නාමෙයි කියල හිතාගන්නට මොකද, වේදනාව, සංඥාව, චේතනාව, ස්පර්ශය, මනසිකාරය කියල කියන මේ ධර්ම පහයි. අපි එදිනෙදා ජීවිතයේදී උනත් යම්කිසි වින්දනයක් - වේදනාවක්

- ආශ්‍රයෙන් යම්කිසි හැඳිනීමක් ඇතිකරගන්නවා. ඒ හැඳිනීම උඩ හිතනවා - චේතනා. ඒ සිතීම් තුළින් අපි යම්කිසි ස්පර්ශයක්, යම්කිසි ස්ථානයක් කෙරෙහි මෙනෙහි කිරීමක් කරනවා. ඔය ටික තමයි නාමධර්ම කියල කියන්නෙ.

ඊළඟට මේකෙ රූප කොටස මොකක්ද? රූප හැටියට සලකන්නෙ පඨවි ආපො තේජෝ වායො කියන මේ ධාතු හතර. මේ ධාතු හතර ඉතාම සියුම් අන්දමින් මිශ්‍රවෙලා. අපි මේ වතුරය කියල කියන එකේ අනෙකුත් ධාතූත් අඩංගුයි. නමුත් අර ආපො ධාතුව ඒකෙ වැඩියෙන් ප්‍රකටව තිබෙනවා. ඒක නිසා අපි වතුරය කියල කියනවා. ඒ විදියට මහා පුදුම අන්දමින් සම්මිශ්‍රණය වෙච්ච, අල්ලගන්න බැරි භූතයෝ හතර දෙනෙක් වගෙයි මේ මහාභූතධර්ම කියන ධාතු හතර. ඔය ධාතු හතරෙන් තමයි අපේ මේ ශරීර නිර්මාණය වෙලා තියෙන්නෙ. දැන් අපි මේ 'මමය' මාගේය' කියල අනිත් අයගෙ ශරීරවලට කිට්ටුවෙන්න හොඳී ඊක බලාගන්න, පිරිසිදු කරගන්න, මේ ශරීර කුඩුව මියගියාට පස්සෙ සොහොනක තැන්පත් කිරීමට පස්සෙ, අනිත් අය අඳුනගන්නෙ කොහොමද? ඔක්කොම අන්තිමට පොළවට පස්වෙනවා. මේ පස්වල සාරය ආහාරය හැටියට අරගෙන තමයි අපේ මේ ශරීරය ගොඩ නැගුනෙ. දීර්ඝ කාලයක් තිස්සේ, අවුරුදු විස්සක්, තිහක්, සියයක්, පමණ කාලයක් තිස්සේ මේ ශරීර කුඩුව ගොඩනැගුන. ඊළඟට මේක දිරාපත් වුනාමත් පස්වෙනවා. පස්වලින්ම ඇතිවෙල පස් බවට පත්වෙනව. අන්න එතන තියෙන්නෙ. එතකොට ධාතු හතර පමණයි. නමුත් අපට මේක එදිනෙදා ජීවිතේදී වැටහෙන්නෙ නෑ. හිතට වැටහෙන්නෙ නෑ. මේක භාවනානුයෝගියාට ඉතාම සියුම් අන්දමින් වැටහෙනවා. ඉතින් ඕක තමයි රූපය කියල කියන්නෙ. භාවනානුයෝගියගෙ බාසාවෙන් 'රූපය' කියල කියන කොට වැටහෙන්නෙ මොකක්ද? පඨවි, ආපො, තෙජෝ, වායො කියන ධාතු හතරයි. අනිත් අය කොයි විදියට මේක 'ලස්සන රූපයක්' 'අලංකාර රූපයක්' 'කොයිතරම් ලස්සන රූපයක්ද' කියන කොට අර ඒ ගැඹුරු ප්‍රඥාව ඇති කෙනාට 'මොකක්ද මෙතන තියෙන්නෙ, ධාතු හතරයි,' කියන වැටහීම එනවා.

ඒ වගේම තමයි අර සිත කියල කියන. එහෙම නැත්නම් 'නාමධර්ම, කියල කියන කොටස. එතනත්, මෙන්න මේ තමන්ට ප්‍රත්‍යක්ෂවන වේදනාවක් තියෙනවා. ඒ තුළින් ගන්න සංඥාවක් තියෙනවා. දැන් මේ ඉඳගෙන ඉන්න කොටත් යම් කිසි වේදනාවක් තියෙනවා අන්න අතන අහවල් තැන රිදෙනවයි කියන්න පුළුවන් විදියට. ඊළඟට හැඳිනීමක් තියෙනවා, මදුරුවෙක් කෑවද කියල. චේතනාවක් එනවා. ඊළඟට ස්පර්ශය පිළිබඳ - හැපෙන තැන පිළිබඳ - වැටහීමක් එනවා. ඒ ඔක්කොම කරන්නෙ මනසිකාර කියල කියන මෙනෙහි කිරීමෙන්. අවසාන වශයෙන් බලනකොට මෙනෙහි කිරීමයි. මෙනෙහි කිරීම

තුළින්මයි, එතකොට, අරමුණක ඇති හිස් බව තේරුම් ගන්නෙ. අපි පටන්ගත්තෙත් අර තුවක්ෂ පෝට්ඨිල කියල කතාවකින් - හිස්බව පිළිබඳව. ඒක වෙන අර්ථයකින්. දැන් මෙතන අන්තිමට එන්නෙ ශූන්‍යත්වය කියල කියන හිස්බවක්. මේ කියන්නෙ, අරමුණ විනිවිද දැක්මක්. සාමාන්‍ය ලෝකයා කරන්නෙ අරමුණක් ඔස්සේ දිවීමයි. අර මිරිඟුව ඔස්සේ මුවා දුවන්න වගේ. යෝගාවචරයා කරන්නේ අරමුණ දිහා නැවතිලා බලලා අරමුණ විනිවිද දැකීමක්. අරමුණ විනිවිද දැකීම කියලා කියන්නේ අරමුණේ අනිත්‍යතාව දැකීමයි. ඒ අරමුණ හැටියට ගත්තු එක ඉතාම ශීඝ්‍රයෙන් ඇතිවන නැතිවන දෙයක්. දැන් අපි හිතමු පහන් දැල්ලක් දිහා බලගෙන හිටියා කියල. ඒ ලොකු පහන් දැල්ල බොහොම ලස්සනට කහපාටට, එහෙම නැත්නම් රතුපාට යන්නම් ඇතිව, ලස්සන ආකාරයකින් පේනවා. මේක අර භාවනා මනසිකාරය දියුණුවෙනකොට පේන්නෙ කොහොමද? ඉතාම ශීඝ්‍රයෙන් ඇතිවන නැතිවන පහන් දැල්වල් ගොඩක් වගේ. එක දැල්ලක් නොවේ. ඒ වගේම අපි හිතමු දැන් වතුර ගලාගෙන යන දොළ පාරක්. එහෙම නැත්නම් වතුර වැක්කෙරනව මොකකින් හරි. දැන් ඔය දිය පීල්ලක, දිය ඇල්ලක ජලධාරාවක් ඈතට පේන්නෙ හරියට රිදී බිත්තියක් වගේ. කිට්ටු වෙලා බලනකොට අන්තිමට මෙතන තියෙන්නෙ ඉතාම ශීඝ්‍රයෙන් වැටිල බිඳිල යන, එක මොහොතක් එක ආකාරයෙන් නොපවතින, ජලධාරාවක්. ඒ වගේම ඒක විසිරිලා යනවා පේනවා. ඒක ඝන සංඥාවෙන් ගැනීම තුළිනුයි එකක් හැටියට වැටහෙන්නෙ. නමුත් අර නුවණට, ප්‍රඥාවට වැටහෙනව අවසානයේදී මෙතන එකක් කියල ගන්න දෙයක් නෑ. 'දෙයක් නෑ'. මෙතන තියන මේ අරමුණ අන්තිමට විනිවිද දකිනව. මේක මහ පුදුම දෙයක්. පටන් ගන්නෙ අරමුණෙන්. පටන් ගන්නේ අරමුණ මෙනෙහි කිරීමෙන්. නමුත් අවසාන වන්නෙ අරමුණේ හිස්බව දැකීමෙන්. අරමුණ විනිවිද දැකීමෙන්.

ඔන්න ඔය විනිවිද දැකීම තුළින් තමයි අවසානයේදි තමන්ටම ප්‍රත්‍යක්ෂ වන්නෙ 'මමය', 'මාගේය' කියල මෙතන අල්ලගන්න දෙයක් නෑ කියල. මමෙක් ඉන්නවා නම් තමයි මට අයිති දෙයක් තියෙන්නෙ, මමෙක් නැත්නම් මට අයිති දේකුත් නෑ. ඒ වගේම මෙතන අර 'මම' කියන සංඥාව අවිද්‍යාවෙන් දීර්ඝ කාලයක් තිස්සේ හිතේ තැන්පත්වුනු, සමාජය විසින් උසිගන්වලා එහිම රඳවාගන්න බලන එක්තරා අවිද්‍යාවක්, මෝහයක් බව කෙනෙකුට වැටහෙනවා. ඉතින් මේ ප්‍රත්‍යක්ෂය සමාජයට කෑ ගහල කියලා කෙනෙකුට බෑ අවබෝධ කරවන්න. කාටවත් කියල දීල බෑ මේක කරවන්න. අර පෝට්ඨිල ස්වාමීන්වහන්සේට අර තරම් පොත් ඉගෙනගෙනත් මේක අවබෝධ කරගන්න බැරිවුනේ මොකද? බුදුපියාණන්වහන්සේ ප්‍රකාශ කරල තියෙනව මේ ධර්මය, ස්වාක්ඛාතවූ මේ ධර්මය සන්දිට්ඨිකයි, අකාලිකයි. එහිපස්සිකයි, ඔපනයිකයි,

පච්චත්තං වෙදිතබ්බො විඤ්ඤූහි ආදී නොයෙකුත් වචනවලින්. ඒ මොකද? මේක නුවණැත්තන් විසින් තම තමන්ම ප්‍රත්‍යක්ෂ කරගතයුතු දෙයක්. වෙන කෙනෙකුට මේක ප්‍රත්‍යක්ෂ කරවන්න බෑ. ඒ සඳහා යෙදිය යුතු මාර්ගයයි අර යෝග කියල කිව්වෙ - භාවනා මනසිකාරය, නිසි ආකාර භාවනා මනසිකාරය.

යම්කිසි කමටහනක් අරගෙන - අපි හිතමු, ආනාපානය - අපෙ සමග උත්පත්තියේ සිට මරණය දක්වාම සිටින මෙන්න මේ ආශ්වාස - ප්‍රශ්වාස ක්‍රියාවලිය තුළින්ම ඇතැම් කෙනෙකුට මේ කියාපු ඥානය මතුකරගන්න පුළුවන්. ඒක ඉතාමත් ප්‍රකට කාරණයක්. දැන් අපි මේ හුස්මක් ගන්නව කියල කිව්වට මොකද, මෙතන තියෙන්නෙ හුස්ම රැළි ගොඩක්. හුස්මක් හෙළනව කියන්නෙ එතනත් රැළි - චලන ගොඩක්. නමුත් මේ රැළි ස්වභාවය. චලන ස්වභාවය, සාමාන්‍යයෙන් වැටහෙන්නෙ නෑ. මොකද වැටහෙන්නෙ නැත්තෙ? 'මම හුස්ම ගන්නවා'. මේ ගත්තෙ 'මගේ හුස්මයි'. අපි හිතමු හොඳ මල්වල සුවඳ සහිත හුස්මක් ගත්ත බොහොම ආසාවෙන්. එක්කො හඳුන්කූරු සුවඳ වාගේ දෙයක් එක්ක හුස්මක් ගත්ත. 'මම' හුස්මක් ගත්ත නමුත් ඒක තියාගන්න බෑ. අන්න ලෝක ධර්මතාව. එහෙම කොයිතරම් ආසාවෙන් ගත්තත් හුස්මක් අපට රඳවාගන්න බෑ. පපුව හිරවෙනව. ඒ නිසා ඒ හුස්ම හෙලන්න වෙනවා. ඒ හෙළීම තුළ තිබෙන්නේ අර වගේම චලන ගොඩක්, ඉතින් මෙතන අන්තිමට බලනකොට ඇතිවෙන්නෙත් චලන ගොඩක්, නැතිවෙන්නෙත් චලන ගොඩක් කියල කියන්න වෙනව. ඒකත් අන්තිමට නැතිවෙල ගිහිල්ල ඒ චලනමත් ඉතාම සියුම් ආකාරයෙන් කෙනෙකුට වැටහෙනව. මේක මේ බාහිර යන්ත්‍ර සූත්‍රවලින්, කොයිතරම් සියුම් අන්දමේ යන්ත්‍ර සූත්‍රවලින් නමුත් කෙනෙකුට අවබෝධ කරගන්න බෑ. තමා තුළින් ඇතිකරගන්න ප්‍රඥාවෙන්මයි මේක කෙනෙකුට වැටහෙන්නෙ. මේ වැටහීම තුළිනුයි යම්කිසි කෙනෙකුට මේ පඤ්චස්කන්ධය අතහරින්න පුළුවන් වන්නෙ. මේ ශරීර කූඩුවෙන් මිදෙන්න මින කියල දිවි නසා ගත්තට ඒ ප්‍රශ්නෙන් මිදෙන්නෙ නෑ. ඒ ප්‍රශ්නය උග්‍රවෙනව මිසක්. ඊළඟට කර්මානුරූපව නැවත කොහේහරි උපදිනව. දැන් බොහොම දෙනෙක් ජීවිත පූජාව හරි ජීවිත පරිත්‍යාගය හරි කියල තමන් ඇලුම් කරන දෙයක්, ඇලුම් කරන කෙනෙක්, වෙනුවෙන් ජීවිතය පරිත්‍යාග කරනව - ඒක ලොකු දෙයක් හැටියට. එහෙම බේරෙන්න බෑ මේ සංසාරයෙන්. විඤ්ඤාණයෙ ගැබ්වෙච්ච ඒ තරම් කර්මරාශියක් තිබෙන නිසා. නමුත් ඒ වෙනුවට කරන්න තියෙන්නෙ ප්‍රඥාවෙන් අර කියාපු ලොකෝත්තර තත්වයන් ප්‍රත්‍යක්ෂ කරගැනීමයි.

සෝවාන්, සකදාගාමී, අනාගාමී, අර්හත් කියලා කියන, මේ සංසාරයෙන් මිදෙන මට්ටම් හතරක් තිබෙනවා. අපේ සිත් තුළ තිබෙනව සතර අපායට

අදින ශක්තීන්, පාප ශක්තීන්. ඒ අකුසල ශක්තීන් විනාශ කරන ශක්තියක් සෝවාන් පුද්ගලයගෙ ලෝකෝත්තර ප්‍රඥාවෙ තිබෙනව. සෝවාන් පුද්ගලයා නැවත සංසාරයේ හත්වරකට වඩා උපදින්නෙ නෑ. ඒ වගේම සතර අපායට යන්නෙ නෑ. ඒක තමයි සෝවාන් බවින්ම ලැබෙන විශාලම සහනය. ඒක නිසයි බුදුපියාණන් වහන්සෙ මුළු මහත් ලෝකයේ අධිපතිකමට වඩා, චක්‍රවර්තිරාජ්‍යයට වඩා, දෙව්ලොව යාමට වඩා, සෝවාන් ඵලය උතුම්ය කියල දේශනා කළේ. මොකද චක්‍රවර්ති රජකෙනෙක් නම් ධාර්මික රජකෙනෙක්. නමුත් සාමාන්‍ය ලෝකයේ රජකමක් කියල කියන්නෙ පව් නොකර බැරි තත්ත්වයක්. ඒ කරන පව්වලට විපාක වශයෙන් ඊළඟට භයානක අපායවල උපදිනව, ප්‍රේත තත්ත්වවල, යක්ෂ තත්ත්වවල. නමුත් සෝවාන් පුද්ගලයා සතර අපායෙන් මිදෙනවා. ඒ පළමුවෙනි ලෝකෝත්තර තත්ත්වයයි. ඊළඟට සකෘදාගාමී කියල කියන්නෙ, නැවත එක්වරක් පමණයි මෙලොවට එන්නෙ. සමහරවිට දිව්‍යලෝකෙ ඉපදිලා ආයි තව එක්වරයි මනුෂ්‍ය ලෝකෙ නැවත ඉපදෙන්නෙ. ඒ හැම එකක්ම සංසාරය කෙටිකරන ආකාරය අනුවයි නම් කරල තියෙන්නෙ. අනාගාමී කියල කියන්නෙ තුන්වෙනි තත්ත්වය. නැවත මෙලොවට එන්නෙ නෑ. බ්‍රහ්ම ලෝකයෙදිම සසර දුක් කෙළවර කරල උතුම් අරහත් බවින් පිරිනිවන් පානව. ඒ අනාගාමී තත්ත්වය. රහතන් වහන්සේගේ මේ අවසාන ජීවිතයයි. මේ ජීවිතයෙන් පස්සෙ නැවත උත්පත්තියක් නෑ. ජාති දුක්ඛය- සාමාන්‍ය ලෝකයා උපන්නාය කියල, උපන් දිනේය කියල, ලොකුවට උත්සව පැවැත්වුවට මොකද. උපත කියන එක මොන තරම් දුකක්ද? ඒත් දරුවටත් මතක නෑ, සමහරවිට මවටත් මතක නෑ. එපමණක් නොවෙයි, අපි හොඳට ඇස් ඇරල බලනව නම්. ලෝක තත්ත්වය අනුව, ඉපදීම නිසා නේද මේ හැම ගැහැටක්ම ඇතිවෙන්නෙ. අපේ මේ ශරීර කූඩුවත් මේ උත්පත්තිය නිසයි. අපි අතීතයේ ඇතිකරගත්තු තණ්හාවෙන්, හිතින් අල්ලා ගැනීම නිසා කර්මානුරූපව අපට යම්කිසි ශරීරයක් ලැබුන. සමහරවිට අඩ හැටියට උපන්න වෙන්න පුළුවන්, ගොළු හැටියට, බීරි හැටියට, ඒ නිසා කොයිතරම් දුක් විඳින්න සිද්ධ වෙනවද? හොඳයි අපි හිතමු, ඒ මොකක්වත් නැතිව හොඳට අඟපසඟ සහිතව උපන්නා කියල. ඒ වුනත් මේ ශරීරය පෝෂණය කිරීම සඳහා, බඩවියත රැකගැනීම සඳහා, උපන්දා සිටම කවුරුත් මවුපියෝ එහෙම- කවනව පොවනව නම්, අපට පුළුවන් ජීවත් වෙන්න. එහෙම ඒ අයගෙ කරේ එල්ලිල ඉන්න බැරි අවස්ථාව උනාම ඊළඟට දහඩිය මහන්සියෙන්, මඩගාගෙන, නොයෙකුත් දුක් විඳගෙන උපයා සපයා ගන්න ඕන. ඔන්න ඔය විදියෙ තත්ත්වයක් මේ ජීවිතය ආරක්ෂා කරගැනීම - මේ ශරීර කූඩුව රැක ගැනීම - සඳහා. ඉතින් ඒ විදියට ඒ උත්පත්තිය නිසා ඇතිවන දුක. ඊළඟට උපතත් එක්කම එන එක තමයි ජරාව කියල කියන්නෙ. උපන්දා ඉඳලම දිරනවා. අපි සාමාන්‍යයෙන් වයසට ගියා කියල කියන්නෙ, මහළු වයසට පත්වුනා කියන්නෙ,

යම්කිසි සීමාවක් දාලා - අවුරුදු 40 න්, 35 න් පස්සෙයි කියල හෙම කියනවා. නමුත් ඇත්ත වශයෙන්ම මේ දිරීම උපතේ ඉඳලම පටන් ගන්නවා. උපන් හිසකෙස් හරි මොනව හරි දිර දිරා යනවා. මේ දිරීම ශීඝ්‍රවෙන කොට ආබාධය, ව්‍යාධිය එනවා. ක්‍රමක්‍රමයෙන් රෝගයත් එකතුවෙල මේ ප්‍රශ්නය තව උග්‍ර කරනවා. අවසානයෙ මේක කෙළවර වෙන්නෙ මරණයෙන්.

ඔන්න ඔය ජාති, ජරා, ව්‍යාධි, මරණ කියන හතර නිසයි බුදුපියාණන්වහන්සෙ අර තරම් රජ සම්පත් අතහැරල ගියේ. වෙන ලෝකයේ තියෙන දුක් අප්‍රධානයි. ඒව අඩු-වැඩි වෙන්න පුළුවන්. මේව කාටත් පොදුයි. අන්න ඒක නිසා මේ සංසාරික තත්වය ගැන යම්කිසි කෙනෙක් නුවණින් කල්පනා කරනව නම්, අර ලෝකයා කොයි විදියට සම්මුති හැටියට අල්ලගත්තු දැනුම් රාශියක් තිබුනත් ඒව ඔස්සෙ දුවනව වෙනුවට කරන්න තියෙන්නෙ, අර පෝඨිල ස්වාමීන්වහන්සෙ කළා වගේ, අවසානයේදී ඒ 'පාඩම' ඉගෙන ගත්ත වගේ, මෙන්න මේ බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කළ ප්‍රතිපත්ති මාර්ගයේ - යෝගයේ - යෙදෙන්නට ඕන. අයෝගයෙන් ඉවත්වෙලා යෝගයේ යෙදෙන්නට ඕන. යෝගය කියල කියන්නෙ භාවනා මනසිකාරයයි. ඒ විදියට යම්කිසි කර්මස්ථානයක්, ඒවාට උපදෙස් දෙන්න පුළුවන් අය ළඟට කිට්ටුවෙලා ඒ අයගෙ උපදෙස් අනුව ලබාගෙන - අර පෝඨිල ස්වාමීන්වහන්සෙ වගේ නිහතමානීව - ඒ ධර්ම මාර්ගයේ ගමන් කරන්න ඕන. මේ දීර්ඝ කාලයක් සංසාරයේ තිරශ්චීන දිවිල්ලක් මේ දුවල තියෙන්නෙ. අර මුවා මිරිඟුව පස්සෙ දුවන්න වගේ, මේ ජීවිතේ අපි යම් යම් ඉලක්කයන් ඇතිකරගන්නව කුඩා අවදියෙ. කුඩා දරුවා වැඩිහිටියන්ගෙ ජීවිත දිහා බලල ඒ අයගේ වතුපිටි, ඒ අය පාවිච්චි කරන යාන වාහන, ඒව ඔස්සෙ ඇතිකරගන්නව ආශාවන්. ඒවම තමයි කුඩා දරුවට සෙල්ලම් බඩු හැටියට දෙන්නෙ, බත් කවන දවසෙ ඉදිරියෙන් තබන්නෙ. ඒ අර තමාගෙ මවුපියන්ගෙ ආසාවන්වල ඉලක්ක අරමුණු. ඒ අරමුණු තමයි අර පොඩි දරුවා බත් කවන දවසෙ ගිහිල්ල බදාගන්නෙ. ඊළඟට ඒ බදාගත්ත දේ වෙනුවෙන් මුළු ජීවිතේම කැප කරනවා ඒ දරුවා. ඒ පොඩි දරුවන්ගෙ සෙල්ලම් බඩු. ලොකු දරුවන්ගෙ සෙල්ලම් බඩු ගැන අමුතුවෙන් කියන්නෙ නෑ. ඒවා ඔස්සේ මුළු ජීවිතයම ගෙවා දමනවා. සමහරවිට ජීවිත පරිත්‍යාග කරනවා. නමුත් ඒවා අන්තිමට හිස් දේවල්. ඒ විදියෙ දේවල්වලින් කවදාවත් සංසාරයෙන් මිදෙන්න බෑ.

ඒ වෙනුවට කරන්න තියෙන්නෙ, අර දිවිල්ල නතර කරල හිත නතර කරගන්න උත්සාහ කරන එකයි, භාවනා කර්මස්ථාන අරමුණක් මඟින්. බුදුපියාණන් වහන්සෙ අර අංගුලිමාල කියන සොරාට, ඒ දාමරිකයාට, කිව්වෙත් 'මා නැවතුනා ඔබත් නවතින්න' කියලයි. අන්න ඒ වගේ. මේ

නැවතිල්ලයි ලෝකෙට ඕන වෙල තියෙන්නෙ-දිවිල්ල නොවෙයි. හැමෝම දිවිල්ලටයි ආරාධනා කරන්නෙ. මේ දිවිල්ල නතරකරල නැවතිල්ලටයි භාවනා මනසිකාරය කියල කියන්නෙ. මේකට උපකාරවෙන ආකාරයට අර භාවනා කම්සථානයක් මගින් ඉන්ද්‍රිය දොරටුවලට එන අරමුණු ලත් තැන ලොප් කරමින් ඉතාම සියුම් ආකාරයකින් මෙනෙහි කිරීමෙන් - සති සම්පජඤ්ඤයෙන් යුක්තව - යම් කිසි කෙනෙකුට පුළුවන් වෙනව මේ බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කළ අනිත්‍ය, දුඃඛ, අනාත්ම කියන ත්‍රිලක්ෂණය තම තමන් තුළින්ම ප්‍රත්‍යක්ෂ කරගන්න. මේ හැම දෙයක්ම වෙනස් වෙනව නම්, ඇතිව-නැතිවන ස්වභාවයෙන් යුක්ත නම්, ඒවායින් පෙළෙනව නම්. ඉතාම ශීඝ්‍රයෙන් බිඳී බිඳී යනව නම්, මේක මහ භයජනක දෙයක් - මේක දුකක්. කෑලි කඩා හැලෙන වාහනයක් අපි වාත්තු කර කර පාවිච්චි කරනව නම් ඒක කොයිතරම් කරදරයක්ද? දුකක්ද? ඒ වගේම තමයි අපේ මේ ශරීරය. ආහාර පාන ගත්තත් ආයි පැය ගණනකින් මේක පෝෂණය කරන්ට ඕන. මේ ආශ්වාසයක් අපි ගන්නව බොහොම ආශාවෙන්, හොඳ මල් සුවඳක් කියල, නමුත් ඒක හෙළන්න සිද්ද වෙනව. අනික් දේවල් පිළිබඳවත් එහෙමයි. ඔයි විදියට බිඳී බිඳී යන ස්වභාවය-වෙනස්වන ස්වභාවය - නිසා, විපරිනාමය නිසා, මේක දුඃඛයක්, දුකක්, හැටියට බුදුපියාණන්වහන්සේ ප්‍රකාශ කලා. ලකුණු තුනක් හඳුනා ගැනීමයි ජීවිතයේ ඉලක්කය විය යුත්තෙ හැමදෙනාගෙම. අනිත්‍ය කියන ලක්ෂණය. ඊළඟට දුඃඛලක්ෂණය, ඊළඟට අනාත්ම ලක්ෂණය. මේක දුකක් නම්, දුක් සහිත දෙයක් නම්, සැපයක් මෙතන ඇත්ත වශයෙන්ම නැත්නම්, ඒක 'මමය' 'මගේය' කියල ආඩම්බරයෙන් කියන්නෙ කොහොමද? මගේ වශයෙහි පවත්වගන්න බැරිනිසා තමයි මේක බිඳිල යන්නෙ. මගේය කියල කියන්න පුළුවන් නම් මට ඕන හැටියට පවතින්න ඕන. නමුත් මේක ඒ විදියෙ දෙයක් නොවෙයි. අපි නොහිතු ආකාරයට, නොහිතු මොහොතක, අපි පතන දේවල්, අපි අල්ලගෙන සිටින දේවල්, අයත් කරගෙන සිටින දේවල්, වෙනස්වෙලා, බිඳිලා විනාශ වෙලා යනවා-වෙන්වෙලා යනවා. අන්න ඒ විදියෙ ස්වභාවයක් මේ සංසාරයෙ තිබෙන්නෙ.

මේ ස්වභාවය නුවණින් ප්‍රත්‍යක්ෂ කරගත් තැනැත්ත තමයි අර බුදුපියාණන් වහන්සෙ ප්‍රකාශ කළ 'සබ්බසංඛාර සමථ' කියල කියන - සියලු සංස්කාරයන්ගේ සංසිඳීම කියල කියන - ඒ උතුම් නිවන් සැපත ලබන්නෙ. නිවීම, නිබ්බාන කියල කියන්නෙ නිවීමයි. මේ මුළු මහත් ලෝකයේම, මුළු මහත් සංසාරයේම. තියෙන්නෙ දැවීමක්. ඉතාම පුදුම අන්දමින් ඇතුළතක් පිටතක් දැවෙනව ලෝකයේ. බුදුපියාණන් වහන්සෙ ප්‍රකාශ කරල තිබෙනව 'මහණෙනි, මේ හැම එකක්ම ගිනිගෙන දැවෙනව' කියල. ඇස, කණ, නාසය ආදී මේ හැම එකක්ම ගිනිගෙන දැවෙනව කියල. ඒ විදියෙ දැවීම් රාශියක් තුළයි ලෝකයා

සිටින්නෙ. බුදුපියාණන්වහන්සෙ ප්‍රකාශ කළ ධර්මය තුළින් උන්වහන්සේ මේ දැවීම්වලින් මිදිල උතුම් වූ ඒ 'නිබ්බාන' කියල කියන නිවීමට මාර්ගය පෙන්නුම්කරල තියෙනව. ඒ ප්‍රතිපත්ති මාර්ගයයි බුද්ධ දේශනාව කියල කියන්නෙ. එහි හරය තමයි ඒ ප්‍රතිපත්තියේ යෙදීම. අන්න ඒක නිසා මේ පින්වතුන් අද මේ වටිනා පෝය දවසෙ ආජීව අෂ්ටමක ශීලය කියන වටිනා ශීලයක් සමාදන්වෙල - ඊටත් වඩා වටිනා ශීල සමාදන්වුනු පින්වතුන් ඉන්නව මෙතන - ඒ කොයි ආකාරයෙන් නමුත් කය, වචනය හික්මවා ගෙන මේ අවස්ථාවෙ බුද්ධ දේශනාවට අදාළ ධර්ම කාරණා කීපයකට දැන් කන් දුන්න. මේ තුළින් - මේ අපි ඉදිරිපත් කළ උපමා හෝ අනිකුත් ඒ නිදර්ශන ආශ්‍රයෙන් - මේ පින්වතුන් තම තමන්ගෙ එදිනෙදා ජීවිතයට අවශ්‍ය ප්‍රායෝගික ටික පමණක් ලංකර ගත්තත් ඇති, මේ හැම එකක්ම නැතත්. ඊළඟට වැදගත් දේ තමයි එදිනෙදා ජීවිතයෙ - මේක අත්හදා බැලීමට කරන දෙයක් හැටියට නොවෙයි - තමන්ගේ ජීවිත රටාවට එක්කරගෙන, දිනචරියාවට එක්කරගෙන, දවසේ සුළුවෙලාවක් හරි මේ භාවනා මනසිකාරයට වෙන් කරගෙන, විනාඩි කීපයක් හරි, ඊළඟට පුළුවන් නම් නිවාඩු ඇති අවස්ථාවක, එහෙම නැත්නම් නිවාඩු දාල හරි, මේවාට යොමුවෙල, මේ දීර්ඝ කාලයක් සංසාරයේ ප්‍රමාදයට වැටීම නිසා අතහැරුණු ඉතාම වැදගත් කාර්යය වන සංසාර විමුක්තිය - නිර්වාණාවබෝධය කියන ඒ උතුම් කාර්යයට, කෘත්‍යයට, පරමාර්ථයට තමන්ගේ ජීවිතය යොදනව ඇති කියල මම බලාපොරොත්තු වෙනව.

එතකොට මේ වෙලාවෙ, මේ ධර්මදේශනා අවස්ථාව තුළ මේ පින්වතුන්ගේ සිත් තුළ නිවනට උපකාරවන වටිනා ධර්ම කීපයක් තැන්පත් වුනා කියලා අපි හිතනව. ශ්‍රද්ධාවෙන් තමයි මේකට සවන් දුන්නෙ. ශ්‍රද්ධාව ඉතාම වටිනා ගුණයක්. කොයිතරම්ද කියතොත් බුදුපියාණන් වහන්සේ ප්‍රකාශ කරල තියෙනව නිවනට උපකාර වන ඉන්ද්‍රිය ධර්මයක් හැටියටත් මේ ශ්‍රද්ධාව, ඒ වගේම වීර්යය. සතිය කියල කියන සිහිය, සමාධිය, ප්‍රඥාව මේවා යම්කිසි ප්‍රමාණයකට ඇතිකරගන්න මේ ධර්මදේශනාව පිළිබඳව මෙනෙහිකරමින් කන්දීමෙන් මේ පින්වතුන්ට ශක්තිය ලැබුනා කියලා අපි හිතනව. ඒ නිසා අද දවසේ ධර්ම ශ්‍රවණමය ආනිසංස හැටියට සළකන තමන්ට ලැබුන මේ ශක්තියෙන් මේවාට පිරිසිදුව හිත යෙදීමෙන්, කය වචනය යොමුකිරීමෙන් යම් කුශල චේතනා රාශියක් ඇතිවුනා නම් ඒ හැම කුශලයක්ම අපි දැන් ඒ පින් බලාපොරොත්තුවන, පින් කැමති අයට බෙදා දෙමු.

ධර්ම දේශනාමය, ධර්මශ්‍රවණමය වශයෙන් අපි යම් ප්‍රණීත කුශල සම්භාරයක් රැස්කරගත්ත නම් මේ අවස්ථාව තුළ, ඒ කුශල සම්භාරය ශාසනාරක්ෂක දිව්‍යබ්‍රහ්ම මණ්ඩලයත්, විශේෂයෙන්ම මේ ස්ථානයට අධිගෘහීත දෙවිදේවතාවුන්

හැමදෙනෙක්මත් අනුමෝදන් වෙත්වා! තම තමන්ගේ ප්‍රාර්ථනා පරිදි යම්කිසි බෝධියකින් උතුම් අමාමහ නිවන සාක්ෂාත් කර ගනිත්වා ! ශාසනයටත් අපටත් ආරක්ෂාව සළසත්වා! කියන ප්‍රාර්ථනාව ඇතිකරගන්නට ඕන. ඒ වගේම, තම තමන්ගේ ඥාතීනුත් ඇතුළුව අවීචියේ සිට අකනිටා දක්වාවූ යම්තාක් සත්ත්ව සමූහයක් පින්කැමතිව, නිවන් කැමතිව සිටිත් නම් ඒ හැම දෙනෙක්මත් මේ උතුම්වූ කුශලය අනුමෝදන්වී හැකිතාක් ඉක්මණින් ප්‍රාර්ථනීයබෝධියකින් උතුම් අමාමහනිවන් සාක්ෂාත් කරගනිත්වා කියන ප්‍රාර්ථනාවෙන් මේ ගාථා කියා පින්දෙන්න.

'එත්තාවතා ච අම්හෙහි......"

# 5 වන දේශනය

"සීල දස්සන සම්පන්නං - ධම්මට්ඨං සච්චවේදිනං
අත්තනො කම්ම කුබ්බානං - තං ජනො කුරුතෙ පියං ති"

පිය වග්ග, ධ.ප.

සැදැහැවත් පින්වතුනි,

සම්බුද්ධ ශාසනයේ නියම පරමාර්ථ, නියම වටිනාකම්, ගැන හරි අවබෝධයක් ගිහි පැවිදි දෙපක්ෂය තුළම ඇතිවීම ශාසනය බොහොම කාලයක් පවතින්න හේතුවන කාරණයක්. ඒක නිසා බුදුපියාණන් වහන්සේ ඒ පරමාර්ථ, ඒ වටිනාකම්, ඉස්මතුකර දෙන්න නොයෙකුත් විදියේ අවස්ථා යොදාගත්තා. ප්‍රතිපත්තිගරුක ශ්‍රාවකයන් වහන්සේලාට විශේෂ ප්‍රශංසා කළා. විශේෂ සැළකිලි දැක්වූවා. මොකද, ප්‍රතිපත්තිය තමයි ශාසනයේ ජීවය. ප්‍රතිපත්තිය නැති තැන ප්‍රතිවේධය කියල කියන මාර්ගඵල ප්‍රත්‍යක්ෂකරගැනීමක්, නිවන් දැකීමක්, සසර දුක් කෙළවර කර ගැනීමක්, කරගන්න පුලුවන් වෙන්නේ නෑ. ඒක නිසා බුදුපියාණන් වහන්සේ මේ ගිහි පැවිදි දෙපක්ෂය තුළම ලෝකෝත්තර ගුණධර්ම වැඩෙන විදියේ අන්‍යෝන්‍ය සම්බන්ධතාවක් ඇතිකර ගැනීමේ වටිනාකම බොහොම අවස්ථාවල්වල වර්ණනා කළා.

දැන් අපි මේ මාතෘකා කළ ගාථාවත්, ඒකට අදාළ නිදාන කථාවත් මේකට හොඳ නිදර්ශනයක්.

බුදුපියාණන් වහන්සේ වේළුවනාරාමයෙ වැඩ වාසය කරන කාලයේ එක් දවසක උදැසන අසූමහ ශ්‍රාවකයන් වහන්සේලාත් ඇතුළු පන්සීයක් සංඝයාවහන්සේලා පිරිවරාගෙන රජගහ නුවරට පිණ්ඩපාතෙ වැඩියා. එදා රජගහ නුවර සැණකෙළි දවසක්. උත්සව දවසක්. සමහරවිට දැන් මේ කියන අලුත් අවුරුදු උත්සවය වගේ යම්කිසි උත්සවයක් වෙන්ට ඇති. එතකොට හරියටම ඒ අවස්ථාවෙම ඒ නගරයෙන් පිටත්වෙල එනවා පන්සියයක ළමයි කණ්ඩායමක් කැවුම් මලු උස්සගෙන. ඒ ළමයින්ට බුදුපියාණන් වහන්සෙ මුණගැසුනහම කැවුම්මලු පැත්තකින් තියල බුදුපියාණන්වහන්සේටත් ඒ සංඝයා වහන්සේලාටත් වන්දනා කරල, ඒ කැවුම්මලු අරගෙන නික්ම ගියා. එතන ඉක්මවලා ගියා. ඒ ගියාට පස්සෙ බුදුපියාණන් වහන්සේ සංඝයාවහන්සේලාගෙන් අහනව,

"මහණෙනි කැවුම් වළඳනවද?"

"කොහේද ස්වාමීනි කැවුම්"

"ඇයි දැක්කෙ නැද්ද අර ළමයි කණ්ඩායමක් කැවුම් මලු උස්සගෙන මෙතනින් පියමං වෙනවා."

"ස්වාමීනි ඒ වගෙ ළමයි කාටද කැවුම් දෙන්නෙ"

"මහණෙනි එහෙම කියන්න එපා. ඒ ළමයි මටවත් තුඹලටවත් කැවුම් පිළිගැන්වුවෙ නැතිවට මොකද ඔන්න කැවුම්වල නියම අයිතිකාර භික්ෂුව පිටිපස්සෙන් වඩිනව." එහෙම කියල, "අපි කැවුම් වළඳලාම යන්න ඕන මහණෙනි".

කියල බුදු පියාණන්වහන්සේ ඒ ළඟ තිබුණ ගහක් යට සඟ පිරිසත් එක්ක වැඩ හුන්නා. කවුද මේ කැවුම් අයිතිකාර භික්ෂූන්වහන්සේ. මේ පන්සියයක් පිරිස පිටිපස්සෙන් වෙනම වඩිනවා, බුදුපියාණන් වහන්සේගෙන් නිතර ප්‍රශංසා ලැබූ, බුදු පියාණන්වහන්සේගේ සිවුරු පවා පූජා වශයෙන් ලැබූ - හුවමාරු කරගත්ත - - ඒ වගේ'ම ධූතංගධාරීන් අතර අග්‍රස්ථානය බුදුපියාණන්වහන්සේගෙන් ලබාගත්තු මහා කාශ්‍යප මහ රහතන්වහන්සේ. තපෝ ගුණයෙන් අග්‍ර ස්වාමීන්වහන්සේ. ඒ ස්වාමීන් වහන්සේ පළපුරුදු ආකාරයට, විවේකයටම කැමති නිසා ඒ අවස්ථාවේ අර පිරිසෙන් වෙන්ව හෙමිහිට පිටිපස්සෙන් වැඩම කරනවා. එතකොට අර කැවුම්මලු ඔසවාගෙන ගිය ළමයි මේ ස්වාමීන් වහන්සේ දැකල, පුදුම විදියේ ශ්‍රද්ධාවක්, පැහැදීමක්. ප්‍රසාදයක් ඇතිකරගෙන පසඟ පිහිටුවල වැඳල, කැවුම් මලුපිටින්ම ස්වාමීන් වහන්සේට පිළිගැන්වුවා, "පිළිගන්න ස්වාමීනී" කියල. මහාකාශ්‍යප මහරහතන් වහන්සේ ඒ ළමයින්ට කියනවා "ළමයිනේ, අන්න අපේ ශාස්තෘන් වහන්සේත් සංඝයාවහන්සේලාත් අතන අර ගහ මුල වැඩ හිඳිනව, ගිහිල්ල ඒ හැමදෙනාටම යමක් පූජාකරන්න තියනවා නම් පූජාකරන්න" කියල. එහෙම ප්‍රකාශකරල මහාකාශ්‍යප මහ රහතන් වහන්සේත් අර ළමයි කණ්ඩායමත් එක්ක බුදුපියාණන් වහන්සේ වැඩහිඳි ගහ යටට වැඩම කළා. ඊළඟට අර ළමයි ඒ සියලුම සඟපිරිසට බුදුපියාණන්වහන්සෙ ප්‍රධාන සඟ පිරිසට - කැවුම් පිළිගැන්වුවා. වළඳනකං බලං ඉඳල පැන් හිටං පිළිගැන්වුවා. ඒ පැන් පිළිගන්වලා අවසන් උනාට පස්සෙ, කැවුම් එහෙම වළඳලා ඉවරඋනාට පස්සෙ, සංඝයාවහන්සේලා අතර යම්කිසි කසුකුසුවක් වගේ විවේචනයක් - විවේචනාත්මක වචන කීපයක් - ඇහෙනවා. "මේ ළමයි මූණ බලල පිණ්ඩපාතෙ බෙදන්න වගේ වැඩක් කරල තියෙන්නෙ. මේ තරම් මේ බුදුපියාණන් වහන්සේත් අග්‍රශ්‍රාවකයන්

වහන්සේලා වගේ ඒ ශ්‍රේෂ්ඨ ස්වාමීන්වහන්සේලාත් ඉඳිද්දී, මේ පිටිපස්සෙන් වඩින මහාකාශ්‍යප මහරහතන් වහන්සේට කැවුම් සියල්ලම පිළිගැන්වූවා" කියල.

මේක ඇහිල බුදුපියාණන්වහන්සේ ප්‍රකාශ කරනවා, "මහණෙනි එහෙම කියන්න එපා. මගේ පුත්‍ර මහාකාශ්‍යප දෙව් මිනිසුන්ට ප්‍රියයි. ඒ නිසා දෙව් මිනිසුන් - මනුෂ්‍යයින් පමණක් නොවේ දෙවියන් පවා - මහා කාශ්‍යපට පිණ්ඩපාතයෙන් සිවුපසයෙන් සංග්‍රහ කරනවා. පූජා කරනව" කියල එහෙම ප්‍රකාශ කරල තමයි අර අපි කලින් මාතෘකා හැටියට තබාගත්තු ගාථාව වදාළේ.

"සීල දස්සන සම්පන්නං - ධම්මට්ඨං සච්චවෙදිනං
අත්තනො කම්ම කුබ්බානං - තං ජනො කුරුතෙ පියං"

ඒකෙ අදහස අපි බලමු. "සීල දස්සන සම්පන්නං" - සංඝයාවහන්සේලාට අයිති හතරාකාර ශීලයක් තියෙනවා. සිවු පිරිසිදු සීලය කියල කියනවා. කෙටියෙන් සඳහන් කරනවා නම්, බුදු පියාණන් වහන්සෙ පණවා වදාළ විනය ශික්ෂාපද අයිති ප්‍රාතිමොක්ෂ සංවර ශීලය. ඒ පිළිබඳ හික්මීම. ඒක එකක්. ඊළඟට මේ ඇස් කන් නාසාදී ඉන්ද්‍රියයන් කෙලෙසුන්ගෙන් සංවර කර ගැනීම, ආරක්ෂාකර ගැනීම, කියල කියන ඉන්ද්‍රිය සංවර ශීලය - දෙවැනි එක. ඊළඟට සිවුපසය සෙවීම පිළිබඳව අනියම් ක්‍රම නැතිව ධාර්මිකව, නිසි ආකාරයෙන් සිවුපසය ලබාගැනීම පිළිබඳ හරි ආජීවය, ජීවිකාව පිළිබඳ ආජීව පාරිශුද්ධි ශීලය - ජීවිකාව පිළිබඳ පිරිසිදුබව රැකීම. හතරවෙනුව, ඒ ලබාගත් සිවුපසය 'ප්‍රත්‍යවේක්ෂා' කියල කියන නුවණින් සළකා - සිවුපසය පරිභෝග කිරීමේ නියම අර්ථය සළකාගෙන - ඒක භාවනාවට නහමින් පාවිච්චි කිරීම කියල කියන ප්‍රත්‍යය සන්නිශ්‍රිත ශීලය නමින් හැඳින්වෙන සිවුපසය පිළිබඳ ශීලය.

ඔය විදියට හතරාකාර ශීලයක් සංඝයාවහන්සේලාට තිබෙනවා. ඔය සිවු පිරිසිදු සීලයෙන්ම සම්පූර්ණයි මේ තපෝගුණයෙන් අග්‍ර මහා කාශ්‍යප මහ රහතන්වහන්සේ. එතකොට, ඒ ශීලය.

ඊළඟට 'දස්සන' කියල කියන්නෙ සම්‍යක් දර්ශනය. මාර්ගඵල ප්‍රතිවේධයෙන් - දැන් මෙතන මේ රහතන් වහන්සේ කෙනෙක් - ඒ සම්‍යක් දර්ශනයෙන් යුක්තයි. එතකොට "සීල දස්සන සම්පන්නං" - "ධම්මට්ඨං" කියල කියන්නෙ - ධර්මයෙහි පිහිටියාවූ. ධර්මයෙහි හරිහැටි පිහිටලා තිබෙනවා. ඒ ලෝකෝත්තර

මාර්ගඵල ප්‍රත්‍යක්ෂ කරගැනීමෙන් හරියාකාර ධර්මයේ පිහිටලා සිටිනවා. "ධම්මට්ඨං".

ඊළඟට "සච්චවෙදිනං" චතුරාර්ය සත්‍යය තේරුම් අරගෙන තියෙනවා හරි ආකාරයට - "සච්චවෙදිනං". ඒ වගේම "අත්තනො කම්ම කුබ්බානං"

"අත්තනො කම්ම කුබ්බානං" - කියල කියන්නෙ පින්වතුනි "තමාගේ වැඩය කරන්නාවූ". තමාගේ වැඩය කරන්නාවූ. මෙතන තමාගේ වැඩය කියල කියන්නෙ බුදුපියාණන්වහන්සෙ වදාළ සංඝයා වහන්සේලාට අයිති වැඩේ මොකක්ද, ශීල - සමාධි - ප්‍රඥා කියල කියන නිවනට උපකාර වන ඒ ත්‍රිවිධ ශික්ෂාව. ඒක වැඩීමයි. අන්න ඒ ශීල - සමාධි - ප්‍රඥා කියන තමන්ට අයිති වැඩේ කරන්නාවූ.

එතකොට මේ ගාථාවෙ අදහස ශීලයෙන් හා සම්‍යක් දර්ශනයෙන් යුක්තවූ, ධර්මයෙහි හරියාකාරව පිහිටියා වූ, චතුරාර්ය සත්‍යය තේරුම් ගත්තා වූ, ඒ වගේම තමන්ට අයිති වැඩය කරන්නාවූ, එබඳු ඒ භික්ෂුවට "තං ජනො කුරුතෙ පියං" එබඳු ඒ භික්ෂුවට ජනයා ප්‍රිය කරයි. ඒ භික්ෂුව ජනප්‍රිය වෙයි, කියල ඒ විදියට බුදු පියාණන් වහන්සෙ ප්‍රකාශ කළා. ඒ ගාථාවත් එක්කම වදාළ දේශනාව අහල අර පන්සියක් දරුවන්ම සෝවාන්උනා. උතුම් වූ සෝවාන් ඵලයට පැමිණියා.

එතකොට, දැන් අපි මේ ගාථාවත් කතාවත් බැලුවහම අවුරුද්දට කියාපු කැවුම් බණක් වගෙයි. නමුත් මේක නිකම්ම කැවුම් බණක් නොවෙයි. මේකෙ බොහොම වටිනා ගුණ සුවඳක් තිබෙනවා. දහම් රසයක් තිබෙනවා. අපි ඒක උරාගන්න බලමු.

එතකොට පළමුවෙන්ම අපි කල්පනා කරල බලමු, දැන් මෙතන මේ මහා කාශ්‍යප මහ රහතන්වහන්සේ - මේ විශේෂ කෙනෙක්. මේ ශාසනයෙ විශේෂ කෙනෙක්. අග්‍රශ්‍රාවකයන් වහන්සේලා හිටියට මොකද උන්වහන්සේලාගේ ගුණ සම්පත්තිය වෙනමයි. ඒ වගේම මහා කාශ්‍යප මහ රහතන් වහන්සේ විශේෂ වෙන්නේ අර තපෝ ගුණ - ධුතාංග කියල කියන ශීලයට උපකාරවන. ශීලය වඩාත් හොඳින් රැකීමට උපකාර වන උග්‍ර ප්‍රතිපත්ති සමූහයක්, - 13 ක් තිබෙනවා - ඒ දහතුනම හරියාකාරව රැක්ක ස්වාමීන් වහන්සේ නමක්. මහාකාශ්‍යප මහරහතන් වහන්සේ. උන්වහන්සේ ඔය පිණ්ඩපාතයෙන් යැපීම, ඊළඟට ආරණ්‍ය වාසය, පාංශුකූල සිවුරු දැරීම, තුන් සිවුරකින් පමණක් යැපීමකට පත්වීම, ආදී ඒ උග්‍ර ප්‍රතිපත්ති රාශියක්ම රැක්ක.

ඒ වගේම විවේකයට ප්‍රිය කළ නිසයි අර විදියට පිරිසගෙන් වෙන්ව වැඩම කළේ. උන්වහන්සේ පිළිබඳව බුදු පියාණන්වහන්සේ ඇතැම් අවස්ථාවල්වල උන්වහන්සේ ආදර්ශයට ගන්න හැටියට සංඝයා වහන්සේලාට විශේෂ දේශනා පැවැත්වූවා. උන්වහන්සේගේ ජීවන රටාවේ විශේෂ ලක්ෂණ හුවා දක්වමින් හොඳ ලස්සන උපමා දෙකකින් උන්වහන්සේ මහා කාශ්‍යප මහරහතන් වහන්සේගේ පැවැත්ම, ගිහියන් හා තිබෙන සම්බන්ධතාව, පෙන්වා වදාළා. දැන් අර ගාථාවේ හැටියට නම් ප්‍රකාශ වෙන්නෙ මහා කාශ්‍යප මහරහතන් වහන්සෙ බොහොම ජනප්‍රිය කෙනෙක් කියල. කුඩා දරුවන් අතර පවා ජනප්‍රිය කෙනෙක්. දැන් අපි දන්නවා මේ කාලෙ හැටියට සංඝයාවහන්සෙ කෙනෙක් ජනප්‍රිය වෙන්න නම් ගිහියන් සමඟ ඇලී ගැලී කටයුතු කරන්න ඕන, ගිහියන්ගෙ වැඩවලට සම්බන්ධවෙලා. එවාට උර දෙමින් කටයුතු කරන්ට ඕන. නමුත් මහාකාශ්‍යප මහරහතන් වහන්සේගේ ජීවන රටාව පිළිබඳව බුදු පියාණන්වහන්සේ වදාළ උපමා දෙකෙන් අපට වෙන දෙයක් තේරුම්යන්නෙ.

මොනවද දීපු උපමා -

"චන්දූපමා" කියල හඳ පිළිබඳ උපමාවක් දීල තිබෙනවා, බුදු පියාණන් වහන්සෙ. මේ මහා කාශ්‍යප හඳ වගේ පවුල් අතර හැසිරෙනවාය කියල. ගෙන් ගෙට පිඩු සිඟා වඩිනකොට හරියට මේ මහාකාශ්‍යප මහරහතන් වහන්සේ හඳ වගේ. මොකද, හඳ කියල එකන උපමාවට ගත්තෙ. "නිච්ච නවකා - කුලෙසු අප්පගබ්භා" හඳ හැමදාම අලුත්. හඳ හැමදාම අලුත් වෙනවා. අව පක්ෂය හරි, පුර පක්ෂය හරි, හැමදාම අලුත් දෙයක්. අන්න ඒ වගේ මහාකාශ්‍යප මහ රහතන් වහන්සෙ, ගෙන් ගෙට පිඩුසිඟා වැඩියට මොකද, ඒ ගිහියන්ට හැමදාම අලුත් කෙනෙක්. කොහොමද අලුත්වෙන්නෙ? අර ගිහියන් සමඟ පමණට වැඩිය සම්බන්ධකම් නැති නිසා. අපි දන්නවා දැන් ගමේ ගොඩේ කථාවක් තිබෙනවා "දෙවේලේ දකින කුකුළගෙ කරමලේ" ගැන. අන්න ඒ වගේ තත්වයක් එනවා පමණට වඩා ඇලීගැලී කටයුතු කළොත්. එහෙම එකක් නැ මහාකාශ්‍යප මහරහතන් වහන්සේගෙ - හඳ වගේ. දැන්, හඳ සිව්වනම අපේ ළිඳෙන් පේනවා. පොකුණෙන් පේනවා. හැමතැනම පේනවා. හැබැයි අල්ලගන්න බැ. අල්ලගන්න බැ හඳ, කාටවත්. අන්න ඒ වගේ තමයි මහාකාශ්‍යප මහරහතන් වහන්සේත් කාටවත් අල්ලගන්න බැ, ගිහි ගෙවල්වල එහෙම ගියාට මොකද. ඒක නිසා "කුලෙසු අප්පගබ්භා" කියල කියනවා. ඒ පවුල් සමඟ පමණට වැඩි සම්බන්ධතාවක් නැ. අනියම් සම්බන්ධතාවල් නැ. අන්න ඒ ගුණ දෙක, ඒ විදියට අර හඳේ උපමාවෙන් බුදු පියාණන් වහන්සේ පෙන්වා වදාරල එක් අවස්ථාවක සංඝයා වහන්සේලාට මහාකාශ්‍යප මහරහතන් වහන්සේ ආදර්ශයට අරගෙන ජීවත්වෙන්නෙයි කියල

වදාළා. තවත් උපමාවක් බුදු පියාණන් වහන්සෙ දැක්වූවා. "ජරුදපාන" උපමාව. ඒ කියන්නෙ "පාළු ළිඳක්".

මහාකාශ්‍යප මහ රහතන් වහන්සෙ උපමා කළා පාළු ළිඳකට එබිල බලන කෙනෙකුට. හරියට දැන් පාළු ළිඳකට කෙනෙක් එබිල බලනකොට එබිල බලන්නෙ, ඒකට වැටෙන්න හිතාගෙන නොවෙයි. කයයි සිතයි මැක් කරගෙන. කයයි සිතයි මැස් කරගෙන පාළු ළිඳකට එබී බලන්න වගේ ගිහියන් අතර පිඩුසිගා වඩිනව කියල මහා කාශ්‍යප මහරහතන් වහන්සේට ප්‍රශංසා කර වදාළා, බුදු පියාණන් වහන්සෙ. මය උපමා දෙකෙන් පේනවා, එතකොට, මහාකාශ්‍යප මහරහතන් වහන්සේ අපි මේ කාලෙ හිතන විදියට නම් 'ජනප්‍රිය' කියන වචනයට ගැලපෙන්නෙ නෑ. ජනප්‍රිය කෙනෙක් වෙන්ට බෑ. නමුත් පින්වතුනි ජනප්‍රියත්වයේ මට්ටම් දෙකක් තිබෙනවා. ධනය, සිලය, බලකල ආදී දේවල් නිසා ජනප්‍රිය වීමක් තිබෙනවා. ඒක බොහොම මතුපිටින් යන ජනප්‍රියත්වයක්. බොහොම ඉක්මණින් නැතිවෙලා යනවා. ගුණ ගරුකත්වය නිසා ඇතිවන ජනප්‍රියත්වය ඊට වඩා ගැඹුරු දෙයක්. දැන් මෙතනින් අපට පේනවා, අර කුඩා දරුවන් කියල කිව්වහම, අපි දන්නවා කුඩා දරුවන්ට සමහර දේවල් ඉවෙන් වගේ දැනෙනවා. වැඩිහිටියන්ගේ නොයෙකුත් විතර්කවලින්, විවේචන ආදී ඒ හිකිවිලි වලින්, කවලම් වෙච්ච, ව්‍යාකූල වෙච්ච, හිත්වලට වඩා පිරිසිදු හිතක් කුඩා දරුවන් තුළ තිබෙනවා. ඔවුන්ට මේ ගුණ සම්පත්තිය කියන එක සමහරවිට ඉවෙන් වගේ දැනෙනවා. අන්න ඒක නිසා වෙන්න ඇති අර පන්සියයක් දරුවන් අර බුදු පියාණන් වහන්සේලාටත් - ඒ ගෞරවය නැතිව නොවෙයි - වන්දනා කළාට මොකද අර තනිව වඩින මහාකාශ්‍යප මහරහතන් වහන්සේගේ තපෝ ගුණයට විශේෂයෙන් වශීවුනෙ. වශීවෙලා අර විදියට කැඳුම්මලු පූජා කළේ. එයින් පේනවා ඒ දරුවන් තුළ යම්කිසි සහජ ප්‍රඥා ශක්තියකුත් තිබෙන්ට ඇති. "හැදෙන ගහ දෙපත්තෙන් දැනේ" කියල කතාවක් තිබෙනවා. ඒ වගේ මේ දරුවන් තුළත් හැදෙන ගහක් වගේ ඇතුළත තිබිල තියෙනවා යම්කිසි ගුණ ශක්තියක්. ඒක නිසාමයි අර බණ අහලා අච්චර ඉක්මණින්ම ඒ සෝවාන් ඵලය කියලා කියන උතුම් තත්වයට පත් වුනෙ. බුදු පියාණන්වහන්සෙ ප්‍රකාශ කරල තිබෙනවා චක්‍රවර්ති රාජ්‍යයටත් වඩා ශ්‍රේෂ්ඨවූ තත්වයක් සෝවාන් තත්වය පවා - පළමුවෙනි මාර්ගඵලය වුනත්. මොකද, හව ජීවිත හතයි සංසාරයෙ ගෙවන්න වෙන්නෙ. ඒ වගේම සතර අපායෙන් නිදහස්. එබඳු තත්වයක් ලබාගත්තා.

ඒ වගේම එතනදී මේ දරුවන්ගෙ හිත සකස්උනෙ කොහොමද කියන එකත් අපිට හිතාගන්න පුලුවන්. පළමුවෙන්ම ඒ මහා කාශ්‍යප මහ රහතන්

වහන්සෙගෙ ගුණ සම්පත්තිය අනුව හිත පහදවා ගත්තා. ඒ ගුණ සම්පත්තිය හැඳිනගත්තා. බුදු පියාණන්වහන්සෙ වදාළ කෙටිගාථාවෙන්. දැන් අපි අර පළමුවෙන්ම විග්‍රහකළේ ඒ ගාථාවෙ අදහසයි. එයින් තේරුම් ගත්ත මේ මහාකාශ්‍යප මහ රහතන්වහන්සේ තුළ මේ ගුණ සම්පත්තිය තියෙන නිසයි අපේ හිත පැහැදුනෙ කියල. යමක් පිළිබඳව මුදිතාවෙන් සතුටු වෙනවා නම් ඒ එක්කම තමන් ඒ ගුණයත් එක්කම වැඩෙනවා. ඒ වගේම ඒ දරුවන් තුළ තිබුණු පැහැදුනු සිත වඩාත් පිරිසිදු උනා. ඊළඟට ඒ වගේම අපට හිතාගන්න පුළුවන් ඒ පිරිසිදු සිත තවත් පිරිසිදු වෙන්න උපකාර උනා අර පරිත්‍යාගය. මෙතන කැවුම් පමණක් නොවෙයි පරිත්‍යාග උනෙ. කැවුම් එක්ක බැඳුණු විනෝදයත් පරිත්‍යාග උනා. උයනට ගිහිල්ල මේ කැවුම් කකා කෙළි සෙල්ලම් කරන අදහසින් මේ ළමයි පිටත්වුනෙ. නමුත් මේ පන්සිය දෙනාම එක් සිතින් අර සියලුම කැවුම් ටික බුද්ධ ප්‍රමුඛ සංඝයා වහන්සේලාට පූජා කළා. එයින් ඒ පරිත්‍යාගය සම්පූර්ණ උනා. සිත වඩාත් ප්‍රසන්න උනා. පැහැදුනා. එබඳු ඒ ප්‍රසන්න සිත තමයි ඊළඟට අර මාර්ගඵල අවබෝධයෙන් ඒ සෝවාන් තත්වය ලබාගත්තෙ. අන්න ඒ අනුව අපිට මේකෙන් පේනවා, මේකෙ වටිනා දහම් රසයක් තිබෙනවා, ගුණ සුවඳක් මේක තුළ තිබෙනවා.

ඊළඟට තවදුරටත් කල්පනා කරල බලනව නම්, දැන් මේ බුදුපියාණන් වහන්සේ වදාළ කාරණා අනුව මහා කාශ්‍යප මහ රහතන් වහන්සේගේ ජනප්‍රියත්වය, දෙවියන් අතරත් මනුෂ්‍යයන් අතරත් ඒ ගුණ සම්පත්තිය නිසා ඇතිවූ ජනප්‍රියත්වයක්. දැන් සාමාන්‍ය සංකල්පයක් තිබෙනවා - විශේෂයෙන්ම මේ කාලයේ - සංඝයා වහන්සේලා කියල කියන්නෙ ගිහි පින්වතුන්ගේ සිවුපසයෙන් යැපෙන අය. ඒක නිසා ඒ සඳහා යම්කිසි ණයක් ගෙවන්ට ඕන. මේක පුවමාරුවක්. මේක ගනුදෙනුවක්. කාරණෙක් ඇත්තයි. යම්කිසි ගනුදෙනුවක් මෙතන තියෙන්නෙ. ඒ ණය ගෙවන ආකාරය තමයි ටිකක් වෙනස් වෙන්නෙ. සාමාන්‍ය ලෞකික ණය ගෙවීම් වාගේ දෙයක් නොවෙයි. ලෞකික දේ වෙනුවට ලෝකෝත්තර අර්ථයක් සිද්ධ කිරීමෙන් තමයි මේ ණය ගෙවෙන්නෙ. ඒක නිසා තමයි දැන් 'අත්තනො කම්ම කුබ්බානං" කියල අර ගාථාවෙ කිව්ව - "තමාගේ වැඩය කරන", තමාගේ වැඩය කරන කෙනාට සමාජයේ යොදන වචනයක් තිබෙනවා 'ආත්මාර්ථකාමී' කියලා. 'ආත්මාර්ථකාමී පුද්ගලයා'. එතකොට මහාකාශ්‍යප මහරහතන් වහන්සෙ හඳුන්වන්නෙ බුදු පියාණන් වහන්සෙ ආත්මාර්ථකාමී කෙනෙක් හැටියට. නමුත් මේ ආත්මාර්ථය සිද්ධවෙනවත් එක්කම- මොකක්ද ආත්මාර්ථය, ශීල සමාධි ප්‍රඥා කියල කියන නිවනට උපකාරීවන ධර්ම පිරීම - ඒවා සම්පූර්ණ වෙනකොට පරාර්ථය සිද්ධවෙලා ඉවරයි. ඒක නිසා එතන ආත්මාර්ථයම පරාර්ථය බවට පත් වෙනවා. දැන් මේ ගිහියන් විසින් සංඝයා වහන්සේලාට පූජාකරන සිවුපසය ගැන කල්පනා

කරල බලනකොට, මේවා පූජාකිරීම අර යාචකයින්ට - දුගී මඟී යාචකාදීන්ට - දීමට වඩා වෙනස් දෙයක්. දුගී මඟී යාචකාදීන්ට දෙන්නෙ, පින්වතුනි කරුණාව මුල්කරගෙන. සංඝයා වහන්සේලාට පූජාකරන්නෙ ශ්‍රද්ධාව මුල් කරගෙන. ඒක නිසා බුදු පියාණන්වහන්සෙ බොහෝ අවස්ථාවල සංඝයා වහන්සේලාට තමන්ට අයිති වැඩේ සිහිපත් කරදීම සඳහා ප්‍රකාශ කළා, "මහණෙනි තුඹලා 'සද්ධාදෙය්‍ය' භෝජනය වළඳනවා" කියල. ශ්‍රද්ධාවෙන් දෙන ආහාරය වළඳලයි තුඹලා මේ ජීවත්වෙන්නෙ කියල. ඒකට ණය ගෙවන්ට ඕන. ඒකට ණය ගෙවන්ට ඕන. කොහොමද ණය ගෙවන්නෙ? මේ සිවුපසය පරිභෝග කරන ක්‍රම හතරක් ධර්මයෙ දක්වල තිබෙනවා. මොනවද ඒ හතර?

පළමුවෙනි එක,

ථෙය්‍ය පරිභෝගය - ථෙය්‍ය පරිභෝගය කියල කියන්නෙ: අපි සාමාන්‍ය වචනයක් ගත්තොත්, 'හොරාකනව' වගේ. හොරාට අරගෙන පාවිච්චි කරනවා වගේ. ථෙය්‍ය පරිභෝගය.

දෙවෙනි එක,

ඉණ පරිභෝගය - ණයට අරගෙන පාවිච්චි කරනවා වගේ

තුන්වෙනි එක,

දායජ්ජ පරිභෝගය - දායාද වශයෙන් ලබාගෙන පාවිච්චි කරනවා කියන එක.

හතරවෙනි එක,

සාමි පරිභෝගය - සිවුපසයට අයිතිකාරයෙක් හැටියට පාවිච්චි කිරීම

ඔන්න ඔය විදියේ සංකල්ප හතරක් ධර්මයේ දැක්වෙනවා. අපි මේ එක එකක් තරමක් දුරට විග්‍රහ කරන්න බලමු.

ථෙය්‍ය පරිභෝගය කියල කියන්නෙ කිසිම ගුණ සම්පත්තියක් නැතිව ශීලාදී ගුණයක් නැතිව, සිවුපසය පරිභෝග කිරීම. එයින් ඒ පරිභෝග කරන තැනැත්තා - භික්ෂුව - ණය කාරයෙක් වෙනවා කියියන්ට. වෙන කොයි විදියේ ලෞකික මට්ටමින් ණය ගෙවන්ට උත්සාහ කළත්, ධර්මානුකූලව ණයකාරයෙක් වෙනවා. ඒකට ණය ගෙවන්ට ඕන දීඝ කාලයක් සංසාරයෙ,

සමහරවිට. ඉතින් අන්න ඒ විදියෙ තත්ත්වයක්. ඒක ථෙය්‍ය පරිභෝගය - "හොරාට කනව" වගේ.

ඊළඟට, දෙවෙනි කාරණය - ඉණ පරිභෝගය. ණයට අරගෙන පාවිච්චි කරන එක. හොරාට අරගෙන පාවිච්චි කරනවාට වැඩිය දෙවෙනි තත්ත්වය ඊට වඩා ටිකක් හරි හොඳයි - ණයට ගන්න එක. ඒක නොගෙන බෑ. මේ සංඝයා වහන්සේලාට ජීවත්වීම සඳහා සිවුපසය අත්‍යවශ්‍යයි. ජීවත්වීමට යම්කිසි ප්‍රත්‍යයක් අවශ්‍යයි. චීවර පිණ්ඩපාත සේනාසන ගිලානපච්චය කියන මේ, අඳින්න දෙයක්, ආහාරයක්, ඊළඟට වසන්න තැනක්, ආවාසයක්. බෙහෙත් හේත් ආදිය. ඔක සිවුපසයයි. නමුත් මේ ප්‍රත්‍යය මේ සංඝයා වහන්සේලා ගන්නේ ණයක් හැටියටයි. දැන් අපි දන්නවා මේ ණය - ණයක් අරගත්තු කෙනෙක්, ඒක අපි හිතමු යම්කිසි ව්‍යාපාරයක් සඳහා හෝ ගොවිතැන් සඳහා හෝ ණයකරයක් ගත්තා. ඒ ණය ආයි ගෙවන්න කිසිසේත් අදහසක් නැතිව ඒක කාබාසිනියා කරනවා නම්, එයා ඇත්ත වශයෙන්ම ණය කාරයෙක් නොවෙයි, හොරෙක්. ඒ වෙනුවට යම්කිසි කෙනෙක් ඒක හරියාකාර, නිසියාකාර, ඒ අර්ථය සිද්ධකර ගැනීම සඳහා ව්‍යාපාරයේ හෝ ගොවිතැනේ හෝ යොදමින්, අවස්ථානුකූලව පොලී ගෙවනවා නම්, අන්න ඒ තැනැත්තා නියම ණය කාරයෙක්. ණය කාරයෙකුට අයිති යුතුකම් ඉෂ්ටකරන කෙනෙක්. අන්න ඒ වගේ බුදුපියාණන්වහන්සෙ මේ ඉණ පරිභෝගය කියල කියන, 'ණයට අරගෙන පරිභෝග කිරීම' කියන එක තෝරල තියෙන්නෙ කොහොමද? යම්කිසි භික්ෂුවක් අර සිවුපසය එක එකක්ම, චීවර පිණ්ඩපාත සේනාසන ගිලානපච්චය කියන ඒ එක එක ප්‍රත්‍යයක්ම, ප්‍රත්‍යවේක්ෂා කරල, නුවණින් සළකල බලල, පරිභෝග කරනවා නම්, ඒක හරියට ණය කාරයෙක් හැටියට පරිභෝග කිරීම වගේ. මේ ප්‍රත්‍යවේක්ෂාව කියන එකේ දෙපැත්තක් තියෙනවා. දැන් අපි හිතමු, ඒකට නිදසුනක් ගත්තොත්, පිණ්ඩපාතය - ආහාරය. ආහාරය සාමාන්‍යයෙන් ගිහි පින්වතුන් පාවිච්චි කරන්නෙ කුසගින්න නිවාගැනීමට පමණක් නොවෙයි. රස තෘෂ්ණාව, තව, ඇඟපත හොඳට වඩවා ගැනීම, රූප සම්පන්න කර ගැනීම. ඔය විදියෙ පරමාර්ථ අනුවයි. ඒ විදියෙ එකක් සංඝයාවහන්සේලාට සුදුසු නැති නිසා බුදුපියාණන් වහන්සෙ ප්‍රකාශ කරල තියෙනවා මේ ගන්න ආහාරයෙ - පිණ්ඩපාතයෙ, - නියම පරමාර්ථය හිතන්නෙයි කියල. "මේ කය පවත්වාගෙන මේ සංසාරයෙන් එතරවීම සඳහා, මේ උතුම් ජීවිතය, බ්‍රහ්මචර්යාව ගෙනයාම සඳහායි මම මේ ආහාරය ගන්නෙ" කියල, ආහාරයෙ - පිණ්ඩපාතයෙ - නියම අර්ථය නුවණින් සළකල බැලීම එක පැත්තක්. ඒ වගේම, එපමණක් නොවෙයි. ඒ පිණ්ඩපාතය වැළඳීමත් එක්තරා භාවනාවක් කරගන්නව. කොහොමද? මේ පිණ්ඩපාතය කියල මා ගන්න ආහාරය, පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන ධාතුවලින් සකස්වුනු

එකක්. මගේ ශරීරයත් ඒ වගේම ධාතුවලින් සකස්වුනු ශරීරයක්. මේ පිණ්ඩපාතය පිරිසිදුව තිබුනට මොකද මේ පිළිකුල් සහගත ශරීරයට ඇතුල්වෙලා මේක පිළිකුල් බවට පත්වෙනවා. එයින් කෙරෙන්නෙ මොකක්ද, ධාතු මනසිකාර, අශුභ මනසිකාර. කියල කියන භාවනා දෙකක් ඒකෙන් කෙරෙනවා. අන්න ඒකයි. දැන් අපි අර කලින් කිව්ව නේ, අර ණයකරයක් ගත්තහම ණය ගැනීමේ පරමාර්ථය සිහිපත් කිරීමත් - ඒ කටයුතු කිරීමත් - ඊළඟට අවසථානුකූලව පොලී ගෙවීමත් තියම ණයකාරයකුගේ යුතුකම්ය කියල. දැන් මෙතනත් කෙරෙන්නෙ ඒකයි. අර සිවුපසය එක එකක්ම - දැන් ආහාරය නම් - "මේක මම ගන්නෙ ණයට. මොකටද ගන්නෙ? මේ සංසාර කාන්තාරයෙන් එතෙරවීම සඳහා මේ ශරීරය පවත්වාගැනීම සඳහායි", කියල අන්න පරමාර්ථය සැළකුවා. ඊළඟට ඒකට පොලී ගෙවීම මොකක්ද? අන්න භාවනාවට හැරෙව්වා. මේ පිණ්ඩපාතයත් මේ මගේ ශරීරයත් ධාතු හතරෙන් පඨවි, ආපෝ, තෙජෝ, වායෝ කියන ධාතු හතරෙන් නිර්මාණය වෙච්ච දේවල්. එකනිසාම, අනාත්ම ධර්මයක් ඒක තුළ තියෙනවා. අනිත්‍ය දුඃඛ, අනාත්ම. ඊළඟට එපමණක් නොවෙයි, අශුභ පැත්තට හරවනවා. මගේ ශරීරයට, මේ කුණු ශරීරයට, එකතුවෙලා මේ පිරිසිදු ආහාරය කිලිටි බවට පත්වෙනවා. ඔන්න එයින් පොලී ගෙවීමක් කෙරෙනවා. ඇයි? නිවන කරා යන ගමනක්නෙ. නිවන කරා යන ගමනට භාවනාව අත්‍යවශ්‍යයි. එතකොට සිවුපස පරිභෝගය තුළින් භාවනාවත් කෙරෙනවා. ඒක තමයි පොලී ගෙවීම. මේ විදියට අපි වඩාත් විස්තරකළේ මොකද, ඇතැම් කෙනෙක් මේක තෝරන්නෙ වෙන විදියකටයි. සංඝයා වහන්සේලා සිවුපසය ප්‍රත්‍යවේක්‍ෂා කරල වැළඳීම පමණකින්ම ණයෙන් නිදහස් වෙනවා කියලත් ඇතැම් කෙනෙක් තෝරනවා. ඒක නිවැරදියි කියල කියන්න බෑ. ඒකෙ අඩුපාඩුවක් තියෙනවා. සිවුපසය ප්‍රත්‍යවේක්‍ෂා කරල වැළඳීම් පමණකින් භික්‍ෂුවක් ණයෙන් නිදහස් වෙන්නෙ නෑ. තව ඇතට වැඩ තියෙනවා. ඊළඟට අනිත් කාරණා ප්‍රකාශ කරනකොට ඒක පැහැදිලි වේවි.

ඒ දෙවෙනි කාරණය අපි කිව්වෙ - ඉණ පරිභෝගය. ඊළඟට තුන්වෙනි කාරණය මොකක්ද? දායජ්ජ පරිභෝගය. දායාදයක් හැටියට සළකල පාවිච්චි කිරීම. ඒක තෝරන්නෙ මෙහෙමයි. අපි හිතමු සෝවාන් තත්වයට භික්‍ෂුවක් පත්උනාය කියල. ඒ භික්‍ෂුව එදා ඒ පත්වුන අවසථාවෙ ඉඳල තියම බුද්ධ පුත්‍රයෙක්. ඊළඟට සෝවාන් සකදාගාමී අනාගාමී කියන තත්ව තුනේ සිටින්නෙ බුද්ධ පුත්‍රයින්. නමුත් තාම වැඩ ඉවර කරල නෑ. එබඳු අයට කියන්නෙ 'සෙඛ' කියල. මේ ශාසනයෙ තියම ආකාරයෙන් හික්මෙන අය. වැඩ ඉවර කරල නෑ. අන්න එබඳු අය මේ සිවුපසය පරිභෝග කරන්නෙ හරියට අර මවුපියන්ගේ දෙයක් දරුවන් පාවිච්චි කරනවා වගේ, දායාදයක් හැටියට සළකල. දැන්

මේ කුඩා දරුවන් මවුපියන් ගෙදර නැත්නම් බය නැතිව මවුපියන්ට අයිති දේවල් පාවිච්චි කරනවා. තමන්ගෙ දෙයක් නොවන නමුත් මවුපියන්ට අයිති නිසා. අන්න ඒ වගේ, ඒ සෝවාන් සකදාගාමී අනාගාමී කියන මුල් මාර්ගඵල ප්‍රත්‍යක්ෂ කරගත්තු සංඝයා වහන්සේලාගේ සිවුපසය පරිභෝගය උපමා කරන්නෙ අර දරුවන් මවුපියන්ගේ දෙයක් පරිභෝග කිරීමට, පාවිච්චි කිරීමට, දායජ්ජ පරිභෝගය. ඒ තුන්වෙනි කාරණය.

අවසානයේ තියෙන්නෙ සාමි පරිභෝගය. නියම වශයෙන්ම, හැම අර්ථයෙන්ම, සිවුපසයට අයිතිකාරයින් හැටියට පාවිච්චි කිරීම. ඒක කෙරෙන්නෙ රහත්උනාට පස්සෙයි. රහත්වුනු අවසථාවේදි - රහත්වුනු පුද්ගලයා හඳුන්වන්නෙ ණයනැති කෙනෙක් හැටියට. ඒක නිසා තමයි - දැන් මහාකාශ්‍යප මහරහතන් වහන්සෙ ගැනයි අපි කථා කළේ. මහාකාශ්‍යප මහරහතන් වහන්සෙ රහත්වුනෙ පැවිදිවෙල හත්දිනෙන්. උන්වහන්සෙ මේ කාරණය ප්‍රකාශ කරනවා එක් අවස්ථාවක: 'මම හයදවසක් පමණක් ණයට පිණ්ඩපාතෙ වැළඳුවා, හත්වෙනි දවසෙ ණය නැතිව වැළඳුවා'. එයින් අදහස් කළේ මොකක්ද? හය දවසක් යනතුරු මම රහත්උනෙ නෑ. හත්වෙනි දවසෙ රහත්වුනාය කියන එක. එයින් පෙනෙන්නෙ රහතන් වහන්සෙ ණය නැතිව පිණ්ඩපාතෙ වළඳනවා කියන එකයි. අමුතුවෙන් ණයක් ගෙවන්න දෙයක් නෑ. ඉතිරි හරිය කරන්නෙ - ලෝකයාට යම් විශේෂ අනුග්‍රහයක් කරනවා නම් ඒක කරන්නෙ - ලෝකානුකම්පාවෙන්. ලෝකයා කෙරෙහි අනුකම්පාවෙන්. ඒ නිසා තමයි බුදු පියාණන් වහන්සේ අර පළමු හැට නම රහත් වෙනකං හිටියෙ, ඒ ඒ දිසාවල යවන්න, බහුජන හිත බහුජන සුව සඳහා. ඊට කලින් නොවේ. රහත්වුනාට පස්සෙ බුදුපියාණන්වහන්සේ 'ගිහිල්ල ණය ගෙවන්න' කියන එක නොවෙයි වදාළේ - 'ණය නැතිව හැසිරෙන්න' කියල. ගිහිල්ල බණදෙසල ණය ගෙවන්නෙයි කියන අදහසින් නොවෙයි අර හැට නමක් යැව්වේ. ඇතැම් කෙනෙක් වැරදි විදියට තේරුන නිසා අපි මේ විශේෂයෙන්ම අවධාරණය කරන්නෙ. අර හැට නමට - 'බහුජන හිතාය. බහුජන සුඛාය' - බොහෝ දෙනාගේ හිතසුව පිණිස හැසිරෙන්න කිව්වෙ, බුදුපියාණන්වහන්සෙ වදාළෙ, ගිහිල්ල ණය ගෙවන්නෙයි කියන එක නෙවෙයි. ඒක ලෝකානුකම්පාවෙන් කරන දෙයක්, ඒ ඉතිරි ජීවිත කාලයේ රහතන් වහන්සේලා. නමුත් එතන කියවෙනවා : 'අණන විචර ලොකෙ' - 'ණය නැතිව ලෝකයේ හැසිරෙන්න' කියලා. එතන ඉඳල ණය නැතිවයි හැසිරෙන්නෙ. ඔන්න ඔය විදියෙ තත්වයකින් ණය නැතිවීම තමයි, හරියට ණයකාරයෙන් නිදහස්වීම. එතන ඉඳල තමයි සාමි පරිභෝගය තියෙන්නෙ. සිවු පසයට නියම අයිතිකාරයින් හැටියට ඒවා පරිභෝග කරනවා. ණය ගෙවන්නෙ කොහොමද කියන එකයි මෙයින් පෙන්නුම් කරන්නෙ. ඊළඟට, ඒ වගේම, දැන් අපි දන්නව ඒ ණය ගෙවීම තුළ ඒ ගුණ

සම්පත්තිය දියුණුවීම නිසා අර්හත්වය හඳුන්වන්නෙ ණයනැති තත්වය හැටියටයි. ණය නැති තත්වයක් හැටියටයි. බුදු පියාණන්වහන්සෙත් රහතන් වහන්සේලාත් පසේ බුදුරජාණන් වහන්සේලා එහෙමත්, ණය නැතිව සිවුපසය පරිභෝග කරනවා. මේ ගනුදෙනුව තුළ තිබෙන ලෝකෝත්තර අගය නිසා තමයි දැන් මේ පින්වතුන්ට නිතර අසන්නට ලැබෙනවා ඇති - මය දාන පිංකම් ආදියෙදි - කාරණා තුනක් සම්පූර්ණ වෙන්න ඕනෑය ගිහි පින්වතුන් පිරිණමන දානයක් මහත්ඵල මහානිසංස වෙන්න කියල. මොනවද ඒ කාරණා තුන.

1. දායක සම්පත්තිය
2. දෙය්‍ය ධර්ම සම්පත්තිය
3. ප්‍රතිග්‍රාහක සම්පත්තිය.

දායක සම්පත්තිය කියල කියන්නෙ දායකයාට තියෙන සම්පත්තිය නොවෙයි. නියම දායකයෙකුට තිබිය යුතු ගුණ සම්පත්තියයි. ගුණාංග සමූහයෙන් සම්පූර්ණ වීමයි. ශ්‍රද්ධාව, පරිත්‍යාග චේතනාව, ශීලය ආදි ඒ කාරණාවලින් සම්පූර්ණ නම් එයා නියම දායකයෙක්. අන්න දායක සම්පත්තිය.

දෙය්‍ය ධර්ම සම්පත්තිය කියල කියන්නෙ දෙන දේ පිළිබඳව ධාර්මිකත්වය. ධාර්මිකව උපයා සපයාගත්තු දේ. හොර මැරකම් වලින් ලබාගත්තු දෙයක් නොවෙයි. ඒක ඒ වගේම ප්‍රණීතව හොඳින් සකස්කරල - පිළිකරන දෙයක් හැටියට නොවෙයි. ඒ විදියට දෙන දෙයක්. ඒක දෙය්‍ය ධර්ම සම්පත්තිය.

ප්‍රතිග්‍රාහක සම්පත්තිය කියල කියන්නේ පිළිගැනීම් පක්ෂය පිළිබඳව, ඒ තියන කාරණය. එතකොට ප්‍රතිග්‍රාහක සම්පත්තිය ගැන සළකල බලනකොට ඉහළම අර්ථයෙන් දානය ලැබීමට සුදුසු, බුදු, පසේබුදු, මහරහතන් වහන්සේලායි, රහතන් වහන්සේලායි. එහෙම නැත්නම් ඊළඟට අර එතන ඉඳල ගුණ සම්පත්තිය අනුව යන අයයි. ඒකයි ප්‍රතිග්‍රාහක සම්පත්තිය. ඒ අනුවයි මහත්ඵල මහානිසංස වන්නේ. මේ කාරණයම ගාථාවක දක්වලා තිබෙනවා. බොහෝවිට උපමාවලින් දක්වල තිබෙනවා ගොවිතැනක් පිළිබඳව.

"ඛෙත්තූපමා අරහන්තො
දායකා කස්සකූපමා
බීජූපමං දෙය්‍ය ධම්මං
එත්තො නිබ්බත්තතෙ ඵලං"

රහතන් වහන්සේලා කෙත් වගෙයි. සරු කෙත් වගෙයි. 'දායකා කස්සක උපමා'. අර සියලු අර දායක ගුණාංගවලින් යුක්ත දායකයෝ නියම දක්ෂ ගොවියන් වගෙයි. 'බීජූපමං දෙය්‍ය ධම්මං' - දෙන දානවස්තුව හොඳ බිත්තර වීය වගෙයි. 'එත්තො නිබ්බත්තතෙ ඵලං' - මෙයින් තමයි නියම ඵලය උපදින්නෙ, මහත්ඵල මහානිසංස වන්නේ. මහා පුණ්‍යස්කන්ධයක් ගලාගෙන එන්නෙ මේ විදියටයි කියල එහෙම තෝරල තියෙනවා.

ඒ අනුව එතකොට අපට තේරෙනවා බුදු පියාණන් වහන්සේ අර නියම, නිසියාකාර, ධර්මානුකූල, ගිහි පැවිදි සම්බන්ධතාව මේ කතාන්තරය තුළිනුත්, ගාථාව තුළිනුත් අපට දක්වා වදාරල තියෙනවා, අනාගත පරම්පරාව සඳහා, අනාගත ශාසනයේ ප්‍රගතිය සඳහා. ඊළඟට ඊට අමතරව අපි තව ටිකක් කල්පනා කරල බලමු. දැන් මෙතන මේ කථාව අපි ආරම්භ කරගෙන කියාගෙන යනකොට ඇතැම් කෙනෙකුට හිතෙන්න ඇති මේක ඇත්ත දෙයක්ද කියල. ඇත්ත සිද්ධියක්ද කියල. මෙතන තියෙනව මහ ගැඹුරු කාරණයක්. බුදු පියාණන් වහන්සේගෙ මහා ප්‍රඥාවත් මහා කරුණාවත් පිළිබඳව, බුද්ධචරිතය කියවන ඕනෑම කෙනෙකුට විස්මය ඇතිවෙනවා. පුදුමය ඇතිවෙනවා. බුදු පියාණන් වහන්සෙ අතීත අනාගත වර්තමාන කියන තුන් කාලය පිළිබඳ හරි අවබෝධයක් ඇතිව, හරියට, එක අහසින් බලනව නම්. නාට්‍යයක් සිද්ධවෙනවා වගේ බලාගෙන ඉන්නවා. ලෝකයේ මිනිසුන්ගේ සිත් පෙනෙනවා. මිනිසුන් කරන කියන දේ. ඒ අතීතයේ හැසියාවන් සියල්ල පෙනෙනවා. ඒක නිසා තමයි බුදු පියාණන්වහන්සේ අර විදියට වදාළේ. "මහණෙනි කැවුම් වළඳන්න කැමතිද" ඊළඟට "අපි කැවුම් වළඳලාම යමු". මේ මොකක්ද මේ බුදු පියාණන්වහන්සෙ කළේ. බුදු පියාණන්වහන්සේ පෙරුම්පිරූ සාරාසංඛ්‍යකල්ප ලක්ෂයක් තුළ නොවැළඳූ කැවුමක් නැහැ. නොකෑ කැවුමක් නැහැ. අමුතු දෙයක් නෙවෙයි කැවුම. සංඝයා වහන්සේලාට කැවුම් වළඳවන්න වෙනම ආසාවකුත් නැහැ. නමුත් මෙතන තියෙන්නෙ මහ ගැඹුරු කාරණයක්. බුදු පියාණන් වහන්සෙ අවස්ථාව සලසාගන්න, අර පන්සියයක් දරු පිරිසට - ඒ දරුවන්ගේ උපනිශ්‍රය සම්පත්තිය දැකල, ඒ දරුවන්ගේ ශ්‍රද්ධාව මතුවෙන අවස්ථාව දැකල, ඒ ශ්‍රද්ධාව අනුව ක්‍රියා කිරීමෙන් මාර්ගඵල ප්‍රතිවේධය කරගන්න පුළුවන් බව දැකල - ඒකට අවස්ථාව සලසා ගන්නයි බුදු පියාණන්වහන්සේ අර "අපි කැවුම් වළඳලාම වඩිමු" යි කියල ප්‍රකාශ කළේ. එතන තියෙනවා - අපි කල්පනා කරන්ට ඕන, අර මහා කාරුණ්‍යාවෙ තියෙන උපාය කෞශල්‍යය. මහ පුදුමයි. ඒ එක්කම බුදු පියාණන්වහන්සේගේ ඒ උතුම් ගුණයක්, අපිට, ලෝකයාට. ආදර්ශයට ගතහැකි දෙයක් තමයි තමන්ගෙ ශ්‍රාවකයෙකුගෙ උතත් උතුම් ගුණයක් වර්ණනා කිරීම. දැන් වෙන කෙනෙකුගෙ නම් 'මට නොදුන්න කැවුමක් අර ගොල්ලන්ට දෙනවා' කියල මූණ තරක්

වෙනවා. මූණක් කැවුමක් වගේ වෙනවා, ඇතැම්විට. එබඳු දේවල් සමාජයේ කොයොකුත් වෙනවා, 'මා වැනි ගුණ සම්පත්තියෙන් යුක්ත කෙනෙකුට නොදුන්න කැවුමක් මේ මගේ ගෝලයෙකුට දුන්නා' කියල. ඒ වෙනුවට බුදු පියාණන් වහන්සෙ කළේ මොකක්ද "මහණෙනි තුඹලාටත් මටත් කැවුම් නොදුන්නාට අර දරුවො - කැවුමෙ නියම අයිතිකාරයා ඔන්න පිටිපස්සෙන් එනවා. අපිත් එතකං ඉඳිමු" කියල. එතනින් ලෝකයාට, විශාල ආදර්ශයක් බුදුපියාණන්වහන්සේ දෙනවා. ඒ වගේම ඒ අවස්ථාව සළසාගන්න මහා කාශ්‍යප මහරහතන් වහන්සේගේ උතුම් ගුණ සම්පත්තිය ප්‍රකාශ කරන්ට අර විදියෙ ගාථාවකින්. ඒ වගේම, ඒ තුළ තිබෙනවා ශාසනයට පණිවිඩයක්; ශාසන පණිවිඩයක් තිබෙනවා. නියමාකාරයෙන්ම ගිහි පැවිදි සම්බන්ධතාව කොයි විදියට පැවැත්විය යුතුද කියන එක.

ඉතින් මේ විදියෙ කාරණා රාශියක් අපට මේ කථාන්තරය තුළිනුත් ගාථාව තුළිනුත් හෙළාගන්න පුළුවන්. මේ අවුරුදු කැවුම් බණ තුළ - අපි අර කලින් සඳහන් කළ ආකාරයට- තියෙනව ගුණ සුවඳත්, ධර්ම රසයත්. මේ පින්වතුන්ට හිතන්න හිතන්න මේවයි රසය උරාගන්න පුළුවන්. මේ ඒකට හොඳ අවස්ථාවක්.

ඒ වගේම මේ පින්වතුන් දැන් මේ අලුත් අවුරුදු උත්සවයට සූදානම් වෙනවා. ඒක තුළ ඇති ධර්මතාවත් අපි හිතල බලමු. මොකක්ද මේ අවුරුදු උත්සවය කියල කියන්නෙ? කාල චක්‍රය කරකැවීගෙන කරකැවීගෙන යනවා. මේක කොහෙනකවත් නවතින්නෙ නෑ. නවත්ත ගන්නත් බෑ. කාලචක්‍රය හරියට අර දැති රෝදයක් වගේ. ඒකට අහුවෙල අපේ ජීවන චක්‍රයත් ගෙවිල ගෙවිල යනවා, දන්නෙම නැතිව - අපේ වයස ගෙවිල යනවා. ඉතින් මේක නවත්ත ගන්න බෑ. අපි ඉස්සරහට තල්ලු වෙනවා මිසක්, නැවතිලා කල්පනා කරන්න වේලාවක් නෑ. අන්න ඒක නිසා තමයි මේ යම්කිසි චාරිත්‍රයක් ඇතිවෙල තියෙන්නෙ. අවුරුදු චාරිත්‍රවල සමහර ගැඹුරු අර්ථ බොහෝදෙනා තේරුම් ගන්නෙ නෑ. මේක විනෝදවෙන අවස්ථාවක් හැටියට පමණක් සළකනවා. දැන් මේ අවුරුද්ද පිළිබඳව මේ පින්වතුන් දන්නවා 'නොනැකත' කියල එකක් තිබෙනවා. නොනැකත. නොනැකත කියල කියන්නෙ නැකත නොවන අවස්ථාවක්. මේ ලෝකයා තුළ තිබෙනවා හැඟීමක් හැම එකක්ම - ලෞකික දේවල් හැම එකක්ම -- නැකතට කරන්න ඕනෑය කියල. එතකොට එහෙම ඒ විදියට ලෞකික දේවල් කරන්න නැකතක් නැත්නම් ඒක නොනැකත. ඉතින් සමහර කෙනෙක් හිතනවා 'ඉතින් නොනැකතත් නිකං ගෙවන්න බෑ නෙ. ඒක නිසා පින්වත් කරමු' කියල. ඒක වැරදි අදහසක්. මේ නොනැකත කියන එක හඳුන්වලා තිබෙනවා පුණ්‍ය කාලය කියල. අපි ගැඹුරින් සළකල

බැලුවොත් ඒක ඇත්ත වශයෙන්ම 'පුණ්‍ය කාලය' තමයි. පුණ්‍ය කාලය වෙන්නෙ කොහොමද? අර කියාපු අර නොනැකත අවස්ථාව අපේ ජීවිතයෙ විරාමයක් කරගන්න ඕන. අපේ කටයුතු මධ්‍යයෙ ලබාගත්ත පොඩි විවේකයක්, විරාමයක්, හැටියට සළකන්න ඕන. පරණ අවුරුද්ද කියල එකක් තිබෙනවා. අලුත් අවුරුද්ද කියලත් එකක් තිබෙනවා. ඔය දෙකට මැදින් නොනැකතක් තිබෙනවා. මේක පුණ්‍යකාලයක් කරගන්න ඕන අපි. කාල බීලා විනෝදවෙලා නොවෙයි. නැවතිල්ලෙ සංසුන්ව කල්පනා කරන්ට ඕන. "පසුගිය අවුරුද්දෙ මගෙන් වුනු - කයෙන් සිතෙන් වචනයෙන් වුනු - වැරදි මොනවාද? අසල්වාසීන්ට, නෑ හිතවතුන්ට, කුඩුරුවන්ට, තවත් නොයෙකුත් දේවල්, මගේ අඩුපාඩු. "ගුණධර්ම අතින් මගේ මොනවද අඩුපාඩු? සීලය පිළිබඳව මොනවාද අඩුපාඩු" ඒවා සළකල බලනවා. දැන් මේ පින්වතුන් දන්නවා, ඔය ගෙදරවල්වල අවුරුද්ද - අවුරුදු උත්සවය - එනකොට ගෙවල් දොරවල් හොඳට පිරිසිදු කරල මලකඩ ඉවත්කරල පිරිසිදු කරල වෙන එකක් තබා අලුත් අවුරුද්දට අලුත් ලිපකුත් බැඳලයි ආරම්භ කරන්නෙ. මේ අලුත්වීම - මේක සිත අලුත්වීමක් කරගන්න ඕන. සිත අලුත්කර ගැනීමේ අවස්ථාවක් - සිතේ තිබෙන කුණු කන්දල්, මලකඩ, හෝදල ඇරල අනාගතය දිහා බලල ධර්මානුකූලව, තමන්ගෙ ජීවිතය මේ භයානක සංසාරයෙ නිවනට නැඹුරුව අපායට නොයන ආකාරයට සිතුම් පැතුම් ක්‍රියාපටිපාටිය සකස්කර ගැනීමේ හොඳ පුණ්‍යකාලයක් කරගන්ට ඕන නොනැකත කියන එක - අර අවස්ථාව. විරාමය.

එබඳු අවස්ථාවකට ඔන්න හොඳ සිතුම් පැතුම් කීපයක් තමයි අපි මේ ධර්ම දේශනාවෙන් ඉදිරිපත් කළේ. ඒ අනුව කෙනෙකුට හිතාගන්න පුළුවන්. මෙන්න මේ ගුණ සම්පත්තිය තේරුම් අරගෙන, ශාසනික වටිනාකම් පරමාර්ථ භාරියාකාරව තේරුම් අරගෙන, අපි ගිහි පැවිදි සම්බන්ධතාව කොහොමද පැවැත්විය යුත්තෙ, ඊළඟට මේ ශාසනයෙ වටිනාකම් මොනවද, 'ගනුදෙනුව' හැටියට ශාසනයෙ කල්පනා කරන්නෙ මොනවද, බුදු පියාණන් වහන්සෙ දක්වල තියෙන්නෙ මොනවද, ඒ විදියට අපේ ජීවිතත් සකස් කරගන්න ඕන කියල කල්පනා කරන්න හොඳ අවස්ථාවක් මේ නොනැකත, පුණ්‍යකාලය. ඉතින් මේ අපේ ජීවිතය කියන එක - අර කාලචක්‍රය නම් කොතෙකුත් කරකැවිල යනවා. ඒකෙ මුලක් නෑ. අගක් නෑ. ඒකට අනුවෙන - මේ දැකිරෝදෙට අනුවෙලා ගෙවෙන - අපේ මේ ජීවන චක්‍රය එච්චර ලොකු දෙයක් නෙවෙයි. මේක මේ වෙලාවෙම නැතිවෙන්නත් පුළුවන් දෙයක්. සාමාන්‍යයෙන් කෙනෙකුගෙ පරමායුෂ කියන එක දැන් කාටවත් කියන්නවත් බැරිතරම්. අවුරුදු සීයෙයි කියල අපි කිව්වට මොකද ඊට හුඟක් මෙහා දැන්. ඊට අමතරව, තව නොයෙකුත් ආපදා උපද්‍රව නිසා බාහිර අභ්‍යන්තර උපද්‍රව නිසා, අපේ ජීවිතය කොයි වෙලාවෙ යනවද, නැතිවෙනවද, කියන්න බෑ. මේ

කථාකර කර ඉන්න අතරෙත් සමහරවිට හදවත නතර උනොත් එතන ඉවරයි ජීවිතයක්. අන්න එබඳු ඒ භයානක තත්වයක් තිබෙනවා. ඒක එහෙමයි ජීවිතයෙ කෙටිබව. ඊළඟට සංසාරයෙ දිග බව හිතන්න ඕන. කොයිතරම් දීර්ඝ කාලයක් ඉපදි ඉපදි, මැරි මැරි, මේ සංසාරයෙ දුක් විඳිනවද කියල. මෙන්න මේ දෙක අතරෙයි අපේ මේ නියම තත්වය තිබෙන්නෙ. අපි මේක කල්පනා කරල, ඊළඟට මේකෙන් මිදෙන්ට බුදු පියාණන්වහන්සෙ ප්‍රකාශ කරල තිබෙන්නෙ මොකක්ද? ශීල, සමාධි ප්‍රඥා, එහෙම නැත්නම් දාන, ශීල, භාවනා වශයෙන් බුදු පියාණන්වහන්සෙ දක්වන ඒ ගුණ සමුදාය. ඒක තුළ කරුණු රාශියක් තිබෙනවා. ඒ හැම එකක් ගැනම අපි කල්පනා කරල, මෙන්න මේ නොනැසන අවස්ථාව, පුණ්‍යකාලය, මේක නිසි ආකාරයට ප්‍රයෝජනයට ගන්නවා කියල කියන්නෙ - දැන් ඔය දන්නවානේ මේ පින්වතුන්, වෙළඳ ශාලාවක් නම්, ඔය මේ කාලේ තිබෙන සාප්පු ආදියෙ, කඩ සාප්පුවල, අවුරුද්දක් අන්තිමට 'සේල්' කියල නොයෙකුත් විදියට පරණ බඩු ඉවත් කරගෙන කොහොමහරි අඩුමිලට හරි විකුණල ඒවා ඉවත් කරල අලුත් දේවල් ගේනවා. ඒ වගේ අපිත් කරන්න තියෙන්නෙ අර කුණු කන්දල් ටික, මේව කොහොම හරි ගන්න කෙනෙක් ඉන්නව නම් ඒව දීල හරි - හිත අලුත්කරගන්නට ඕන. ඒකයි අලුත් අවුරුද්ද කියල කියන්නෙ. අලුත් අවුරුද්ද කියන්නෙ ඇඳුමෙන්වත්, ගෙවල් දොරවල් පිරිසිදු කිරීමෙන්වත්, සායම් වලින්වත් අලුත් වීමක් නොවෙයි. නියමාකාර අලුත් අවුරුද්ද නම් ඒක ගුණ සම්පත්තියෙන් වැඩෙන අලුත් අවුරුද්දක් වෙන්න ඕන. උත්සවයක් කියල කියන්නෙ අන්න ඒකයි - ඇතුළතින්.

දැන් ඒ අසින් හිතල බලනකොට මේ කථාවෙ තිබෙන අර කුඩා දරුවන්ගෙ ආදර්ශයක් අපි හිතල බලන්න ඕන. මේ කාලෙ විශේෂයෙන්ම ගිහි පින්වතුන්ට හොඳ ආදර්ශයක් දෙනවා අර කුඩා දරුවො. මොකද, ඒ උයනට එදා ඒ දරුවන් ගියේ කැවුම්මලු ඔසවාගෙන සංඝයා වහන්සේලාට මේක පූජාකරන අදහසින් නොවෙයි. සිහිල්ල හොඳට කාල බීල විනෝද වෙන්න. නමුත් ඒක පරිත්‍යාග කළා. ඒ අදහස පරිත්‍යාග කළා. ඒ ඉස්තරම් රසවත් ආහාරය කැවුම්. ඒව ඔක්කොම පරිත්‍යාග කළා, බුද්ධ ප්‍රමුඛ සංඝයා වහන්සේලාට. ඒ කැවුම්වල රසයට වැඩිය උතුම් ලොව්තුරු රසයක් එයින් ඒ දරුවන්ට ලැබුණා, ඒ අවස්ථාවෙම සෝවාන් ඵලය ලබාගැනීමෙන්. අන්න ඒ විදියට අපි කල්පනා කරන්ට ඕන, මේ ලෝකයේ වටිනාකම්වලට වඩා උතුම් වටිනාකම් සමූහයක් අපිට බුදුපියාණන්වහන්සෙ හඳුන්වල දීල තිබෙනවා. බුද්ධ ශාසනය කියල කියන්නෙ ඒ වටිනාකම් අනුව ජීවත්වීමයි. අපේ ජීවිතය හැඩගස්වා ගැනීමයි. ඉතින් මෙන්න මේ දරුවන් දුන්නු ආදර්ශය අනුව අපි කල්පනා කළොත්, මේ අවුරුද්ද කියන එක අපි කාල බීල විනෝද වෙල - ඒවයි යම්කිසි විනෝද මට්ටමක් සමහරවිට අවශ්‍ය වෙන්න පුලුවන් - නමුත් තමන්ගෙ අනාගතය

පිරිහෙන විදියට, ජීවිතය අනාථ වෙන විදියට, ඒ අලුත් අවුරුදු විනෝදය යොදා ගත්තොත් ඒකට ණය ගෙවන්ට වෙනවා. ඒකට දුක්වෙන්ට වෙනවා දීර්ඝ කාලයක් සංසාරයේ. අන්න ඒක නිසා උත්සවයක් කියන එක ඇත්ත වශයෙන්ම තමන්ගෙ සිත සතුටුවෙන්ට නම්, සිතේ සැනසීමයි. ඇත්ත වශයෙන් ලෝකයේ තිබෙන ඉහළම සැපත තමයි සැනසීම - ඒක කවුරුත් පිළිගන්නවා ඇති. අන්න ඒ සැනසීමට මාර්ගයයි බුදු පියාණන්වහන්සේ ඒ නිර්වාණ ශාන්තිය නමින් හඳුන්වල දීල තිබෙන්නෙ. ඒකයි - ඒ පරතෙරයි. ඊට මෑත තිබෙන ඒ ශාන්තිය - එදිනෙදා ජීවිතයෙ - ළඟාකර ගැනීමට තමන්ගෙ ජීවන රටාව පිළිබඳව, කාල සටහන පිළිබඳව, දින චරියාව පිළිබඳව, යම්කිසි සංශෝධනයක් අවශ්‍ය වෙන්ට පුළුවන්. හැම පින්වතෙක්ම ඒ විදියට කල්පනා කරනව නම් ඊළඟට එන නොනැකත අවස්ථාව නියම නැකතක් වෙනවා. ඇත්ත වශයෙන් අපි කල්පනා කරන්ට ඕන-දැන් සමහර කෙනෙක් හිතන්ට පුළුවන් නොනැකත වෙලාවෙ මොකක් හරි කළොත් ඒකට අපල වෙනවා කියල. නමුත් පින්වතුනි "මිනිස් බව ලත් තැනේ කුසලක් නොකර උන්නොත් අපල වන්නේ". අපල වන්නේ අර මිනිස් බව ලබාගෙන කුශලයක් නොකර හිටියොත්. නිෂ්ඵල වෙනවා කියන එකයි. අපල කියන්නේ. ඉතින් මේ නියම නැකත තමයි මේ බුද්ධෝත්පාද කාලය. මේ තරම් මේ නියම නැකත ලැබිල තිබෙනවා නම්, මේ නැකැත් අවස්ථාවෙන් ප්‍රයෝජනය ගන්ට ඕන. අපට ඒක එදිනෙදා හැමදාම කරන්න බැරි නිසා වෙන්ට ඕන මේ විදියට මේ අවුරුද්දක් ගෙවෙන තැන නොනැකත කියල එකක් හදාගෙන, පුණ්‍යකාලය කියල හදාගෙන, පොඩි විරාමයක් ඇතිකරගෙන නුවණැත්තන් ඒකෙන් ප්‍රයෝජනය ගත්තෙ. නමුත් නුවණ නැත්තන් ඒ වෙනුවට කළේ මොකක්ද, අර නොනැකත කවත් නොයෙකුත් අනවශ්‍ය දේවල් එකතු කරගෙන මේක තමන්ගේ පරිහානියට හේතු වන අන්දමට විනෝද මාර්ගවලට පමණක් යොමු කරගත්තා. ඒක නිසා අපි ධර්මානුකූලව කල්පනා කරන්ට ඕන, මේ පුණ්‍යකාලය ඇත්ත වශයෙන්ම පුණ්‍යකාලයක් කරගෙන, තමන්ගේ හිත් පිරිසිදු කරගෙන අලුත් අවුරුද්දෙදි, වඩාත් හොඳින් ඊළඟ අවුරුද්ද ධර්මානුකූලව තමන්ගෙ ශීලයෙ අඩුපාඩුකම් තිබෙනවා නම් ඒ එක එකක් ගැන සලකල, ආවර්ජනා කරල. ඒවා සකස් කරගන්න.

විශේෂයෙන්ම ජීවිකාව පිළිබඳ ප්‍රශ්නය මේ කාලයේ ගිහි පින්වතුන්ට ලොකු ගැටළුවක්. ලෝකය යන්නෙ භයානක අන්දමින් භෞතික දියුණුව සොයාගෙන. ධාර්මිකය ගැන නොතකා ආර්ථිකය ගැන පමණක් හිතන යුගයක් මේක. අන්තිම ප්‍රපාතයට ගිහිල්ලා වැටෙනකුරු දන්නෙ නෑ. ඒක නිසා ඉක්මණින් ධනය සපයා ගැනීම, උපයාගැනීම, සඳහා නොයෙකුත් විදියේ ආජීවයන්, මිථ්‍යා ආජීවයන්, පෙරමුණට එන යුගයක්. නුවණැති

බෞද්ධ පින්වතුන් කල්පනා කරන්ට ඕන බුදු පියාණන් වහන්සේ වදාළ ධර්මය මුල්තැන තබාගෙන, තමන්ගෙ ආජීවය ගැන. සමහරවිට එදිනෙදා ජීවිතයෙ අඩුපාඩුකම්, අගහිඟකම්. ඇතිවෙන්න පුලුවන්. ඉක්මණින් පොහොසත්වෙන්න බැරිවෙන්නත් පුලුවන්. නමුත් අර දැන් මේ අවස්ථාවෙ සමාදන් උනා වගෙ මිථ්‍යා ආජීවයෙන් වෙන්වීම කියල කියන ඒ උතුම් ගුණධර්මය වඩන්න විශේෂයෙන් උත්සාහවත් වෙන්ට ඕන. දැන් ඔය බුදුපියාණන්වහන්සෙ දක්වන දේවල් මේ කාලයේ කරන්ට බැරි දේවල් හැටියට සමහරවිට හිතන්න පුලුවන්. සතුන් මසට ඇති කිරීම්, මාංශ වෙළඳාම් ආදියෙන් වැළකී සිටීම, අවි ආයුධ වෙළඳාමෙන්, ඊළඟට වස විස වෙළඳාමෙන්, මත්පැන් වෙළඳාමෙන් ඔය විදියෙ දේවල්වලින් වෙන්වෙලා හිටියොත් අපට කරන්ට රස්සාවක් නැහැයි කියල හිතෙන තරමට. මේ විදියට සමාජය භයානක ප්‍රපාතයක් කරා යනවා. නමුත් තමන් කල්පනා කරන්ට ඕන. තමන් මේ දීර්ඝ සංසාරයේ තවදුරටත් දුක් විඳිනවද, මේකට යම්කිසි පරිත්‍යාගයක් කරල මෙයින් මිදෙන්ට උත්සාහ ගන්නවද, මේ විදියෙ මේ ක්ෂණ සම්පත්තියක් ලැබුනාහම, කියල ඒක නුවණින් කල්පනා කරල, සමාජය කොයි විදියට කිව්වත්, වෙන එකක් තබා තමන්ගෙ නිවසෙ අනිත් අය කොයි විදියට හිතුවත්, පැතුවත්, ජීවත්උනත්, තම තමන් - අපි උපන්නෙත් මැරෙන්නෙත් තනිවයි. ඒක නිසා, ඒ වගේම තමන්ගෙ කර්මයට තමන් වගකියන්න ඕන. බුදුපියාණන් වහන්සෙ වදාරල තියෙනවා.

"කම්මස්සකා මාණව සත්තා කම්ම දායාදා කම්මයොනී කම්මබන්ධූ කම්මපටිසරණා කම්මං සත්තෙ විභජති යදිදං හීනප්පණීතතාය" ආදී වශයෙන්. මේ කර්මය තමයි අපට අයිති. කර්මය තමයි අපේ දායාදය. කර්මය නිසාමයි අපි උපන්නෙ, කර්මය තමයි අපේ උත්පත්තියට හේතුඋනෙ. ඊළඟට අපේ ඥාතියත් කර්මයයි. කර්මය තමයි අපට පිළිසරණ වශයෙන් සිටින්නෙ. ඒක නිසා අප කරන කර්මයට අපි වගකියන්ට ඕන. ඒක නිසා අපේ ජීවන රටාව සකස් කර ගැනීම අපේ යුතුකමක්. අර කෙටි මාර්ග බොහෝවිට භයානකයි. කෙටි මාර්ග, ඉක්මන්වීම්, බොහෝවිට භයානකයි. ඒ විදියට ඉක්මණින් ධනය සපයා, උපයා ගැනීමට, ඉක්මණින් ගෙදරදොරේ තිබෙන ගැටළු විසඳා ගැනීමට, කියල අධර්ම මාර්ගය ගත්තොත් ඒ තැනැත්තාට කවදා හෝ ඒ නිසා දුක් විඳින්ට සිදු වෙනවා.

අන්න ඒක නිසා විශේෂයෙන්ම අර කියාපු ගණන් බලන අවස්ථාවෙ - නොනැසක ගණන් බලන අවස්ථාවක් හැටියට අරගෙන - පසුගිය අවුරුද්ද තුළ තමන්ගෙ අයවැය ගැන සළකල බලන්න ඕන. අයවැය කියල කියන කොට ලෞකික අර්ථයෙන් බලනව නම් ඉලක්කම් වලින් දකින්න පුළුවන්

අයවැයක්. ගැඹුරු අර්ථයෙන් බලනව නම් අයවැය කියල කියන්නෙ මොකක්ද, අය පක්ෂය තමයි පින්. වැය පක්ෂය තමයි පව්. අපෙන් සෙරිච්ච පව් මොනවාද? අකුසල් මොනවාද? අප විසින් කළයුතු, කළහැකි, කරන්ට උත්සාහ ගතයුතු, කුසල් මොනවාද? පින් මොනවාද? අන්න එහෙම සළකල බැලීමයි. දැන් ඒ විදියට තම තමන් පිළිබඳවත් 'ගනුදෙනුවක්' කරන්ට ඕන. දැන් මේ අවුරුදු උත්සවයෙම කොටසක් තමයි අසල්වාසීන් එක්ක අර හොඳහොඳ නෝක්කඩු ඉවත්කරල, ගනුදෙනු කරල, ඒ විදියට තමයි අලුත් අවුරුද්දක් අරඹන්නෙ. ඇතුළතින් කෙරෙන්න ඕන ගනුදෙනුවකුත් තිබෙනවා. තමන් මේ ලබාගත්තු ජීවිතයට, දුර්ලභ මනුෂ්‍යාත්මයට, අපි ණය නොවී ඉන්න ඕන. කීදෙනෙක් ලබාගත්තු මනුෂ්‍යාත්මභාවයට ණය වෙලා මිය යනවද? උත්පත්තිය ලැබුවෙ මනුෂ්‍යයෙක් හැටියට. නමුත් ජීවිතය ගත කරන්නෙ, ඒ වගේම මැරෙන්නෙ, හරියට මනුෂ්‍ය ප්‍රේතයෙක් හැටියට. මනුෂ්‍ය යක්ෂයෙක් හැටියට. අන්න ඒ විදියෙ තත්ත්වයකට යන්නෙ නැති ආකාරයට තමන්ගෙ ජීවිත රටාව සකස්කරගන්ට උත්සාහවත් වෙන්ට හොඳ අවස්ථාවක්. ඒක නිසා මේ පින්වතුන් තම තමන්ම ඒ ජීවිතයට අදාළ ජීවන රටාවට ළං වෙන්ට ඕන. එදිනෙදා ජීවිතයෙ බොහෝ දෙනා මේ කාලෙ කියනවා, දැන් හොඳ ජීවිතයක් ගැන කථාකරන අවස්ථාවෙ ඇතැම් කෙනෙක් කියනවා - ඒක එක්තරා විදියක මෝස්තරයක් බවට පත්වෙලා තිබෙනවා - "අපි පව් කරන්නේ නැහැ. අපි වරදක් කරන්නේ නැහැ". ඉතා පහසුවෙන් කියවෙන එකක්. නමුත් මේ වරදක් කරන්නෙ නෑ කියල කිව්වට එපමණකින් වැඩේ සම්පූර්ණ වෙන්නෙ නෑ. මේකෙ හොඳ පැත්තක් තිබෙනවා. කුසල් කරන්ට ඕන. හිත සකස් කර ගැනීම - සාමාන්‍ය ප්‍රතිපත්ති, ශීල ප්‍රතිපත්ති. ඒ සිල් සමාදන්වීම් ආදිය කිරීම පමණක් නොවෙයි. ඒවා ආවර්ජනා කරල. තමන්ගේ ජීවන රටාව ශීලයට අනුරූපව පවතිනවද කියල නිතර එදිනෙදා සළකල බලන්ට ඕන. ඊළඟට එතනින් නවතින්න නරකයි. මේ ශාසනයෙ ශීලය කියන එකේ නියම පරමාර්ථය සමාධියයි. භාවනාවයි. ශීලය මත සමාධිය ගොඩ නගන්නෙ නැතිව සිටිනවා නම් ඒකෙන් වැඩක් නෑ. එතකොට ශීලය අත්තිවාරමයි. පඤ්චශීලය හෝ ආජීව අෂ්ටමක ශීලය හෝ දශශීලය හෝ මේ පොහොය අටසිල් හෝ යම්කිසි ශීලයක් සමාදන්වෙන්නෙ ඒ ශීලයෙන් කාය වචනය හික්මවා ගෙන ඒ තුළින් හිත තැන්පත් කරගැනීමටයි. සමාධිමත් කරගැනීමටයි. අන්න ඒක නිසා ඒ ගැනත් උනන්දු වෙන්ට ඕන. මේ සමාධිය කියන එක. තැන්පත් බව. මේ සමාධියෙත්, මේකෙත් දෙපැත්තක් තියෙනවා, ශමථ විදර්ශනා වශයෙන්. සිත තැන්පත් කර ගන්නව යම්කිසි කුසල් අරමුණක. මෛත්‍රිය බුද්ධානුස්සතිය, අශුභය. එහෙම නැත්නම් මරණසතිය - ඔවැනි යම්කිසි කමටහනක් එදිනෙදා ජීවිතයෙ පුරුදු කරලා ඒ විවේක අවස්ථාවල්වල.

විශේෂයෙන්ම උදෑසන, රෑයේ නින්දට යන්ට පෙර, එහෙම නැත්නම් අනික් අය නිදාගත් අවස්ථාවේ හෝ, තමන්ට විවේකය කොහොමහරි ලබාගෙන එදිනෙදා දින චරියාවෙ කොටසක් හැටියට සුලු වේලාවක් - විනාඩි පහක් හෝ 10 ක් හෝ මෛත්‍රී භාවනාව ආදී යම්කිසි කමටහනක් වැඩීමෙන් තමන්ගෙ සිත පිරිසිදු වෙනවා වගේම සමාධිමත් වෙනවා. එයින් සිත තැන්පත් වෙනවා. ඊළඟට ඒ පමණකින් නවතින්න නරකයි. සමාධිය පමණක් වඩලා ඒ ඉහළ තත්ත්ව අභිඥා ආදිය ලබාගත්තු අය බුද්ධෝත්පාද කාලයේ පමණක් නොවෙයි අබුද්ධෝත්පාද කාලවල හිටත් හිටිය. නමුත් සසර දුක් කෙළවර කර ගන්න බෑ, එපමණකින්. ඒක නිසා බුදු පියාණන් වහන්සෙ දක්වනවා සමාධිය මත ඉඳල ඊළඟට විදර්ශනා වඩන්න ඕන. අන්න ඒ සඳහා තමයි ශීලයත් සමාධියත්. ශීල, සමාධි, ප්‍රඥා නමින් හඳුන්වන්නෙ ඒ විදර්ශනා ප්‍රඥාවයි. ඒක දියුණුකර ගැනීම සඳහාත් උත්සාහයක් දැරිය යුතුව තිබෙනවා.

ගිහි ගෙවල්වල ඉඳගෙන අපි මේවා කරන්නෙ කොහොමද කියල හිතන්න නරකයි. අතීතයේ බුද්ධකාලයේත් ඊට මෑතත් - දැන් මේ කිව්ව කුඩා දරුවන් සෝවාන්ඵලය ප්‍රත්‍යක්ෂ කර ගත්තයි කියල කියන්නෙ. සමාධිය පමණක් නොවෙයි මේක තුළ තියෙනවා විදර්ශනා ඥාන. මේක ඉතා සියුම් දෙයක්. දීර්ඝ කාලයක් සංසාරයේ යම් යම් අවස්ථාවල්වල අපි කොතෙකුත් භාවනා වඩන්න ඇති. ඒවා අපේ හිත්වල තැන්පත් වෙලා තිබෙනවා. විඥානයේ තැන්පත් වෙලා තිබෙනවා. ඒක ධන නිධානයක් වගේ. නමුත් අපි දන්නෙ නෑ මේක. දැන් රත්තරන් පිඟානක් උනත්, අපේ ගෙදරවල්වල ඔය අගුවෙ කුස්සියෙ තියෙනවා නම් අපිට අඳුනගන්න බෑ. අල්පෙනෙත්තකින් හරි ඉරක් ඇඳල බැලුවහමයි මේක අඳුනගන්න පුලුවන් වෙන්නෙ. අන්න ඒ වගේ අපේ චිත්ත සන්තානයේ ඇතුළෙ ඇති - කොටින්ම මනුෂ්‍ය ආත්මභාවයක් ලබල තියෙන්නෙ යම්කිසි විශේෂ පුණ්‍ය ශක්තියකින්. ඒ තුළ තිබෙන්ට පුලුවන් අතීතයේ බණ භාවනා වඩපු ඒ ශක්තීන්. ඒවා සැඟවිල තිබෙනවා. ගිහි හෝ වේවා පැවිදි හෝ වේවා, ඒවා මතුකර ගැනීම සඳහා අන්න විදර්ශනා භාවනාවක් අරඹන්ට ඕන. ඊට නිසි ඒ කර්මස්ථානාචාර්යවරුන් හමුවෙලා. කල්‍යාණ මිත්‍රයින්ගේ පිහිටෙන් විදර්ශනා භාවනාවට හිත යොමුකරන්ට ඕන, අනිත්‍ය - දුඃඛ - අනාත්ම වශයෙන්. එදිනෙදා ජීවිතයේ තමන්ගෙ මේ ජීවන රටාව තුළ හමුවෙන හැම දෙයක්ම මේ ධර්මයට සාධක කරගන්ට ඕන. නිදර්ශන කර ගන්න ඕන. ඒ තුළින් දකින්ට පුරුදුවෙන්ට ඕන. මේ බුදුපියාණන් වහන්සෙ වදාළ ත්‍රිලක්ෂණය. ඒක සිතට හුරු කරගත්තහමයි යම්කිසි අවස්ථාවක අර විදියට ඉතාමත් ක්ෂණිකව පවා, මාර්ගඵල ප්‍රතිවේධ කරගන්න පුලුවන් වෙන්නෙ. අතීතයේ කථාන්තරයක් තියෙනවා එක්තරා රජකුමරියක් ඒ තමන් ගිය වැසිකිළියක හිටිය පණුවන් දැකල පුළුවක සංඥාව ඇතිකරගත්ත. ඒ අවස්ථාවෙ, කොහොත්

මැරුණට පස්සෙ මේකෙ පණුවෝ දාන හැටි. අර පොඩි සිකිවිල්ල උපකාරී උනා රහත්වීමට පවා. අන්න ඒ වගේ අපි එදිනෙදා ජීවිතයේ මග තොටේදී දකින්නට ලැබෙන දේවල්, කියවන පුවත්පත් ආදියෙන්, අසන්ට ලැබෙන ප්‍රවෘත්ති ආදියෙන්, අපේ සිත් කළඹගන්නෙ නැතිව, කිලිටි කරගන්නෙ නැතිව - රාග - ද්වේෂ - මෝහ ආදියෙන්, ඒ වෙනුවට කරන්ට ඕන, මේව තුළින් දකින්නට ඕන බුදු පියාණන්වහන්සෙ වදාළ අනිත්‍ය දුඃඛ අනාත්ම කියන ත්‍රිලක්ෂණය. අන්න ඒ විදියෙ අමුතු දර්ශනයක් ඒ විදර්ශනාව. දැන් මේ කාලේ ඇතැම් කෙනෙක් කියන්න පුලුවන්, අතීතයේ කෙසේ වෙතත්. අතීතයේ අපේ පැරණි සිංහලයන්ගේ ජීවන රටාව කෙසේ වෙතත්, මෙකල ඒව කරන්න බෑ කියල. අතීතයේ නම් ඒ අපේ අතීත මව්වරු - ධර්මයේ සදහන් වෙනවා, පොත පතේ සදහන් වෙනවා - වී කොටනකොට පවා වී ඇටයක පොත්ත තිකං ගැලවෙන්න අරින්නේ නෑ ඒකත් භාවනාවට නගනවා. අනිත්‍යතාව, අන්න ඒ වගේ. දැන් මේ පින්වතුන්ටත් කොයි කොයි අන්දමේ ප්‍රබෝපභෝගී භාණ්ඩ ලෝකයේ බිහිවෙල තිබෙන නමුත්, ඒවා තුළිනුත් අනිත්‍යතාව දකින්ට ඕන. මේ අද විසිත්ත කාමරයේ තිබෙන එක ඊළඟ දවසෙ කුස්සියෙ නේද? ඊළඟ දවසෙ අන්තිමට ඒක කුණු ගොඩේ නේද? ඒ හැම දෙයක්ම - මේ නවීන, ලුකන, ලස්සන කියල ගන්න හැම දෙයක්ම - විනාශය කරා විනාශ මුඛය කරා, යන හැටි. ඊළඟට නව නොයෙකුත් මේ සාන්තමාත්‍ර නොයෙකුත් විලාසිතාවන් සහිත මහා ඉහළින් වැජඹෙන නිලකල සහිත හැම දෙනාටම යන කලදසාව - එකපැයෙන් එක මොහොතින් විනාශවෙලා යන ආකාරය - මේවා තුළින් දකින්ට ඕන බුදු පියාණන් වහන්සෙ වදාළ ත්‍රිලක්ෂණය. මේ එකක්වත් අමුතු දේවල් නොවෙයි. මේ එකක්වත් අමුතු නෑ. අපි සාමාන්‍යයෙන් ව්‍යවහාර කරනවා 'මේක හදිසි අනතුරක්' කියල. හදිසි අනතුරු කියල ජාතියක් තියෙනවා කියල. නමුත් ඇත්ත වශයෙන් ස්වභාවධර්මයෙ හදිසි අනතුරු නෑ. අපි හිතමු ගමන්කරන වාහනයක රෝද ගැලවුනා හදිසියෙ. එහෙම නැත්නම් මොකක්හරි ඒ විදියෙ දෙයක් සිදුවෙල මය අනතුරක් කියන දෙයක් සිදුඋනා. මේක ඒ වෙලාවෙ විතරක් උනා නෙවෙයි. මේක හෙමි හෙමිහිට බුරුල්වෙව් තිබිලයි ගැලවුනේ. ඒක අපි නොදැක්ක නිසා අපි ඒකට හදිසි අනතුර කියල කියනවා. අන්න ඒ වගේ තමයි. අපේ මේ හදිසි අනතුරේ ඒ එක පැත්තක්. අපට සිදුවන සිදුවීම්, අපට වෙන ආපදා - මේවා යට තිබෙනවා කර්මය. අර කර්මවාදය. එකක්වත් හදිසි අනතුරු නොවෙයි. බුදු පියාණන් වහන්සේලා, අභිධර්මලාභීන්, මේව දැකල පොඩි මදසිනාවක් පහළකරනවා. මොකද? 'මං දැක්ක මේක වෙන බව - වළක්වන්න බෑ, හැබැයි'. ඒක නිසයි ඒ මද සිනහවක් පහළ කරන්නෙ. දැන් කුඩා දරුවෙක් - නැගිටින්න උත්සාහ කරන කුඩා දරුවෙක් දිහා බලන් ඉන්න මවු කෙනෙක්. කොහොම හරි මෙයා නැගිටින්නත් ඕන නෙ. වැටෙන වැටෙන වාරයක්

පාසා පොඩි හිනාවක් දානවා නේ? අන්න ඒ වගේ තමයි බුදුපියාණන් වහන්සේලා මේ ලෝකයේ මනුෂ්‍යයින් මේ හදිසි අනතුරු කියන ජාතිවලින් විනාශවෙලා යනව දැකල කම්පා වෙනකොට හිතනව "අනේ මේක දැක්කෙ නෑ නෙ මේ අය. මේකට හේතුව මීට කල්ප ගණන් ඈත කරපු යම්කිසි අකුසලයක්. එහි විපාකයයි මේ විඳින්නේ". එතකොට අන්න ඒ විදියෙ තත්ත්වයක් මේ ලෝකයෙ තිබෙන්නෙ. ඇත්ත වශයෙන්ම ස්වභාව ධර්මයෙ හදිසි අනතුරු නෑ. ඒවා ස්වාභාවික සිද්ධි. ස්වාභාවික කියල කියන එකට එකතු කරන්න ඕන - ලෝකයේ සාමාන්‍ය අජීවි එහෙම නැත්නම් ජීවයක් නැති දේවල් පිළිබඳව තියෙන ටික විතරයි අපි බොහෝවිට ස්වාභාවික කියල කියන්නෙ - නමුත් මේ කර්මචක්‍රයත් ඊට අයිතියි. කර්මයත් විපාකයත්. හරියට අර දැන් පින්පව් ගැන කියන කොට අපි කිව්වනේ ගොවිතැන් කිරීම ගැන. ඒ වගේම බුදුපියාණන් වහන්සෙ වදාරල තියෙනවා.

"යාදිසං වපතෙ බීජං - තාදිසං හරතෙ ඵලං
කල්‍යාණකාරී කල්‍යාණං - පාපකාරී ච පාපකං"

යම් යම් ආකාරයකට වපුරනව නම් ඒ ඒ ආකාරයට එහි අස්වැන්න නෙළාගන්න ලැබෙනවා. හොඳ කරන තැනැත්තා, කුසල් කරන තැනැත්තා, ඒ හොඳ විපාක ලබනවා. පව් කරන තැනැත්තා දුක්ඛ විපාක ලබනවා. ඔන්න ඔය විදියෙ තත්ත්වයක් නිසා අපි එතකොට මේ ඉදිරියට එන නොනැකත කාලය නියම පුණ්‍යකාලයක් හැටියට තමන්ගෙ ජීවිතය පිළිබඳව විශේෂ සමාලෝචනයක් කරල, පුනරීක්ෂණයක්, පුනරාලෝකනයක්, කරල, ඒ තුළින් ඉගෙනගත්තු යම් යම් දේවල් අනුව ඊළඟ අලුත් අවුරුද්ද හොඳ ජීවන රටාවකින් යුක්තව, හොඳ කාල සටහනකින් යුක්තව, ආරම්භ කරන්ට අධිෂ්ඨාන කරගන්ට ඕන - අද වැනි මේ වටිනා පෝය දවසක.

මේ අවුරුද්දත් පෝයත් එකට ආවෙ මේක තුළින් අපේ ධර්මානුකූල ජීවිතය හැඩගස්සවා ගැනීමට අවස්ථාවක් කියල සළකාගෙන මේ පින්වතුන් අද දින පැයක් ඇතුළත ධර්මශ්‍රවණය කිරීම තුළිනුත් තමන්ගෙ සිතේ ඇතිවුනු පිරිසිදු කම ගැන හිතල බලන්ට ඕන. ආජීව අෂ්ටමක ශීලය හෝ ඊට වඩා උසස් පෝය අටසිල් වලින් හෝ යුක්තව මේ පින්වතුන් ධර්ම ශ්‍රවණය කරල කය වචනය හික්මවාගෙන, තුනුරුවන් කෙරේ හොඳ ශ්‍රද්ධාව ඇතිකරගෙන ඒ ශ්‍රද්ධාව අනුව ඇතිකරගත්තු යම්කිසි වීර්යයක් මුල්කරගෙනයි මේ අවස්ථාවේ මේ විදියට බිම ඉඳගෙන ධර්ම ශ්‍රවණය කළෙ, හිත යොදාගෙන නව නොයෙකුත් බාධක කරදර මධ්‍යයේ. ඒ වීර්යය අනුව යෙදූ සතිය, සිහිය, මේ ධර්ම ශ්‍රවණය

කිරීම සඳහා වචනයක් පාසා ඊට සවන් දීම සඳහා යෙදූ සතිය, සිහිය, ඊළඟට ඒ තුළින් යම්කිසි තැන්පත් බවක් සිතේ ඇතිඋනා නම් ඒ ශ්‍රද්ධාදී ගුණධර්ම වගේම සිත යොදාගැනීම නිසා ධම්මානුපස්සී වශයෙන් හෝ - ඒක සමාධිය හැටියටයි සළකන්න පුලුවන්. අන්න ඒ විදියට සද්ධා, විරිය, සති. සමාධි, පඤ්ඤා කියල කියන නිවනට උපකාර වන්නාවූ ඒ ඉන්ද්‍රිය බල ආදිය දියුණුකරගැනීමේ මූලික අභ්‍යාසයක් මේ ධර්මශ්‍රවණය තුළින් සිදුඋනා. ඒක තුළින්මයි මේ පින්වතුන්ට යම්කිසි දවසක නිර්වාණ ධර්මය ප්‍රත්‍යක්ෂ කරගන්ට පුලුවන් වන්නෙ. අන්න ඒ උතුම් නිර්වාණධර්මය කල්නොයාදීම මේ ජීවිතයේදීම, මේ උතුම් බුද්ධෝත්පාද කාලයේ ලබාපු මනුෂ්‍යාත්මභාවය තුළදීම, ප්‍රත්‍යක්ෂ කරගන්ට ශක්තිය බලය ලැබේවා කියල ප්‍රාර්ථනා කරගන්ට ඕන. ඒ වගේම, අපි මේ ධර්ම ශ්‍රවණමය වශයෙන් ධර්ම දේශනාමය වශයෙන් රැස්කරගත්තු යම් කුශල සම්භාරයක් ඇතොත් ඒ සියල්ල ශාසනාරක්ෂක දෙවිදේවතාවුන් වහන්සේලා - දිව්‍ය බ්‍රහ්ම මණ්ඩලය - අනුමෝදන් වෙත්වා. ඉදිරියටත් ශාසනයටත් අපටත් ආරක්ෂාව සළසා දෙමින් තමන්ගේ ප්‍රාර්ථනීය බෝධියකින් උතුම් අමාමහ නිවන් සාක්ෂාත් කර ගනිත්වා කියල දෙවියන්ටත් පින් අනුමෝදන් කළයුතුව තිබෙනවා. ඒ වගේම අපගේ මිය පරලොව ගිය ඥාතීන් ඇතුලු අවීචියේ පටන් අකනිට්ඨා දක්වා වූ යම්තාක් සත්ත්ව කොට්ඨාශයක් මෙබඳු මේ ධර්මදේශනාමය ධර්ම ශ්‍රවණමය කුසල් අනුමෝදන් වන්ට බලාපොරොත්තු වෙනවා නම් මේ පින් අනුමෝදන් වීමෙන් දුගති සත්ත්වවලින් අත්මිදී සුගති සත්ත්වවලට පත්වී කළ්‍යාණමිත්‍ර ආශ්‍රය ලබාගෙන, භාවනාදී සියලු කුසල් ධර්ම සම්පූර්ණ කරගෙන උතුම් අමාමහ නිවනින් සැනසෙත්වා කියන ප්‍රාර්ථනාවක් කරන්ට ඕන. ඒ විදියට හිතාගෙන මේ අවස්ථාවේ මේ ගාථා කියල පින් දෙන්න.

"එත්තාවතා ච අම්හෙහි.........."

# වෙනත් කෘති

1. Concept and Reality in Early Buddhist Thought -(1971)*
2. Samyutta Nikaya - AnAnthology, Part II - Wheel No, 183/185 -(1972)*
3. Ideal Solitude - Wheel No, 188 - (1973)*
4. The Magic of the Mind - (1974)*
5. උත්තරීතර හුද෦කලාව -'දම්සක්' අංක 172/173 - (1990)*
   -එම- (නව මුද්‍රණය), ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය (2001)
6. Towards Calm and Insight - (1991)
7. විදසුන් උපදෙස් - (1996)
8. නිවනේ නිවීම - (1997 -.......)
   -ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය, මහා භාරකාර දෙපාර්තමේන්තුව
   (වෙළුම් 9 ක් මේ දක්වා නිකුත්වී ඇත. සම්පූර්ණ පොත වෙළුම් 11 කි.)
9. From Topsy - turvydom to Wisdom -Volume 1 - (1998)
   (Essays written for 'Beyond the Net, - A website on the Internet
   - Website address http:// www.beyond thenet.net)
10. පහන් කණුව ධර්ම දේශනා - 1- වෙළුම - (1999)
11. Seeing Through - (1999)
12. හිතක මහිම - 1 - (1999)
13. නිවනේ නිවීම - ප්‍රථමභාගය - (1-6 වෙළුම්) - පුස්තකාල මුද්‍රණය(2000)
14. හිත තැනීම - (2000)
15. පහන් කණුව ධර්ම දේශනා - 2 වෙළුම - (2000)
16. Towards A Better World -Translation of 'Lo-wada-Sangarava' - (2000)
17. පැවැත්ම හා නැවැත්ම - (2000)
18. ඇති හැටි දැක්ම - (2001)
19. පහන් කණුව ධර්ම දේශනා - 3 වෙළුම - (2001)
20. දිවි කතරේ සැඳෑ අඳුර - (2001)
21. කය අනුව ගිය සිහිය - (2001)

* Buddhist Publication Society, P.O. Box, 61, Kandy
බෞද්ධ ග්‍රන්ථ ප්‍රකාශන සමිතිය, තැ.පෙ. 61, මහනුවර